අලෙක්සෙයි
තොල්ස්තොයි

# රත්රන් යතුර
හෙවත්
# බුරතීනොගේ හපන්කම්



අලෙක්සෙයි
තොල්ස්තොයි



# රත්රන් යතුර
හෙවත්
# බුරතිනොගේ හපන්කම්





චිත්‍ර - අ. කනෙව්ස්කි



අලෙක්සෙයි තෝල්ස්තෝයි

# රත්රන් යතුර
හෙවත්
# බුරතීනොගේ හපන්කම්

ISBN 978-955-1319-64-9

චිත්‍ර
අ. කනෙව්ස්කි

අනුවාදය
දැදිගම වී. රුද්රිගු

නව පරිගණක සකැසුම
මාලක ලලනජීව

මුද්‍රණය




ප්‍රකාශනය



**සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්.) සමාගම**
91, ආචාර්ය එන්.ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

නව මුද්‍රණය 2018

මේ පොත ලුද්මිලා ඉලීනිෂ්නා
තොල්ස්තායාට උපහාරයකි

## හැඳින්වීම

මා පුංචි කාලේදී - බොහොම ඉස්සර කාලෙ මම එක පොතක් කියෙව්වා. ඒ පොතේ නම "පිනෝකියෝ හෙවත් ලී බෝනික්කාගේ සංචාරය"(ඉතාලි භාෂාවෙන් ලී බෝනික්කාට කියන්නේ බුරතීනො කියල).

මා කුඩා කාලෙදී මගේ යාළුවන්ට බුරතීනොගෙ හපන්කම් ගැන නොයෙකුත් කතා කිව්වා. මගේ පොත මා අතින් නැති වුණු නිසා ඒ කතා මම නොයෙක් නොයෙක් ලෙස කිව්වා. සමහර දේ පොතෙහි නැති වුණත් මම සිතින් සිතලා කිව්වා.

දැන් ඉතින් අවුරුදු බොහෝ ගණනක් ගෙවුණාට පස්සේ පුංචි ළමයින්ට මගේ පැරණි මිතුරා ගැනත්, එයාගෙ හපන්කම් ගැනත් ලියන්ට කල්පනා කළා. මේ පොත මා අතින් ලියැවුණේ ඔය විදිහටයි.

අලෙක්සෙයි
තෝල්ස්තෝයි

# පටුන



## ජුසෙප්පෙ වඩු රාළ සහ කතා කරන ලී කොටය

ඔන්න ඉස්සර කාලේ මධ්‍ය ධරණී මුහුදේ වෙරළ බඩ රටක එක වඩු රාළ කෙනෙක් හිටියා. එයාගෙ නම ජුසෙප්පෙ. එයාගෙ නහය දම්පාට නිසා මිනිස්සු එයාට දං හොටයා කියල නම් කළා.

දවසක් දා වඩු රාළගෙ අතට අහුවුණා ලී කොටයක්, සීත කාලෙට ගිනි තපින්ට දරට ගන්න ලී කොටයක්.

"ලී කෑල්ල නරක නැහැ. කැඩිච්ච මේස කකුලක් වෙනුවට වුණත් පාවිච්චි කළ හැකියි..." ජුසෙප්පෙ වඩු රාළ තමාටම කියා ගත්තා.

ජුසෙප්පෙ එයාගෙ කණ්ණාඩි කුට්ටම ඇහේ ලා ගෙන ලී කෑල්ල දිහා හොඳට බැලුවා. එයාගෙ ඇස් කණ්ණාඩි කුට්ටමත් පරණයි. එයා ඒක බැඳලා තිබුණෙ ලනු පොටකින්.

ඔහු ලී කෑල්ල දිහා ආයෙමත් බලා ලා පුංචි පොරොවක් අරගෙන එය අහින්න පටන් ගත්තා විතරයි, කාගේදෝ අරුම-පුදුම සිහින් කට හඬක් ඇහුණා:

"අනේ, අනේ, කරුණා කරල හෙමින් අහින්න!"

ජුසෙප්පෙ කණ්ණාඩි කුට්ටම නහයට දමා ගෙන වඩු මඩුව වටේට බැලුවා. ඇහැට පේන්න කිසි කෙනෙක් හිටියේ නැහැ.

වඩු බංකුව යට බැලුව, කවුරුවත් නැහැ.

යතු ගාලා ලී පොතු වීසි කරන කූඩය දිහා බැලුවා. කිසි කෙනෙක් පේන්න නැහැ.

වඩු මඩුවේ දොර හැරලා මිදුල දිහා බැලුවා. කිසි කෙනෙක් පේන්න නැහැ.

"හරිම පුදුමයක් නේද? සිහින් හඬින් කෑ ගැසුවේ කවුද?..." ජුසෙප්පෙ කල්පනා කළා.

ඔහු ආයෙමත් පොරොව අතට අරගෙන ලී කෑල්ල අහින්න පටන් ගත්තා විතරයි...

"අනේ, අනේ, මම කිව්වා නේද මට රිදෙනව කියල!" ආයෙමත් සිහින් හඬකින් කවුදෝ කතා කළා.

ඒ පාර නම් ජුසෙප්පෙ හැබෑටම බිය වුණා. එයාගෙ කණ්ණාඩි කුට්ටමෙනුත් දහඩිය පිට වුණා. ඔහු ආයෙමත් වඩු මඩුව හැම තැනම බැලුවා. ලිප ඇතුළෙත් බැලුවා. දුම් බටය ඇතුළෙත් බැලුවා.

"නැහැ. ඇහැට පේන්න කිසිවෙක් හිටියේ නැහැ."

"සමහර විට මම නරක බීමක් එහෙම බිව්වද, මගේ කන් ඇතුළෙ ගෝසාවක් හැදිලා වෙන්න ඕන..." ජුසෙප්පෙ කල්පනා කරන්න පටන් ගත්තා.

නැහැ. අද ජුසෙප්පෙ නරක බීම වර්ගයක් බීලා නැත... වඩුරාළ තරමක් සන්සුන් වෙලා යතු කැටය අතට අරගෙන මිටියෙන් යතු පිහි තලයට තට්ටු කළා. එහෙම කළේ යතු ගාන කොට පිහි තලය අඩු වැඩි නොවී නියම ගානට තියෙන්ට ඕන හන්දා. ලී කොටය වඩු බංකුව උඩ තියලා එක වරක් යතු ගෑවා විතරයි...

"අනේ, අනේ, මට මේ මොනවා කරනවද? මාව හූරන්නේ මොකටද?" වේදනාවෙන් කෑ ගසන හීන් කට හඬක් ඇසුණා.

එවිටම වාගේ ජුසෙප්පෙ වඩුරාළ අතින් යතු කැටය බිම වැටුණා. ඔහු පස්සෙන් පස්සට ගිය හන්දා බිම වැටිලා ඉන්දෙ වුණා. ලී කොටය කතා කරන බව ජුසෙප්පෙ දැන ගත්තේ එවිටයි.

# ජුසෙප්පෙ කතා කරන ලී කොටය තම මිතුරු කාර්ලොට තෑගි කරයි

මේ වේලාවේදී ජුසෙප්පෙගේ පරණ මිතුරෙක් වන කාර්ලො ආවා. එයා සංගීත පෙට්ටිය කරකවලා හිඟා කාපු කෙනෙක්.

ඉස්සර කාර්ලො පළල් වාටියක් ඇති තොප්පියක් හිස ලා ගෙන සංගීත පෙට්ටිය කරකවා නගර ගම් ගානේ හිඟා කමින් ගියා. එදා වේල කොහොම හරි පිරිමහ ගත්තා.

දැන් කාර්ලො මහලුයි, අසනීප වෙලා. එයාගෙ සංගීත පෙට්ටියත් කැඩිලා.

"ආයුබෝවන් ජුසෙප්පෙ, මොකද මේ පොළවෙ වාඩි වෙලා ඉන්නේ?" වඩු මඩුවට ඇතුළු වෙමින් කාර්ලො ඇහුවා.

"මම මේ ඉස්කුරුප්පු ඇණයක් හොයනවා. දැන් ඉතින් කමක් නැහැ!" ජුසෙප්පෙ ලී කොටය දෙසට වාරුවුණා. "ඉතින් යාළුවා ඔයාගෙ ජීවිතය කොහොමද?" ජුසෙප්පෙ ඇහුවා.

"අමාරුවෙන්. එදා වේල හොයා ගන්නෙ කොහොමද කියලා කල්පනා කරනවා. යාළුවා ඔයාට බැරිද මට උපදෙසක් දෙන්න."

"අපොයි, පුළුවනි." මෙහෙම කියන ගමන් ජුසෙප්පෙ කල්පනා කරන්ට ගත්තා: "මම දැන් කතා කරන ලී කොටයෙන් ගැළ වෙන්නම්". -"කාර්ලො, අන්න මගේ වඩු බංකුව උඩ හොඳ ලී කොටයක් තියෙනවා. ඒක අරගන්න, ගෙදර ගෙනියන්න."

"ඉතින් ඊට පස්සෙ මොනවද? මම ලී කොටය ගෙදර ගෙනිච්චත්, මගේ ලිප පවා පත්තු කරලා නැහැ නොවැ," කාර්ලො කිව්වා.

"යාළුවා, මම ඔයාට හොඳ උපදෙසක් දෙනවා. ඔය ලී කොටයෙන් බෝනික්කෙක් හදා ගන්න. ඒ බෝනික්කට විහිලු කතා කියන හැටි, සින්දු කියන හැටි, නටන හැටි උගන්වන්ට, බෝනික්කාව ගෙවල් ගානෙ ගෙනිච්චම කාර්ලොට එදා වේල විතරක් නොවෙයි, වයින් වීදුරුවක් බොන්නත් මුදල් හොයාගන්ට පුළුවනි."

එතකොට වඩු බංකුව උඩ තිබුණ ලී කොටය කතා කළා:

"හරි අගෙයි බොහොම හොඳ අදහස, දං හොටයා!"

ජුසෙප්පෙ ආයෙමත් බියෙන් වෙව්ලන්ට වුණා. කාර්ලො පුදුම වෙලා වට පිට බැලුවා. කට හඬ කොහෙ ඉඳලද?

"ජුසෙප්පෙ බොහොම ස්තුතියි. ඔබේ උපදෙස බොහොම හොඳයි. මට ඔය ලී කොටය දෙන්න." එවිට ජුසෙප්පෙ ඉක්මණින්ම ලී කොටය අරගෙන කාර්ලොට දුන්නා. ලී කොටය කාර්ලොගේ අතට බාර දෙන විට වැරදීමකින් එය ඔහුගේ හිසට වැදුනා.

"ඔන්න නුඹේ තැගිවල හැටි!" අමනාප වූ කාර්ලො කිව්වා.

"මට සමාවෙන්න. යාළුවා. මම නොවෙයි ගැහැව්වෙ."

"එහෙනම් මම මගේම ඔළුවට ගහ ගත්තද?"

"නැහැ, යාළුවා. ඔය වැඩේ කළේ ලී කොටය තමා."

"බොරු. ගැහැව්වේ නුඹ..."

"මම නොවෙයි..."

"මම දන්නවා, නුඹ බේබද්දා, දං හොටයා. ඒ විතරක් නොවෙයි, බොරු කාරයා."

"ආඃ නුඹ බණිනවද! මෙහාට වරෙන්!" ජුසෙප්පෙ කිව්වා.

"නුඹ මා ළඟට වරෙන්. මම නුඹේ නහය අල්ලා ගන්නම්!"

මහල්ලෝ දෙදෙන පොරකා ගන්න පටන් ගත්තා. කාර්ලො ජුසෙප්පෙගේ දං පාට නහය අල්ලා ගත්තා. ජුසෙප්පෙ කාර්ලොගේ පැහුණු කෙස් වැටිය අල්ලා ගත්තා. ගහ ගන්ටයි, ඉළ ඇටවලට අනින්ටයි පටන් ගත්තා. වඩු බංකුව උඩ තිබුණු ලී කොටය මේ වේලාවේදී සිහින් හඬින් කෑ ගැහුවා. උසිගන්වමින් මෙහෙම කිව්වා.

"ගහපිය, ඇනපිය, හොඳට ගහපිය!"

අන්තිමේදී මහල්ලන්ට මහන්සි වෙලා ඒ ගොල්ල හති දමන්නට වුණා.

" දැන් ඉතින් අපි සමාදාන වෙමු..." ජුසෙප්පෙ කිව්ව.

"හොඳයි සමාදාන වෙමු!" කාර්ලො එකඟ වුණා.

මහල්ලෝ දෙදෙනා සිප ගත්තා. කාර්ලො ලී කොටය කිහිලි ගන්නා ගෙන ගෙදර ගියා.

## කාර්ලො ලී බොනික්කෙකු සාදයි. බෝනික්කාගේ නම බුරතීනො

කාර්ලො පදිංචි වෙලා හිටියෙ පඩිපෙළ යට බොහොම පුංචි කුටියක. මෙහි තිබුණේ ගිනි තපින ලස්සන ලිපක් විතරයි.

ඒ වුණාට ඒ ලිපත්, ගිනි දලුත්, හට්ටියකුයි හැබෑ ඒවා නොවෙයි. ඒවා තිරයක ඇඳපු පින්තූරයක් විතරයි.

කාර්ලො එයාගේ කුටියේ තිබුණු එකම පුටුවේ වාඩි වෙලා, එක කකුලක් නැති මේසය මත ලී කොටය තියලා, එය ඒ අත, මේ අත පෙරළා හොඳට බැලුවා. ඊට පස්සෙ ලී කොටෙන් බොනික්කකු හදන්ට පටන් ගත්තා.

" මේ බෝනික්කට තියන නම මොකක්ද?" කාර්ලො කල්පනා කළා. "මම මූට බුරතීනො කියලා නම් කරනවා. ඒ නම නිසා මට වාසනාව ලැබේවි.

බුරතිනො පවුලක් ගැන මම දන්නවා. බුරතීනො තාත්තා, බුරතීනො අම්මා, බුරතීනො ළමයි... ඒ ගොල්ල බොහොම වාසනාවෙන් කල් ගෙව්වා. ඒ ගොල්ලන්ට අග හිඟ කමක් තිබුණේ නැහැ..."

ඉස්සෙල්ලාම කාර්ලො ලී කොටයේ ඔළුවයි, හිස කෙසුයි හැදුවා, ඊට පස්සේ නළලයි, ඇස් දෙකයි හැදුවා.

ඔන්න ඒ පාර ඇස් දෙකම ඉබේටම ඇරිලා කාර්ලො දිහා බලන්ට පටන් ගත්තා.

කාර්ලො බය වුණු බව පෙන්නුවේ නැතුව හුරතල් බසින් මෙහෙම ඇසුවා:

"ලී ඇස් දෙක, මොකද මා දිහා අපූරු විදිහට බලන්නේ?"

ඒ වුණාට බෝනික්කා කතා කළේ නැහැ. සමහර විට එයාට තවම කටක් නැති නිසා වෙන්ට පුළුවනි. කාර්ලො බෝනික්කාගේ කම්මුල් දෙකට හැඩ-වැඩ දාලා නහයක් හැදුවා. සාමාන්‍ය නහයක්...

ඔන්න හිටි හැටියේම නහය ඉබේටම දිගු වෙන්ට පටන් ගත්තා. නහය දිගට දිගේ උලට උලේ උල් වෙලා. ඒ නහය කාර්ලොගේ හිතට ඇල්លුවේ නැහැ.

"නහය දිගයි, හොඳ නැහැ..."

කාර්ලො නහයේ දිගු තුඩ පිහියෙන් කැපුවා. එතකොට මහ පුදුම දෙයක් නොවැ සිදු වුණේ...

නහය ඉබේටම නැටවිලා, නැටවිලා තවත් දිගට වැඩිලා, හොඳටම උල් වුණා.

කාර්ලො බෝනික්කාගේ කට හැදුවා. කටේ දෙතොල් හදාපු හැටියේම කට ඇරිලා හඬක් ඇසුණා:

"හා-හා-හා, හී-හී-හී!"

කට ඇරලා හීන් රතු පාට දිව දිගු කරලා බෝනික්කා කාර්ලොට සමච්චල් කළා.

කාර්ලො ඒ ගැන කිසිම සැලකිල්ලක් නොකර දිගටම බෝනික්කාගේ අත්, පා, කඳ, බෙල්ල, පපුව, බඩ, පිට ආදිය හැදුවා.

කාර්ලො බෝනික්කාගේ අත්වල ඇඟිලි හදලා ඉවර වුණ හැටියේම, හැබෑ දඟකාරයකු වගේ බෝනික්කා කාර්ලොගේ තට්ට හිසට ටොකු අනින්ටයි, ඇඟ කොනිත්තන්ටයි, කිති කවන්ටයි පටන් ගත්තා.

"මේ අහපන්, බෝනික්කා, මම නුඹව තවම හදලා ඉවර වුණෙත් නැහැ. නමුත් නුඹ දැනටමත් දඟ කරන්ට පටන් අරගෙන. මීට පස්සෙ නුඹ මොනවා කරන්ටද යන්නේ?"

කාර්ලො, බුරතීනො දිහා ඔරවලා බැලුවා. එතකොට බුරතීනොගෙ ඇස් වටකුරු වුණා. මී පැටියකු වගේ බය වෙලා බුරතීනො බිම බලා ගත්තා.

කාර්ලො ලුචිනා කෝටු දෙකකින් බුරතීනොට දිග කකුල් දෙකක් හදලා ලොකු යටිපතුල් සවි කළා. දැන් ඉතින් බෝනික්කා හදලා ඉවරයි. බෝනික්කාට ඇවිදින්ට උගන්වන්ට ඕන නිසා එයාව ගෙබිම හිටෙව්වා.

බුරතීනො සිහින් කකුල්වලින් හිට ගෙන වැනිලා, වැනිලා, අඩියෙන් අඩිය තැබුවා. පැන, පැන දොර ළඟට ගියා, දොරින් එළිපත්තට ගියා, ඔන්න ඊට පස්සෙ මහ පාරට දිව්වා.

කාර්ලො කලබල වෙලා බුරතීනොගෙ පසු පසින් දිව්වා.

"එයි, දඟකාරයා, නැවතියන්!"

මොන නැවතිල්ලක්ද! බුරතීනො හාවකු වගේ මහ පාර දිගේ දුවන්නට පටන් ගත්තා. එයාගේ ලී යටි පතුල් පොළවේ වැදෙන විට ටක්, ටක් ගාලා හඬක් පිටවුණා.

"බෝනික්කාව අල්ලා පල්ලා!" කාර්ලො කෑ ගහලා දුවන්ට පටන් ගත්තා. මහ පාරේ යන එන මිනිස්සු දුවන බුරතීනොව දැකලා හිනා වුණා. හතර මං හන්දියේ හිටිය පොලිස්කාරයා උසයි, මහතයි. එයාගෙ උඩු රැවුළ උඩු අතට කරකවාලා; එයාගෙ තොප්පිය තුං හුලස්.

දුවන ලී බෝනික්කාව දැකපු පොලිස්කාරයා දෙපා පළල් කරලා හිටගෙන පාර අවහිර කළා. බුරතීනො පොලිස්කාරයාගේ කකුල් අස්සෙන් යන්ට හදන විටම, ඔහු බෝනික්කාව එයාගේ නහයෙන් අල්ලා ගත්තා. කාර්ලො එන්න කලියෙන්ම ඔහු බුරතීනොගේ නහයෙන් අල්ලා ගෙන හිටියා.

"හිටපන් මම නුඹට හොඳ පාඩමක් උගන්වන්නම්" කාර්ලො එහෙම කියාලා බුරතීනොව අරගෙන කෝට් සාක්කුවේ දාගන්ට හැදුවා.

බුරතීනො කැමති වුණේ නෑ මේ වගේ හොඳ දවසක, කාර්ලොගේ කෝට් සාක්කුව ඇතුළෙ හිස පහළට දමා ගෙන, දෙපා උඩ දමා ගෙන ඉන්ට. කපටි දඟකාර බෝනික්කා පදික වේදිකාවට පැනලා මළා වගෙ බොරුවට බිම වැතිරිලා හිටියා.

"අනේ, අනේ, වැඩේ නරක අතට හැරුණා!" පොලිස්කාරයා කිව්වා.

මහ පාරේ යන එන අය එතැන රැස්වෙන්ට පටන් ගත්තා. බිම වැටිලා ඉන්න බුරතීනොව දැකලා ඒ ගොල්ල දුක් වුණා.

"දුප්පත් බෝනික්කා. කෑම නැතිව හාමතේ මැරිලා ගිහින්..."

"කාර්ලො බොනික්කාට මැරෙන කල්ම ගහලා තියෙනවා. ඔය නාකි හිඟන්නා හොඳ මිනිහෙක් වගේ හැසිරෙන්නෙ බොරුවට. කාර්ලො මහ නපුරු මිනිහෙක්..."

පොලිස්කාරයා මේ කතාවලට ඇහුම් කන්දීල, කාර්ලොගේ බෙල්ලෙන් අල්ලා ගෙන එයාව පොලීසියට ගෙන ගියා.

කාර්ලො අඩි පොළොවේ හප්පලා සුසුම් ලන්න වුණා.

"මම ලී බොනික්කෙකු හදාපු නිසා මට වෙච්ච විපතක මහත, අනේ, අනේ!"

මිනිස්සු විසිර ගියායින් පස්සෙ බුරතීනො හෙමින් සීරුවෙ ඔළුව උස්සල වටපිට බලා ලා, නැගිටලා ගෙදරට දුවලා ගියා.

## කතා කරන රැහැයියා බුරතීනොට නුවණ කියා දෙයි

කාර්ලොගේ කුටියට දුවගෙන ආපු බුරතීනො පුටු කකුලට හැප්පිලා බිම වැටුණා.

"තවත් දඟ කරන්නේ කොහොමද?" බුරතීනො කල්පනා කළා.

බුරතීනො ඉපදිලා දවසක් ගත වුණා විතර යැයි අමතක කරන්න එපා.

එයාට හරියට තවම කිසි දෙයක් හිතා ගන්න බැහැ. එයාගෙ කල්පනාව බොහොම පුංචියි, කෙටියි, ඒ වගේම ඒවා නිකම්ම නිකම් පුහු කල්පනා...

ඔන්න ඒ වෙලාවේදී හඬක් ඇසුණා :

"ක්‍රි, ක්‍රි, ක්‍රි"

බුරතීනො හිස හරවලා වටපිට බැලුවා.

"කවුද ඔතන ඉන්නේ?"

"මෙතන මම, ක්‍රි, ක්‍රි..."

බුරතීනොට පෙනුණා අපූරු සතෙකුව. ඌ කුරුමිණියකුට සමානයි. ඒ වුනාට ඔළුව තණ පෙත්තකුගෙ වගෙයි. කුරුමිණියා බිත්තියේ වහලා උන්නා. එයා හරියට උඩු අතට නෙරාපු වීදුරු පියනක් වගෙයි. ඒ කුරුමිණියගෙ ඇස් දේදුනු පාටයි. එයා රැවුළු ගස් නටව, නටවා, ක්‍රි, ක්‍රි ගානවා.

"ඔයා කවුද?"

"මම තමයි කතා කරන රැහැයියා. මේ ගෙදර මම අවුරුදු සියයක් තිස්සේම ජීවත් වෙනවා."

"මේ ගෙදර අයිතිකාරයා මායි. ඔයා ගෙදරින් පිටවෙන්න ඕන." බුරතීනො කිව්වා.

"හොඳයි. මම යන්නම්. අවුරුදු සීයක් ජීවත් වෙච්ච මේ ගෙය අත හැරලා යාම මට දුකක්. මම යන්න ඉස්සෙල්ලා ඔයාට නුවණ ටිකක් කියලා දෙන්නම්."

"නාකි රැහැයියකුගෙන් මම මොකටද නුවණ ලබා ගන්නේ..."



"බුරතීනො, බුරතීනො, දඟ කරන්න එපා. කාර්ලොට කීකරු වෙයන්. වැඩක් නැතුව ගෙයින් එළියට යන්න එපා. හෙට ඉඳලා පාසල් යන්න පටන් ගනින්. මගේ උපදෙස ඔය තමා. නැතිනම්, නුඹ මහා විපතකට වැටෙන්න පුළුවනි. නුඹ ඔය ගත කරන ජීවිතය මැස්සකුගේ මළ කුණක් තරම් වටින්නෙ නැහැ."

"ඒ මොකද?" බුරතීනො ඇහුවා.

"මොකද කියන එක නුඹට බලා ගන්න පුළුවන් වේවි." රුහැයියා පිළිතුරු දුන්නා.

"අවුරුදු සීයක් නාකි රුහැයියා, මහලු මායියා! මම මේ ලෝකෙ වැඩියෙන්ම ආසා කරන්නේ බොහොම අවදානම් ඇති දඟකාර හපන්කම්වලටයි. හෙට උදේ පාන්දරින්ම මම ගෙයින් පිටවෙලා යනවා. ගෙවැටවල්වලට උඩින් පනිනවා. කුරුළු කූඩු කඩනවා. කොල්ලන්ට විහිළු කරනවා. බල්ලන්ගෙ, බළලුන්ගෙ වලිගවලින් අදිනවා... තවත් ඒ වගේ දේවල් මම කල්පනා කරනවා!..."

"බුරතීනො, මට නුඹ ගැන බොහොම කණගාටුයි, නුඹට සිද්ද වේවි අඬලා, අඬලා වැලපෙන්න."

"ඒ මොකද?" ආයෙමත් බුරතීනො ප්‍රශ්න කළා.

"මොකද නුඹේ මෝඩ ඔළුව වැඩකට නැති ලී කෑල්ලක් හන්දා."

එතකොට බුරතීනො මේසය උඩ තිබුණු මිටිය අරගෙන කතා කරන රැහැයියාගේ හිසට ගැහැව්වා.

මහළු නුවණක්කාර රැහැයියා බොහොම කණගාටුවෙන් සුසුම් ලෑවා, රැවුළ නටවලා කාර්ලොගේ කුටියෙන් මුල්ලට ගියා. ආපහු නොඑන්ට සදහටම එයා එළියට ගියා.

## බුරතීනො නොමැරී බේරෙයි. කාර්ලො බුරතීනොට කඩදාසි ඇඳුමක් හදයි. හෝඩි පොතක් මිලදී ගනී

කතා කරන රැහැයියා ගිය පසු කුටියේ බුරතීනො හැර වෙන කෙනෙක් හිටියේ නැහැ. දවස ගෙවුණෙත් නැහැ. බුරතීනොට බඩගින්නක් දැනුණා.

බුරතීනො ඇස් දෙක වහ ගත්ත හැටියෙ එයාට පිඟානක් මැද බැදපු කුකුළකු පෙනුණා.

ඔහු ඉක්මණට ඇස් ඇරලා බැලුවා. කුකුළත් නැහැ. පිඟානත් නැහැ.

ඔහු ආයෙමත් ඇස් දෙක වහ ගත්තා. ඔන්න ඒ පාර කැඳ පිඟානකුයි, පැණි මුලකුයි පෙනුණා.

ඉක්මණට ඇස් ඇර බැලුවා. කැඳත් නැහැ. පැණිත් නැහැ.

ඔන්න එයාට තද බඩගින්නක් තිබෙන බව දැනුණා.

ඔහු ලිප ළඟට ගිහිල්ලා ගින්නට මැදි වෙලා තියන හට්ටියට නහය දැම්මා. හට්ටිය හිල් වුණා. ළමයින්ට මතකයි නේද කාර්ලො ගින්දරයි හට්ටියයි තිරයක ඇඳපු බව.

බුරතීනො එයාගෙ නහය එළියට ඇද ගෙන, හිල් අස්සෙන් බැලුවා. තිරෙන් එහාට පුංචි දොරක් තියෙනව වගේ. එහි තිබුණු මකුළු දැල් හන්දා ඔහුට කිසි දෙයක් හොඳට පෙනුණේ නැහැ.

බුරතීනො අහු මුළු අස්සෙ ගිහිල්ලා කෑම හොයන්ට පටන් ගත්තා. පාන් කෑල්ලක්, පූසා ලෙවකාලා ඉතුරු කරපු කටු කෑල්ලක් එහෙම තියෙනවද කියල සෙව්වා.

අනේ, අනේ කිසිවක් තිබුණේ නැහැ. දුප්පත් කාර්ලො රෑ කෑමට කිසිවක් ඉතුරු කරලා නැහැ.

යතු කුඩු දාලා තියෙන කූඩෙ බිත්තරයක් තියන හැටි බුරතීනො දැක්කා. ඔහු බිත්තරය ජනේල් පඩිය උඩ තියලා දිග නහයෙන් බිත්තරයට ඇනලා කටුව බින්දා.

බිත්තරය ඇතුළෙන් සිහින් හඬක් ඇහුණා:



"ලී බෝනික්කා, ඔයාට බොහොම ස්තුතියි"

බිඳිච්ච බිත්තරයෙන් පුංචි වලිග පොඩිත්තක් එක්ක කුකුළු පැටියෙක් එළියට ආවා. එයාගෙ ඇස් දෙක ලස්සනයි.

"ආයුබෝවන්, කිකිළි අම්මා ගෙවත්තට වෙලා මා එන කල් බලා ඉන්නවා."

කුකුළු පැටියා එහෙම කියලා ජනේලයට පැනලා නොපෙනී ගියා.

"අනේ, අනේ, මට බොහොම බඩගිනියි!" බුරතීනො කියනවා.

දවස ගෙවී ගිහිල්ලා, කාමරය ඇතුළේ ඇඳිරි වැටුනා.

බුරතීනො ඇඳපු තිරය අසල වාඩි වෙලා බඩගින්නේ ඉක්කා ගහන්න පටන් ගත්තා.

ඔන්න හිටි හැටියෙ පඩිපෙළ පහළ සිදුරකින් ඔළුවක් එළියට ආවා. ඔළුවේ නහය ඉව ඇල්ලුවා. අළු පාට සතෙක් එළියට ආවා. එයාගෙ කකුල් බොහොම කෙටියි.

ඒ සතා හෙමින් බිත්තරය තිබුණු කූඩයට ගිහිල්ලා යතු ලෙලි අස්සෙ හොයන්ට පටන් ගත්තා. බුරතීනො බිඳපු බිත්තරය සෙව්වා වෙන්ට ඕන.

ඊළඟට ඒ අළු පාට සතා බුරතීනො ළඟට ඇවිත්, නහයෙන් සහ රැවුළු ගස්වලින් බුරතීනොව ඉව ඇල්ලුවා. බුරතීනො ළඟ බිත්තර සුවඳක් තිබුණෙ නැති හන්දා ඒ සතා ඉවත යන්ට ගියා. ඒ සතාගෙ වලිගය දිගයි, සිහින්.

ඉතින් ඒ වගේ වලිගයක් අල්ලන්නේ නැතුව ඉන්ට පුළුවන්ද! බුරතීනො එකවරම වලිගය අල්ලා ගත්තා.

ඒ වලිගය නපුරු මහලු ඌරු මීයගෙ වලිගෙ.

බයවුණු ඌරු මීයා මී ගුලට රිංගන්න හැදුවේ බුරතීනො වත් ඇද ගෙනයි. නමුත් ඌට පෙනුණා වලිගය ඇල්ලුවේ ලීයෙන් හදාපු බෝනික්කෙකු බව. නපුරු මීයට හොඳටම කේන්ති ගිහිල්ලා බුරතීනොගේ බෙල්ල හපා කන්ට පැන්නා.

ඒ වර බුරතීනො බොහොම බය වුණා.මී වලිගය අතහැර දාලා ඔහු පුටුව උඩට පැන්නා. මීයත් පැන්නා.

එවිට බුරතීනො මේසය උඩට පැන්නා. මීයත් පැන්නා. ඔන්න එතනදි මීයා බුරතීනොගේ බෙල්ල විකා ගෙන එයාව මී ගුලට ඇදගෙන යන්න ලෑස්ති වුණා.

"අනේ, තාත්තේ කාර්ලො, මට පිහිට වෙන්න!" කියලා බුරතීනො බොහොම බැගෑපත් හඬින් කිව්වා.

"මම මෙතන!" ගොරෝසු හඬකින් පිළිතුරු ලැබුණා.

දොර හැර ගෙන කාර්ලො කුටියට ඇතුළු වුණා. ඔහු කකුලෙ තිබුණු ලී සෙරෙප්පුව ගළවලා මීයාට ගැහැව්වා.

එතකොට මීයා ලී බුරතීනොව අත හැරලා දත් මිටි කාලා මී ගුලට වැදුණා.

"ඔන්න දඟ කරන්ට ගියාම වෙන දේවල හැටි!" කාර්ලො එහෙම කියලා බිම වැටිල උන්න බුරතීනොව ඔසවා බැලුවා බෝනික්කාට තුවාල වෙලාද කියලා. එයාව දණ හිස උඩ වාඩි කරවලා, සාක්කුවෙන් ලූනු ගෙඩියක් අරගෙන ලෙලි ගහලා බුරතීනොට දුන්නා.

"ඔන්න කාපන්."

බඩගින්නේ හිටිය බුරතීනො රස කර, කර, තලු මර, මර, ලූනු ගෙඩිය කෑවා. ඔන්න ඊට පස්සෙ ලී බෝනික්කා එයාගෙ ඔළුව කාර්ලෝගේ කම්මුලක අතුල්ලා මෙහෙම කිව්වා:

"අනේ කාර්ලො තාත්තේ, මීට පස්සෙ තාත්තා කියන දේ අහන කීකරු කෙනෙක් වෙනවා... කතා කරන රෑහැයියා කිව්වා මට පාසල් යන්නයි කියල."

"බොහොම හොඳ අදහස, පොඩ්ඩෝ."

"ඉතින් කාර්ලො තාත්තේ, මම තවමත් උපන් හැටිය නෙව, ඇඳුමක් නැතුව පාසල් යන්ට බැහැ නෙව. මට හිනා වේවි."

"ඒක ඇත්ත තමා. පොඩ්ඩාගේ කතාව හරි." කාර්ලො නිකට කැසුවා.

කාර්ලො පහන පත්තු කරලා, කතුර, මැලියම් සහ පාට කඩදාසි අරගෙන දුඹුරු කඩදාසියෙන් පුංචි කබායක් කැපුවා. තද කොළ පාට කඩදාසියෙන් කලිසමක් කැපුවා. පරණ හම් කෑල්ලකින් සපත්තු දෙකකුයි, පරණ මේස් කෑල්ලකින් කුඩුම්බිය සහිත තොප්පියකුයි හැදුවා.

මේවා සියල්ල බුරතීනොට ඇන්දෙව්වා.

"ඉතින් හොඳට ඇඳගන්න!"

"කාර්ලො තාත්තේ, මම පාසල් යන්නේ කොහොමද හෝඩි පොතක් නැතුව."

"පොඩ්ඩාගේ කතාව හරි..."

කාර්ලො හිස කසලා කල්පනා කලා. එයාට තිබුණ එකම පරණ කබායත් ඇඳගෙන මහ පාරට බැස්සා.

ඉක්මණට ගෙදර ආවා. නමුත් කබාය නැතුව. ඔහු ලොකු අකුරුයි ලස්සන පින්තූරයි තියෙන හෝඩි පොතක් ගොනාවා.

"ඔන්න ඔයාට හෝඩි පොතක්. අකුරු ඉගෙන ගන්න."

"කාර්ලො තාත්තේ, තාත්තාගෙ කබාය කෝ?" බුරතීනො ඇහුවා.

"මම කබාය විකුණලා පොත ගත්තා. ඒකට කමක් නැහැ. කබාය නැතුව ඉන්ට පුළුවනි. පොඩ්ඩා හොඳට ඉන්න."

බුරතීනො කරුණාවන්ත කාර්ලොගෙ අත්වලට එයාගෙ නහය තියලා මෙහෙම කිව්වා:

"ඉගෙන ගෙන ලොකු වුණාම, මම තාත්තාට කබා එක් දාහක් අරන් දෙන්නම්."

බුරතීනො එයාගෙ පළමුවැනි හවස දඟ නොකර ගත කිරීමට මහන්සි ගත්තේ, කතා කරන රැහැයියා කියා දුන් නුවණ අනුවයි.

## බුරතීනො හෝඩි පොත විකුණලා රූකඩ නැටුම් බලන්ට යයි

උදේ පාන්දර බුරතීනො නැඟිටලා හෝඩි පොත පාසල් බෑගයක දමා ගෙන උඩ පැන, පැන පාසලට ගියා.

පාරේ යන ගමන් එයා පාර දෙපැත්තෙ කඩවල විකුණන රස කෑම ජාති, ලොසින්ජර, කේක් වර්ග, කැවුම්, කොකිස් දිහා බැලුවේ වත් නැහැ.

පාර අයිනේ හිටගෙන සරුංගල් යවන කොල්ලන් දිහා බැලුවේ වත් නැහැ.

පාර හරහා දුව ගෙන ගියා බළල් හාමි. එයාගෙ නම බැසීලියෝ. එයාගේ වලිගය අල්ලා අදින්න පුළුවන්කම තිබුණා. නමුත් බුරතීනො එහෙම කළේ නැහැ.

පාසල ළඟම වගේ මුහුදු වෙරළ පැත්තේ ඉඳල සංගීත හඬක් ඇහෙනවා. සංගීතය හිත පිනවනවා:

"පි, පි" ගාලා බට නලාව පිඹිනවා.

"ලා, ලා" ගාලා වීණාව වයනවා.

"ඩින්, ඩින්" ගාලා සිම්බල් තැටි හඬ දෙනවා.

"බුම්, බුම්" ගාලා බැන්ඩ් වාදනය ඇහෙනවා.

පාසලට යාමට දකුණට හැරෙන්නට ඕන. සංගීතය අහෙන්නෙ වම් පසින්. බුරතීනො වැනෙන්න පටන් ගත්තා. සංගීතය ඇහෙන පැත්තට ඉබේටම බුරතීනො හැරුණා.

සංගීත හඬ බොහොම මිහිරියි.

"පාසල වෙන දිහාවකට යන්නේ නැහැ නෙව. මම ගිහිල්ලා සංගීතය පොඩ්ඩක් අහලා ඉක්මණට පාසලට යන්නම්" බුරතීනො තමාටම කියා ගත්තා.

ඔන්න ඊට පස්සෙ එයා බොහොම වේගයෙන් මුහුද පැත්තට දුවන්නට පටන් ගත්තා. මුහුද අයිනේ ලොකු කූඩාරමක් තියෙනවා. එය වටේට පාට පාට කොඩි වර්ග. මේ ලස්සන කොඩි මුහුදු සුළඟට "සට සට" ගාලා හඬ නගනවා.

කූඩාරම උඩ සංගීත කාරයෝ හතර දෙනෙක් වාදනය කරමින් නටනවා. නට, නටා වාදනය කරනවා.

කූඩාරමේ දොර ළඟ මහත නැන්දා කෙනෙක් මඳ සිනා පාලා ටිකට් විකුණනවා.

නැන්දා ළඟ මිනිස්සු ගොඩක් රොක් වෙලා. කොල්ලො, කෙල්ලො, සෙබළු, ඔරේන්ජ් බාර්ලි වෙළෙන්දො, කිරි අම්මලා, ගිනි නිවන හමුදා භටයෝ, තැපැල් බෙදන අය. මේ ගොල්ලො ඔක්කෝමල්ලා ලොකු දැන්වීමක් කියවනවා:

| |
|---|
| **රූකඩ නැටුම් පෙන්වීම එකවාරයක් පමණයි!**<br>පමා නොවන්න!<br>පමා නොවන්න!<br>පමා නොවන්න! |

බුරතීනො ළඟ හිටිය කොල්ලකුගේ අතින් ඇදලා එයාගෙන් මෙහෙම ඇසුවා :

"කරුණාකරලා කියන්න ටිකට් එකක මිල කීයද? "

කොල්ලා කලබල නොවී මෙහෙම පිළිතුරු දුන්නා :

"රිදී කාසි හතරයි, ලී බෝනික්කා."

"ළමයා, මට මගේ මුදල් පසුම්බිය අමතක වුණා... ඔයාට බැරිද මට කාසි හතරක් ණයට දෙන්න? බුරතීනො ඇහුවා.

කොල්ලා ආඩම්බර ලෙස බලා ලා සිවුරුහන් බාලා මෙහෙම කිව්වා :

"නුඹේ කල්පනාව මම මෝඩයෙක් කියලද?

"මම බොහෝම, ගොඩක් කැමතියි රූකඩ නැටුම් නැටුම් බලන්න!" බුරතීනො කිව්වේ කඳුළු පිරුණු ඇස් ඇතිවයි. "මගේ ලස්සන කබාය කාසි හතරකට මිලදී ගන්න."

"කඩදාසි කබායකට කාසි හතරක් දෙන්නද? මෝඩයකුව හොයා ගනින්!" කොල්ලා කිව්වා.

"එහෙනම් මගේ ලස්සන තොප්පිය අරගන්න..."

"නුඹේ තොප්පිය හොඳයි ඉස් ගෙඩියන් අල්ලන්න. මෝඩයකුව හොයා ගනින්!"

බුරතීනොට බොහොම කනගාටුයි. එයාගෙ දිග නහය පවා හීතල වුණා. එයාට ලොකු ආසාවක් ඇති වෙලා, රූකඩ නැටුම් බලන්න.

"ළමයා, එහෙනම් රිදී කාසි හතරකට මගේ අලුත්ම හෝඩි පොත අරගන්න." බුරතීනො කිව්වා.

"පින්තූරත් එක්කද?"

"ඔව්, බොහොම ලස්සන පින්තූර. අකුරු බොහොම ලොකුයි."

"එහෙනම් මෙහෙ දීපන්!" කියමින් පොත අතට ගත් කොල්ලා අකමැත්තෙන් රිදී කාසි හතරක් බුරතීනොට දුන්නා.

බුරතීනො ඉක්මණට දුවලා ගියා ටිකට් විකුණන මඳ සිනා පාන මහත නැන්දා ළඟට.

"මට පළමුවැනි පෙළේ ටිකට් එකක් දෙන්න. එකම එක වරක් පෙන්වන රූකඩ නැටුම් බලන්න මම හරි ආසයි."

## රූකඩ බෝනික්කෝ බුරතීනොව අඳුනා ගනිති

බුරතීනොට හරි-බරි ගැහිලා පළමුවැනි පෙළේ ආසනයක වාඩි වෙලා රූකඩ නැටුම පටන් ගන්නා තුරු ඉවසිල්ලක් නැතිව බලා හිටියා.

තිරය තවම ඇරලා නැහැ. නටන පුංචි මිනිස්සු, කළු පාට වෙස් මුහුණු ඇඳ ගත්තු ගෑනු ළමයි, දිග යටි රැවුල් තියෙන, තරු සහිත උල් තොප්පි ඇඳ ගත්තු භයානක මිනිස්සු ඒ තිරයේ ඇඳලා තිබුණා. ඒ ගොල්ලන්ට උඩින් පොල් බෑයක් වගේ වටකුරු සූර්යයා. ඒ සූර්යයාට නහයකුයි, ඇස් දෙකකුයි තියෙනවා. රූකඩ නැටුම් හලේ තිරය බොහොම ලස්සනයි.

සීනුව තුන් වරක් නාද කළා. තිරය එසෙව්වා.

රූකඩ නැටුම් මඩුවේ දකුණු පැත්තෙනුයි, වම් පැත්තෙනුයි කාඩ්බෝඩ්වලින් හදාපු මල් ගස්. ඉහළින් ලන්තෑරුමක් එල්ලා තිබුණා. ලන්තෑරුම් එළිය කණ්ණාඩියට වැටිලා හඳ වගේ ආලෝකයක් දෙනවා. කණ්ණාඩි කැල්ල උඩ පුළුන්වලින් හදාපු පුංචි හංස පැටව් දෙදෙනෙක් පාවෙනවා වගේ එහා මෙහා යනවා.

කාඩ්බෝඩ් ගහකට එහා පැත්තෙන් පුංචි මිනිහෙක් ආවා. එයා ඇඳලා හිටියේ අත් දිග සුදු කමිසයක්. එයාගෙ මුහුණ සුදුම සුදු වෙනකල් පුයර දාලා.

එයා රූකඩ නැටුම් බලන්න ආපු අයට හිස නමලා කණගාටුවෙන් මෙහෙම කිව්වා :

"ආයුබෝවන්, මගේ නම පියෙරෝ... දැන් අපි ඔය ගොල්ලන්ට පෙන්වන රූකඩ නැටුමේ නම "නිල්පාට හිස කෙස් ඇති පුංචි ගෑනු ළමයා හෙවත් ටොකු තිස් තුන". මට කෝටුවකින් පහර දේවි. කම්මුලට ගහවි. ටොකු අනීවි. ඒක බොහොම හිනායන රූකඩ නැටුමක්..."

අනිත් පැත්තේ කාඩ්බෝඩ් ගහ පිටිපස්සෙන් තවත් පුංචි මිනිහෙක් ඉදිරියට ආවා. එයා ඇඳලා හිටියේ දාම් ලෑල්ල වගේ කොටු සහිත ඇඳුමක්.

එයත් රූකඩ නැටුම් බලන්න ආපු අයට හිස නමලා කතා කළා:

"ආයුබෝවන්, මගේ නම අර්ලෙකීන්!"

ඊට පස්සෙ එයා පියෙරෝට කම්මුල් පාරවල් දෙකක් ගැහුවා පටාස්, පටාස් ගාලා. පියෙරෝගේ මූණෙ තිබුණු පුයර කුඩු හැලුණා.

"මෝඩයා, මොකද නුඹ කණගාටු වෙන්නේ?"

"මම කසාදයක් බඳින්න යන හන්දා කණගාටු වෙනවා," පියෙරෝ කිව්වා.

"ඉතින් ඇයි බඳින්නෙ නැත්තේ?"

"බඳින්නෙ කොහොමද, මගෙ මනමාලි පැනල ගිහින්."

"හා-හා-හා" ගාලා අර්ලෙකීන් හිනා වුණා. "පේනවා නේද මෝඩයගේ හැටි"

ඔහු කෝටුවක් අරගෙන පියෙරෝට ගැහැව්වා.

"නුඹේ මනමාලිගෙ නම මොකක්ද?"

"නුඹ මීට පස්සෙ මට ගහන්නෙ නැහැ නේද? " පියෙරෝ ඇසුවා.

"නැහැ. මම නුඹට ගහන්න පටන් ගත්තා විතරයි."

"එයාගෙ නම මල්වීනා. නිල්පාට හිස කේ ඇති ගෑනු ළමයා කියලත් එයාට කියනවා."

"හා-හා-හා," ගාලා අර්ලෙකීන් හිනා වෙලා පියෙරෝට ටොකු තුනක් ඇන්නා.

"රූකඩ නැටුම් බලන්න ආපු නෝනාවරුනි, මහත්වරුනි, නිල් පාට හිසකෙස් තියෙන ගෑනු ළමයි දැකලා තියෙනවද?" අර්ලෙකීන් ඇහුවා.

නැටුම් බලන්න ආපු අය දිහා අර්ලෙකීන් බැලුවා විතරයි, ඉස්සරහ පෙළේ වාඩිවෙලා ඉන්න ලී බෝනික්කාව එයා දැක්කා. ලී බෝනික්කාගේ නහය දිගයි කට දෙකන් ළඟට යන කල්ම පළල් වෙලා. කුඩුම්බිය සහිත තොප්පියක් හිස දමා ගෙන.

"බලපල්ලා, ඒ තමා බුරතීනො!" අර්ලෙකීන් ලී බෝනික්කාව ඇඟිල්ලෙන් පෙන්නලා කිව්වා.

"පණ පිටින් ඉන්න බුරතීනො!" දෑත් වනලා පියෙරෝ කෑ ගැසුවා.

ඔන්න ඒ පාර කාඩ්බෝඩ් ගස්වලට එහා හිටිය, කළු පාට වෙස් මූණු ඇඳ ගත්තු ගෑනු ළමයි, උල් තොප්පි හිස ලා ගත් යටි රැවුළු ඇති පුදුම මිනිස්සු, මයිල් ඇති බල්ලෝ බුරතීනො දිහා බැලුවා. බල්ලන්ගේ ඇස් වෙනුවට අල්ලලා තිබුණෙ බොත්තම්. නහය හරියට පුංචි කැකිරි ගෙඩිවලට සමාන අඟුටු මිට්ටෝ ද එතන හිටියා.

මේ ගොල්ලො ඔක්කෝමල්ලා නැටුම් මඩුව උඩට ඇවිත් ඉටි පන්දම් වැළට ළං වෙලා මෙහෙම කිව්වා:

"ඒ තමයි බුරතීනො! ඒ තමයි බුරතීනො! දඟකාර විහිළුකාර බුරතීනො!"

එවිට බුරතීනො ඉස්සර පුටු පෙළේ ඉඳලා නැටුම් රාළගෙ කුටියට පැනලා, එතැනින් නැටුම් මඩුවට පැන ගත්තා.

බෝනික්කෝ බුරතීනොව බදා ගන්ටයි, සිපගන්ටයි, කොනිත්තන්ටයි පටන් ගත්තා. ඊට පස්සෙ බෝනික්කෝ ඔක්කෝමල්ලා කුරුළු නැටුමේ සිංදුව කිව්වා:

විලක් අසල උදෑසනම
කුරුළු පැංච පොල්ක නැටුම
නහය වමට, වලිගෙ පෙරට
නටයි කරබස්ගෙ නැටුම
බෙර ගසන්නේ කුරුමිණියෝ
නළා පිඹිති තඩි ගෙම්බෝ
නහය වමට, වලිගෙ පෙරට
නටයි බරබස්ගෙ නැටුම

කුරුළු පැංචා පොල්ක නැටුම නටන්නේ
සිනහ පපා ප්‍රීති වෙමින් සිටින්නේ
නහය වමට, වලිගෙ පෙරට
එහෙම තමා කුරුළු පැංචා නටන්නේ...

රූකඩ නැටුම බලන්න ආපු අය සතුටු කඳුළු වගුරවන්නට පටන් ගත්තා. කිරි අම්මා කෙනෙක් හොඳටම ඇඬුවා. ගිනි නිවන සෙබළෙක් ඉකි ගසමින් ඇඬුවා.

පිටි පස්සෙ බංකුවල වාඩි වෙලා හිටිය කොල්ලො කට්ටිය විතරක් කේන්තියෙන් අඩි පොළවේ හප්පන්න වුණා.

"සිප ගත්තා ඔය මදෑ. අපි පුංචි එවුන් නොවෙමු. රූකඩ නැටුම දිගටම පෙන්නා පල්ලා!"

මේ සෝෂාව ඇහුණු හන්දා තිරය පිටුපස ඉඳලා එළියට ආවා බොහොම භයානක පෙනුමක් ඇති මිනිහෙක්. එයා දිහා බැලුවාම ඕනෑම කෙනෙක් බියෙන් බිරාන්ත වෙනවා.

එයාගෙ යටි රැවුළ බොහොම දිගයි, මහ පොළවට ගෑවෙන්න තරම් ළං වෙලා. ඇස් දෙක මොර ගෙඩි වගෙයි. කට හරි විශාලයි. දත් දිගයි, පොල් ඉරු වගෙයි. එයා මිනිහකුට වැඩිය කිඹුලකුට සමානයි. එයාගෙ අතේ කඹ හතකින් ගොතාපු කසයක්.

එයා තමා රූකඩ නැටුම් මඩුවේ අයිතිකාරයා. රූකඩ නැටුම් පිළිබඳ මහාචාර්ය තුමා, කරබස් බරබස් මහත්මයා.

"එයි කොල්ලා, මගේ ඉතාම ලස්සන රූකඩ නැටුමට බාධා කළේ නුඹ නේද?" ඔහු බුරතීනොට ගොරවන්න වුණා.

එයා බුරතීනොව අල්ලා ගෙන රූකඩ හලෙහි තියෙන ගබඩා කාමරයට ගෙනියලා, ඔහුව බිත්තියේ ඇණයක එල්ලුවා. ආපසු ඇවිත් රූකඩ නැටුම පෙන්වන්නයි කියලා බෝනික්කන්ට කසය පෙන්නලා අණ කළා.

බෝනික්කෝ කොහොම හරි නැටුම පෙන්නලා අවසන් කළා. තිරය වැහුවා. රූකඩ නැටුම් බැලූ මිනිස්සු ගෙවල් බලා ගියා.

රූකඩ නැටුම් පිළිබඳ මහාචාර්ය කරබස් බරබස් කුස්සියට ගියා රෑ කෑම ගැනීමට.

කන කොට බාධා නොවෙන්නට, ඔහු යටි රැවුළ අරගෙන සාක්කුවේ දමා ගත්තා. ගිනි උදුන ළඟ වාඩි වෙලා තාච්චියේ බැදි බැදී තිබුණු හාවයි, කුකුළු පැටව් දෙදෙනයි දිහා බැලුවා.

බැදෙමින් තිබුණ හාවා ඔහු ඇඟිලි තුඩින් අල්ලා බැලුවා. තවම හරියට බැදිලා නැති හැඩයි.

ලිපට දර ටිකක් දාලා තිබුණා. එවිට මහාචාර්ය තුමා තුන් පාරක් අත් පුඩි ගැසුවා.

අර්ලෙකීන් සහ පියෙරෝ දුව ගෙන ආවා.

"වැඩකට නැති අර බුරතීනොව මෙහාට ගෙනෙල්ලා. එයාව හදලා තියෙන්නේ ලීවලින් නොවැ. එයාව ලිපට දැම්මම මගේ හාවයි, කුකුළු පැටව්නුයි හොඳට බැදේවී."

අර්ලෙකීන් සහ පියෙරෝ දණ ගහලා අසරණ බුරතීනොට සමාව දෙන්නයි කියලා ඉල්ලා සිටියා.

"මගේ කසය කොහිද?" කියලා කරබස් බරබස් ගොරවන්නට වුණා.

එතකොට ඒ ගොල්ල සුසුම් ලමින් ගබඩා කාමරයට ගිහිල්ලා ඇණයක එල්ලා තිබුණු බුරතීනොව කුස්සියට ගෙනාවා.

## ගින්නට අසු නොවී බේරෙන බුරතීනොට රන් කාසි පහක් තෑගි ලැබෙයි

බුරතීනොව ඇදගෙන ඇවිත් ලිප ළඟ තියෙන යකඩ වැට ළඟ තියන විට, කරබස් බරබස් යකඩ හුළකින් ලිපේ අඟුරු අවුස්සමින් නහය හඬවමින් හිටියා.

හිටි හැටියේම කරබස් බරබස්ගේ ඇස් රතු පාට වෙලා මුහුණ රැලි වැටුණා. පුංචි අඟුරු කැටයක් එයාගේ නහය ඇතුළට වැටුණා වෙන්න ඇති.

හා-චීස්! හාචීස්! - කරබස් බරබස් ඇස් කරකවලා අයෙමත් හාචීස්! ගෑවා.

ඔහුට කිඹුහුන් ගියා විතරයි, ලිපේ අළු උඩට වීසි වුණා.

රූකඩ නැටුම් පිළිබඳ මහාචාර්ය තුමා කිඹුහුන් අරින්නට ගියාම පිට, පිටම පනස් වාරයක් කිඹුහුන් අරිනවා. සමහර විට සියක් වාරයක් කිඹුහුන් ඇරලා තමයි නවතින්නේ.

මෙහෙම දිගටම කිඹුහුන් අරින නිසා ඔහුගේ සැර බහිනවා. එතකොට ඔහු කරුණාවන්ත වෙනවා.

පියෙරෝ බුරතීනොගේ කනට කොඳුරලා මෙහෙම කිව්වා:

"කිඹුහුන් අරින අතර එයත් එක්ක කතා කරන්න උත්සාහ ගන්න..."

හා චීස්! හා චීස්! - කරබස් බරබස් කට ඇරගෙන හුස්ම අරගෙන හඬ නගා කිඹුහුන් අරින ගමන් ඔළුව හොලවනවා, අඩි පොළවේ හප්පනවා.

මුළු කුස්සියම හෙළවුණා, වීදුරු ජනේල දෙදරන්නට වුණා. බිත්තියේ එල්ලා තිබුණු තාච්චි, ලෝහ හට්ටි වැනුණා.

කරබස් බරබස් කිඹුහුන් අරින අතර බුරතීනො හීන් හඬෙකින්, දුකින් කතා කළා :

"මම දුප්පත් අසරණ කෙනෙක්. කිසි කෙනෙක් මට අනුකම්පා කරන්නේ නැහැ!"

"අඬන්නේ නැතුව ඉඳපිය!" කරබස් බරබස් ගොරවලා කෑ ගැසුවා. "නුඹ මට බාධා කරනවා... හා චීස්!"

"ආචාර්ය තුමාට සැප වේවා!" බුරතීනො කිව්වා.

"ස්තුතියි! නුඹේ දෙමව්පියන් ඉන්නවාද? හා චීස්!"

"මට අම්මා කෙනෙක් කිසිම දාක, කිසිම දාක හිටියේ නැහැ, ආචාර්ය තුමනි! අනේ මම හරිම අවාසනාවන්තයෙක්!" මෙහෙම කියලා බුරතීනො සිහින් හඬින් කෑ ගැසුවා. ඒ සිහින් හඬ නිසා කරබස් බරබස්ගේ කන්වලට ඉඳිකටු තුඩින් අනිනවා වගේ දැනුණා.

ඔහු අඩි පොළවේ හැප්පුවා.

"නහයෙන් අඬන්නේ නැතුව ඉඳපන්! හා චීස් ! නුඹේ තාත්තා පණ පිටින් ඉන්නවද?"

"මගේ දුප්පත් තාත්තා තවම ඉන්නවා, ආචාර්ය තුමනි!"

"මගේ හාවයි, කුකුළු පැටවුන් දෙදෙනාවයි බදින්නට නුඹව ලිපට දමාපු බව නුඹේ තාත්තා දැන ගත්තාම යසට හිටීවි... හා චීස් !"

"කොහොම වුණත් මගේ දුප්පත් තාත්තා බඩගින්නයි, සීතලයි නිසා ඉක්මණින්ම මැරිලා යාවි. එයාගේ මහලු කාලෙදී එයාට උදව් කරන්න ඉන්නෙ මම විතරයි. මට අනුකම්පා කරලා මාව නිදහස් කරන්න."

"මොන යක්ස කතාවක් කියනවද!" කරබස් බරබස් කෑ ගැසුවා. "කිසිම අනුකම්පාවක් නැහැ. හාවයි, කුකුළු පැටවුන්වයි හොඳට බදින්ට ඕන, ලිපට රිංගපිය."

"ආචාර්ය තුමනි. මට බැහැ!"

"ඒ මොකද?" කරබස් බරබස් ප්‍රශ්න කළා. බුරතීනො කතා කරන විට, හීන් හඬින් කෑ ගහන්නේ නැහැ. බුරතීනොගෙ හීන් හඬ කරබස් බරබස්ගේ කන් අඩිවලට වැදී හඬ නගිනවා.

"ආචාර්ය තුමනි! මම එක දවසක් ලිපට රිංගන්න බැලුවා. ඒ වෙනුවට මගේ නහය හට්ටියට වැදිලා, හට්ටිය හිල් වුණා. ගිනි මැලයත් හිල් වුණා."

"මොන බොරු කතාවක්ද? ගිනි මැලය නුඹේ නහයෙන් කොහොමද බොල, හිල් කරන්නේ?"

"ආචාර්ය තුමනි! අපේ ගෙදර ගිනි මැලය පරණ තිර රෙද්දක ඇඳපු පින්තූරයක් නිසා."

"හා චීස් !" කරබස් බරබස් කොතරම් හයියෙන් කිඹුහුන් ඇරියාද කියතොත්, පියෙරෝ වමටත්, අර්ලෙකීන් දකුණටත් වීසි වුණා. බුරතිනො බඹරයක් වගේ කරකැවුණා.

"ගිනි මැලයකුයි, හට්ටියකුයි ඇඳපු තිර රෙද්දක් නුඹ දැක්කේ කොහෙදීද?"

"මගේ තාත්තා කාර්ලො ඉන්න පුංචි කුටියෙදී."

"නුඹේ තාත්තා කාර්ලොද!" කරබස් බරබස් පුටුවෙන් නැගිටලා දෑත් වැනුවා. එතකොට යටි රැවුළ සෑම තැනම විහිදී ගියා. "ඒකේ තේරුම මහලු කාර්ලොගේ කුටියේ රහස් තැනක් තියන බවයි..."

එතැනදී රහස් කුටියක් ගැන කතා කිරීමට කැමති නොවූ කරබස් බරබස් දෑතින් කට වසා ගත්තා. ඔහු නිවී ගිය ගිනි මැලය දිහා බලා ගෙන, දෑතින් කට වසා ගත් ගමන් හිටියා.

"හොඳයි. කමක් නැහැ, හොඳට බැදිලා නැති හාවයි, කුකුළු පැටව් දෙන්නවයි මම කන්නම්. නුඹව ගිනි ගොඩට නොදා නුඹේ ජීවිතය බේරා ගන්නම්, බුරතීනො. ඒ විතරක් නොවෙයි..."

මෙහෙම කියලා කරබස් බරබස් යටි රැවුළෙන් වැහිලා තියෙන යට කබා සාක්කුවට අත දාලා ආයෙමත් මෙහෙම කිව්වා:

"එපමණක් නොවෙයි. මෙන්න මේ සල්ලි කාර්ලො තාත්තාට ගිහිල්ලා දීපන්. එයාට බඩ ගින්නෙන් හා සීතලෙන් කොහොමටවත් මැරෙන්න එපයි කියලා මම කිව්වයි කියාපන්. පරණ තිරයේ ඇඳලා තියෙන ගිනි මැලය ඇති කුටිය දාලා යන්ට එපයි කියල කියාපන්. දැන් ගිහින් නිදා ගෙන උදේ පාන්දර නැගිටල ගෙදර දුවපන්."

බුරතීනොට දුන්න රන් කාසි පහ එයා සාක්කුවේ දමා ගෙන හිස පහත් කර ආචාර කළා :

"ඔබට පින් අයිති වෙයි, මහාචාර්ය තුමාණෙනි, ඔබ තුමා මුදල් දුන්නේ ඉතාම විශ්වාසවත් කෙනෙකුට."

අර්ලෙකීන් හා පියෙරෝ රෑට නිදා ගැනීමට බුරතීනෝව බෝනික්කන් නිදන කාමරයට ගෙන ගියා. එතැනදි බෝනික්කෝ ආයෙමත් බුරතීනොව වට කැරැ ගෙන සිප බදා ගත්තා. ලිපට දැමීමට ගෙන ගිය බුරතීනො බේරුණු නිසා ඒ ගොල්ල ප්‍රීති වුණා.

බුරතීනො බෝනික්කන්ට රහසේ මෙහෙම කිව්වා :

"මෙතැන මොකක් හරි රහසක් තියෙනවා."

## ගෙදර යන බුරතීනොට
## හිඟාකන බළලා සහ හිවලා හමු වෙයි

උදේ පාන්දර බුරතීනො නැගිටලා රන් කාසි ගැනලා බැලුවා අතේ තියන ඇඟිලිවල ගණනට රන් කාසි තියෙනවා. රන් කාසි පහකි.

රන් කාසි පහ මිට මොළවා ගෙන බුරතීනො උඩ පැන ගෙදර යන ගමන් සින්දුවක් කිව්වා :

"කාර්ලො තාත්තාට අලුත් කබායක් ගන්නෙම් මම, රස රස කෑමයි, කේක් ගෙඩියි, ලොසින්ජරයි ගන්නෙම් මම."

රූකඩ නැටුම් පෙන්වන කූඩාරමයි, සට සට ගාලා සුළඟට වැනෙන ලස්සන කොඩියි නොපෙනී ගියායින් පසු, දූවිලි සහිත මහ පාරේ හිඟාකන දෙදෙනකුව බුරතීනොට පෙනුණා. එක් කෙනෙක් හිවල් හාමිනේ අලීසා, අනිකා බළල් රාළ, එයාගෙ නම බැසීලියො. අලීසා කොර ගහනවා. බැසීලියොගේ ඇස් පෙනෙන්නේ නැහැ.

ඊයේ පාරේ යන කොට හමුවෙච්ච බැසීලියො නොවෙයි. මෙයත් ඒ වගේම තීරු වැටිච්ච පූසෙක්. මෙයාගෙ නමත් බැසීලියො. බුරතීනො කතා නොකර යන්ට හදන විටම, අලීසා හිවල් හාමිනේ බොහොම බැගෑපත් ලෙස කතා කළා :

"ආයුබෝවන්, බුරතීනො, හොඳ ළමයා ! දුවන්නේ කොහිද?"

"ගෙදර යනවා. කාර්ලො තාත්තා ළඟට."

අලීසා හූල්ලලා තවත් වැඩියෙන් බැගෑපත්ව මෙහෙම කිව්වා :

"ඔය ළමයට කාර්ලොව දකින්න පුළුවන් වෙයිද දන්නේ නැහැ. බඩගින්නයි, හීතලයි හන්දා එයාට බොහොම අමාරුයි..."

"අලීසා මේවා දැකල තියෙනවද?" බුරතීනො අත දිග හැරලා රන් කාසි පෙන්නුවා.

රන් කාසි දුටු හැටියේම අලීසාට ඉබේටම එයාගෙ අතක් කාසි දෙසට ඇදී ගියා. ඇස් පෙනෙන්නෙ නැති බැසීලියොගේ ඇස් දෙක රන් කාසිවල දීප්තිය නිසා කොළ පාටින් දිලිසෙන්නට වුණා.

බුරතීනො මෙය දුටුවේ නැහැ.

"කරුණාවත්, හොඳ ළමයා බුරතීනො, ඔය ඔය සල්ලිවලට කරන්නේ මොනවද?"

"කාර්ලො තාත්තාට කබායක් අරන් දෙනවා... හෝඩි පොතක් මිලදී ගන්නවා..."

"හෝඩි පොත, අපොයි, අපොයි! ඔය අකුරු ඉගෙන ගැනීමෙන් ඔය ළමයට හොඳක් වෙන්නෙ නැහැ... මම කොච්චර ඉගෙන ගත්තද, ඉතින් බලන්න, දැන් මම කොර ගහනවා," ඔළුව වනලා අලීසා හිවල් හාමිනේ කිව්වා.

"හෝඩි පොත ! ඔය කාලකණ්ණි පොත කියවන්න ගිහිල්ලා තමයි මගේ ඇස් දෙක පොට්ට වුණේ." බැසීලියො කෝපයෙන් නහය පුම්බලා කිව්වා.

වේලිච්ච ගහක අත්තක වාඩි වෙලා හිටිය මහලු කාක්කෙක් මේ කතාව අහගෙන ඉඳලා කාක් කාක් ගෑවා :

"බොරු කියනවා ! බොරු කියනවා !"

එතකොට බැසීලියො එක වරම උඩ පැනලා කාක්කාගේ වලිගය අල්ලා ගත්තා. නමුත් බැසීලියොට අහුවුණේ වලිගයේ කොටසක් විතරයි. කාක්කා යම්තම් ඉගිලිලා ගියා. බැසීලියො ආයෙමත් ඇස් පෙනෙන්නේ නැති හැටියට හිටියා.

"ඔයා මොකටද අර කාක්කාට එහෙම තුවාල කළේ?" බුරතීනො ඇහුවා.

"මගේ ඇස් දෙක පොට්ටයි නොවැ. මට පෙනුනේ හරියට අත්තක් උඩ බලු පැටියෙක් ඉන්නවා වගේ..."

තුන් දෙනාම දූවිලි සහිත පාර දිගේ යනවා. අලීසා කතා කළා :

"නුවණක්කාර, යහපත් හොඳ ළමයා, බුරතීනෝ ! ඔයාගෙ අතේ තියෙන කාසි ගණන දහ ගුණයකින් වැඩි කර ගන්න ඔය ළමයා කැමැතිද?"

"සත්තකින්ම කැමතියි ! ඒක කොහොමද කරන්නේ?"

"බොහොම ලෙහෙසියෙන් කරන්න පුළුවනි. අපත් එක්ක එන්න !" අලීසා කිව්වා.

"කොහාටද ?"

"මෝඩයින්ගේ රටට."

බුරතීනො ටිකක් කල්පනා කළා.

"අපොයි, බැහැ. මම ගෙදර යනවා. "

"ඕන තැනක යන්න. ඔයාව අපි ලනුවකින් බැඳලා ඇද ගෙන යන්නේ නැහැ. ඔයාට තමයි පාඩු වෙන්නේ." එහෙම කිව්වේ අලීසා, කපටි හිවලිය.

"ඔව්. ඔයාට තමයි පාඩු" බැසීලියොත් කිව්වා.

"ඔය ළමයා ඔයාටමයි හතුරු කමක් කර ගන්නේ." අලීසා ආයෙමත් කිව්වා.

"ඔව්, ඔව්. එහෙම තමා!" බැසීලියො අනුමත කළා.

"එහෙ ගියාම, ඔය ළමයගෙ ඔය කාසි ටික කාසි ගොඩක් වේවි..."

බුරතීනො නැවතිලා කට ඇරියා :

"බොරු කියනවා !"



අලීසා වලිගය බිම තබා ගෙන වාඩි වෙලා තොල ලෙවකාලා කතා කළා:
"මම ඔය ළමයට විස්තර කරන්නම්. මෝඩයින්ගේ රටේ තියෙනව අරුම පුදුම පිට්ටනියක්. ඉතින් ඒකට කියන්නේ හාස්කම් ඇති පිටිය කියලයි... ඉතින් ඔය පොළවේ ඔය රන් කාසි පහ වළල ලා උඩින් පස් දාන්න ඉස්සෙල්ලා "ඕං ගිරින්, මේං ගිරින්, කට්ටු, කට්ටු" කියල තුන් වරක් කියන්න. ඉන් පස්සේ පස් තට්ටුවකුයි, දිය ලුණු තට්ටුවකුයි දාලා, ගෙදර ගිහින් නිදා ගෙන පහුවදා එන්න. එතකොට එතැන ගහක් පැල වෙලා. ඒ ගහේ රන් කාසි එල්ලෙනවා. තේරුණාද?"
බුරතීනො උඩ පැනලා කිව්වා, "අපොයි ඒ බොරු !" කියලා.
"බැසීලියො, අපි යමු. අපව විශ්වාස කරන්නේ නැහැ. අපි යමු." අලීසා අමනාපයෙන් කිව්වා.
"නැහැ, නැහැ, මම විශ්වාස කරනවා! යමු, ඉක්මනට යමු මෝඩයින්ගේ රටට !..." බුරතීනො කෑ ගැසුවා.

# මුහුදු වාඩිය බොජුන් හල

බුරතීනොයි, හිවල් හාමිනේ අලීසායි, බළල් රාළ බැසීලියොයි තුන් දෙනාම කන්දෙන් පහළට බැහැ ගෙන, බැහැ ගෙන යන්න ගියා. ගොයම් කුඹුරු, මිදි වතු, සොස්නා ගස්වලින් පිරුණු බැද්ද පහු කර ගෙන මේ තුන් දෙනා මුහුද අයිනට ගියා. අයෙමත් මුහුද අයිනේ ඉඳලා රට මැද්දට ආවා, ඉස්සෙල්ලා පහු කර ගෙන ගිය ගොයම් කුඹුරු, මිදි වතු පහු කර ගෙන...

පුංචි කන්දක් උඩ නගර පොඩ්ඩක් තියෙනව. නගරයද ඊට ඉහළින් පායන හිරුද වරෙක වමෙන් වරෙක දකුණෙන් පෙනුණා.

අලීසා සුසුම් ලමින් දුක් වෙනවා :

"මෝඩයින්ගේ රටට යාම ලේසි පහසු වැඩක් නොවෙයි. කකුල් සේරම ගෙවිලා යාවි..."

හවස් වෙන කොට මහපාර අයිනෙ තිබ්ච්ච ගෙයක් ඒ ගොල්ලන්ට පෙනුණා. ඒ ගෙදර වහළ උඩ දැන්වීම් පුවරුවක් සවිකර තිබුණා :

| මුහුදු වාඩිය බොජුන් හල |
|---|

ආපන ශාලාව අයිතිකරුවා අමුත්තන් පිළිගන්න එළියට ආවා. තොප්පිය ගළවලා හිස පාත් කරලා ආචාර කළා.

"වේලිච්ච පාන් කෑල්ලක් වත් කන්න කියනව නම් නරක නැහැ." එහෙම කිව්වේ හිවල් හාමිනේ.

"අපට පාන් කෑල්ලක් හරි අරන් දෙන්නකො" බළල් රාළත් කිව්වා.

තුන් දෙනාම ආපන ශාලාවට ඇතුළු වෙලා, හොඳ, හොඳ කෑම වර්ග බදින ලිප ළඟට වෙලා වාඩි වුණා.

අලීසා දිව ලෙවකනවා, නවත්වන්නේ නැතුවම. බැසීලියො ඉස්සරහ ගාත් දෙක මේසය උඩ තියලා, බළල් හොම්බ ගාත් දෙක උඩ තබා ගෙන කෑම දිහා බලාගත්තු ගමන්ම ඉන්නවා.

"අයිතිකාර මහත්තයො, අපට දෙන්න පාන් කෑලි තුනක්" බුරතීනො ආපන ශාලාව අයිතිකාරයාට කිව්වා.

අයිතිකාරයා බොහොම පුදුමයට පත් වුණා. මේ තරම් වැදගත් උදවිය මෙ තරම් අඩුවෙන් කෑම ඉල්ලන්නේ මොකද කියලා.

අපේ විහිළුකාර, නුවණක්කාර හොඳ ළමයා බුරතීනො විහිළු කරනවා, මහත්මයා" අලීසා හිවලිය කපටි ලෙස හිනා වුණා.

"ඔව්. එයා විහිළු කරනවා." බැසීලියොත් කිව්වා.

"අපට පාන් කෑලි තුනකුයි, අන්න අර හොඳට බැදිලා තියෙන එළුවකුයි, අන්න අර කළු කුමාවයි, බැදපු පරවියන් දෙන්නකුවයි, තවත් පීකුදුවකුයි දෙන්න..." හිවල් හාමිනේ ඉල්ලුවා.

"මට ඕන හොඳට තරබාරු බල මාළු කෑලි හයක් බැදලා. තවත් පොඩි මාලුවන් ටික දෙනෙක්. කට ගැස්මට ඉස්සෙල්ල කන්ට" බැසීලියො බළල් රාළ කිව්වා.

අලීසායි, බැසීලියොයි බැදපු කෑම ජාති ඔක්කෝම කෑවා. බුරතීනොට ඉතුරු වුණේ පාන් කෑල්ලක් විතරයි.

අලීසායි, බැසීලියොයි කටුත් එක්ක මසුයි, මාලුයි කාපු නිසා උන්ගේ බඩවල් පිරිලා, මුහුණුවල කෙළ තැවරිලා තිබුණා.

"අපි පැයක් දෙකක් නිදා ගෙන රෑ යාමෙට ගමන පටන් ගනිමු. අයිතිකාර මහත්තයා, අපිව අවදි කරන්න අමතක කරන්න එපා." කපටි අලීසා ඉල්ලා හිටියා.

හිවල් හාමිනෙයි, බළල් රාළයි හොඳ මෙට්ටවලට වෙලා ගොරව ගොරවා නිදා ගත්තා. බුරතීනො බල්ලො ලඟින බංකුව උඩ නිදා ගත්තා.

රන් කාසි එල්ලෙන ගස් බුරතීනො සිහිනෙන් දැකලා කාසි කඩන්නට අත දිගු කලා විතරයි...

ඔන්න එතකොට අයිතිකාරයා කාතා කළා : "බුරතීනො මහත්තයා, නැගිටින්න වේලාව. රෑ දොළහයි."



එහෙම කියලා දොරට තට්ටු කළා. බුරතීනො ඉක්මණට නැගිට්ටා. ඇස් පිහදා ගත්තා. බළලත් නැහැ. හිවලත් නැහැ. ඇඳන් දෙකම හිස්.

අයිතිකාරයා මෙහෙම කිව්වා :

"ඔයාගේ ගරු මිතුරෝ වේලාසනින් නැගිටලා කේක් ගෙඩියක් කාලා යන්න ගියා..."

"මට පණිවුඩයක් තියල ගියේ නැද්ද?"

"ඔව්. ඔව්. බුරතීනො මහත්තයා නැගිට්ට හැටියේම කැලෑ පාර ඔස්සේ දුවන්ටයි කියලා කිව්වා."

බුරතීනො දුවන්න ලෑස්ති වෙන විටම ආපන ශාලාව අයිතිකාරයා දොර හරහට හිට ගෙන දෑත් ඉනේ තබා ගෙන ඔරවලා බැලුවා.

"කෑමට සල්ලි ගෙවන්නේ කවුද?"

"ඔව්. ගණන කීයද?" බුරතීනො ඇහුවා.

"එක රන් කාසියක් ගෙවන්න."

බුරතීනො අයිතිකාරයගෙ කකුලට උඩින් පනින්න හදන විටම මස් බදින යකඩ කූර ඔහු අතට ගත්තා.

"නීචයා, සල්ලි ගෙවපන්, නැතිනම් ගෙම්බකුට අනින්නා වගේ අනිනවා!"

අතේ තිබුණු රන් කාසි පහෙන් එක කාසියක් ගෙවන්නට බුරතීනොට සිද්ධ වුණා. එයාට ඒ ගැන බොහොම කනගාටුයි. ඒ කාලකණ්ණි ආපන ශාලාවෙන් බුරතීනො පිට වෙලා මහ පාරට ආවා.

මහ පාර කට්ට කළුවරයි. ඇහැට ඇන්නත් පේන්නෙ නැහැ. හැම දෙනාම නිදි. බුරතීනොගෙ ඔළුවට ඉහළින් රෑ කුරුල්ලා පියාඹනවා. සද්ද නොකර පියාඹනවා.

රෑ කුරුල්ලා බුරතීනොගෙ නහය ළඟටම ඇවිත් මෙහෙම කිව්වා :

"විශ්වාස නොකරනු, විශ්වාස නොකරනු, විශ්වාස නොකරනු!"

බුරතීනො කණගාටුවෙන් නැවතිලා ප්‍රශ්න කළා :

"කාවද? "

"බළලාවයි, හිවලාවයි විශ්වාස නොකරනු..."

"පලයන් යන්න!..."

බුරතීනො දුවන්න පටන් ගත්තා. ඔහු පසු පස පියාඹන රෑ කුරුල්ලා මෙහෙම කියනවා ඔහුට ඇහුණා :

"ඔය පාරේ යනවා නම්, පල් හොරුන්ගෙන් ප්‍රවේසම් වෙනු!"

## පල් හොරු බුරතීනොට පහර දෙති

ඈත අහසේ යම්තම් එළියක් ඇති වුනා. හඳහාමි පායන්නට වුණා.

කළු පාට කැලෑව ඉදිරියේ පෙනෙන්නට තියෙනවා.

බුරතීනො ගමන ඉක්මන් කළා. එයාගෙ පස්සෙන් කවුදෝ කෙනෙකුත් ගමන ඉක්මන් කළා.

ඒ පාර බුරතීනො දුවන්න පටන් ගත්තා. පිටි පස්සෙන් ආපු කවුදෝ දුවන්න පටන් ගත්තා හඬ නංවන්නේ නැතිව.

බුරතීනො හැරිලා බැලුවා.

දෙදෙනෙක් ඔහු පසුපස දුවගෙන එනවා. උන් ඔළුව වැහෙන්න ලෝගු දාගෙන. ඇස් දෙක පේන්න හිල් දෙකක් විතරයි ලෝගුවේ තියෙන්නෙ.

එකෙක් කොටයි. අඩි පළල් කර කර දුවනවා, පිහිය වනනවා. අනිකා උසයි. ඔහුගේ අතේ පිස්තෝලයක් තියෙනවා. පිස්තෝල කට හරියට පුනේල කටක් වගෙයි.

"අනේ, අනේ!" බුරතීනො කැලය දිගේ දුවන්නේ හාවකු වගෙයි.

"නැවතියන්, නැවතියන්!" පල් හොරු කෑ ගැහැව්වා.

බුරතීනොට පරාණ බයක් ඇති වුණා. එනමුත් ඔහුට අනුමාන ලෙස තේරුණා : ඔහු රන් කාසි හතර කටේ දමා ගත්තා. බුරතීනො කැලෑ මලීන වැට ළඟට දිව්වා... ඔන්න එතැනදී තමයි පල් හොරු බුරතීනොව අල්ලා ගත්තේය.

"සල්ලි දීපන්, නැතිනම් මැරුම් කාපන්!"

බුරතීනො කතා නොකර, තේරුම් ගන්න බැරුවා වගෙ නහයෙන් ඉක්මණට ආශ්වාස ප්‍රශ්වාස කළා. පල් හොරු බුරතීනොව අල්ලා පිටි කොන්දෙන් ඔසවලා හෙල්ලුවා. එකෙක් පිස්තෝලය අල්ලා ගෙන ඉන්නවා. අනිකා සාක්කු අත ගානවා.

"නුඹේ සල්ලි කොහිද?" උස පල් හොරා ප්‍රශ්නා කළා.

"සල්ලි දීපිය, පල් මෝඩයා !" මිටි පල් හොරා හෙමින් කිව්වා.

"කෑලි, කෑලි වලට ඉරා දමනවා!"

"ඔළුව හපා කනවා!"

අන්න එවිට බුරතීනො බයෙන් වෙව්ලන්න පටන් ගත්තා. කටේ තියෙන රන් කාසිවලින් හඬ පිට වුණා.

"අන්න සල්ලි තියෙන තැන!" පල් හොරු කෑ ගැසුවා. "සල්ලි කටේ දමා ගෙන."

එකෙක් බුරතීනොගේ ඔළුවෙන් අල්ලා අනිකා එයාගේ කකුල් දෙකෙන් අල්ලා එයාව උඩට වීසි කළා. බුරතීනො කට නැර දත්මිටි කාගෙන හිටියා.

බුරතීනොගෙ ඔළුව බිමට හරවලා හොරු දෙන්නා ඔළුව බිමට හැප්පුවා. නමුත් බුරතීනොට ඒක රිදුනේ නැහැ.

මීට පල් හොරා බුරතීනොගේ කටට අත දාලා කට අරින්න උත්සාහ කලා. ඔන්න දැන් කට ඇරෙන්න ළඟයි... එවිට බුරතීනො මුළු ශක්තියම යොදලා මිටි පල් හොරාගේ අත හැපුවා... ඒක අතක් නොවෙයි බළලගේ ඉස්සරහ කකුල. මිටි පල් හොරා මහ හඬින් කෑ ගැසුවා. අන්න ඒ වේලාවේදී බුරතීනො උරගයකු වගෙ කඩිසර ලෙස කැලෑ මලීන පඳුරුවලට පැනලා රිංගා ගෙන ගියා. එයාගෙ කඩදාසි කබායෙ සහ කඩදාසි කලිසමේ කෑලි මලීන පඳුරට අසු වුණා. දැන් බුරතීනො කැලෑවෙ අනිත් පැත්තෙන් දුවනවා.

කැලෑවේ තැන්නෙදී පල් හොරු අයෙමත් ඔහුට ළං වුණා. බුරතීනො උඩ පැනලා වැනෙන අත්තක් අල්ලා ගෙන ගහකට නැංගා. පල් හොරු එතැනට ආවා නමුත් උන්ගේ ඔළු වැහෙන්ට ලෝගු දාගෙන තිබුණ නිසා උන්ට ගස් නගින්ට ලේසි නැහැ.

ගහ උඩට නැග ගත්තු බුරතීනො අත්ත හොළවලා අල්ලපු ගහට පැන ගත්තා. පල් හොරු එයා පසුපස දුවලා ඒ ගහට නැග්ගා.

එවිටම ගහේ අත්තකුත් එක්ක පල් හොරු දෙන්නා 'දඩාස්' ගාලා බිම වැටිච්චි.

මේ දෙන්නා නැගටලා කෙඳිරි ගාලා සීරිච්ච තැන අත ගගා ඉන්න අතර බුරතීනො ගහෙන් බිමට බැහැලා බොහොම වේගයෙන් දිව්වා. පල් හොරුන් පෙනෙන්නට පවා සිටියේ නැහැ.

හඳ හාමි පායලා තියෙන නිසා ගස්වල හෙවණැල්ල පොළොවට වැටිලා මුළු කැලෑවම තීරු වගේ, ඒ කියන්නේ එළිය තීරුවයි, හෙවණැල්ල තීරුවයි වැටිලා පෙනෙනවා...

දුවන බුරතීනො හෙවණැලි තීරුවට අහුවුණාම පෙනෙන්නේ නැතිව යනවා. එළිය තීරුවට අහුවුණාම පෙනෙනවා. හඳ එළියට එයාගෙ තොප්පිය පෙනී, නොපෙනී යනවා.

ඔන්න ඔහොම බුරතීනො විල ළඟටම දුවල ගියා. හඳ එළියට විලේ ජලය කණ්ණාඩියක් වගේ දිලිසෙනවා. හරියට රූකඩ නැටුම් මඩුවේ වගේමයි.

බුරතීනො වම් පැත්තට ගියා - එතැන මඩ ගොහොරුවක්. දකුණු පැත්තට ගියා - එතැනත් මඩ ගොහොරුවක්... පසුපසින් දර කෝටු බිඳෙන සැටි ඇහෙනවා...

"ඕකාව අල්ලපිය, ඕකාව අල්ලපිය!..." කිය කියා කෑ ගහන ශබ්දයක් ඇහෙනවා.

පල් හොරු දුව ගෙන ඇවිත්, උසට වැවුණු පඳුරුවලට උඩින් පැනලා බැලුවා බුරතීනො ඉන්නවද කියල. ඔන්න එතකොට හොරු දැක්කා බුරතීනොව.

"අන්න ඉන්නවා!"

වතුරට පනින එක විතරයි, බුරතීනොට කිරීමට ඉතුරු වෙලා තිබුණේ. වැව ඉවුරේ බෙල්ල අත් තටුව යට තබා ගෙන ඉන්න සුදු හංසයකුව මේ වේලාවේදී බුරතීනො දැක්කා.

බුරතීනො වතුරට පැනලා කිමිදිලා වතුර යටින් ගිහිල්ලා හංසයාගේ කකුලක් අල්ලා ගත්තා.

"ගො-ගො"- කියල හංසයා හඬක් පිට කරලා - "මොනවද ඔය විහිළුවේ තේරුම! මගේ කකුල අතහරින්න!" කියල කිව්වා.

වතුරට උඩින් මතු වෙලා තිබුණු බුරතීනොගේ පයක් හොරු අල්ලා ගත්තා. ඔන්න එතකොටම සුදු හංසයා විශාල අත් තටු දිග හැරලා 'සට සට' ගාලා අහසේ පියාසර කරන්න පටන් ගත්තා.

හංසයා බොහොම ලස්සනට පියාසර කරලා විලේ එහා වෙරළට ගිය හැටියේම, බුරතීනො එයාගෙ හංස පාදය අතහැරියා. පුංචි පඳුරු තියෙන බිමකට වැටිලා බුරතීනො පුංචි කඳු හරහා හඳ හාමි ඉන්න පැත්තට දුවන්නට වුණා.

## පල් හොරු බුරතීනොව ගසක එල්ලති

බුරතීනොට දුවලා දුවලා හොඳටම හති වැටිලා, දෙපාවලට බොහොම මහන්සියි.

හිටි හැටියේම ඔහුට අතු අතරින් පෙනුණා බොහොම ලස්සන දිය කඩිත්තක්, දිය කඩිත්ත මැද ජනේල හතරක් තියෙන ගෙයක්. ගෙදර ජනේල දොරවල ඉර, හඳ සහ තාරකා ඇඳලා. ගෙය වටේට නිල් පාට මල් වැවිලා.

ගෙට යන පාරට සුදු වැලි දමලා. ජල උල්පතකින් සිහින් දිය පාරක් උඩට වීසි වෙනවා. උල්පතේ ඉරි වැටිච්ච බෝලයක් උස් පාත් වෙවී නැටවෙනවා.

ගෙපිළට බුරතීනො හතර ගාතෙන් ගියා. දොරට තට්ටු කළා. ගෙදර නිහඬයි. ඒවර බුරතීනො හයියෙන් දොරට තට්ටු කළා. ගෙදර උදවිය බොහොම තදේට නිදි වෙන්නට ඕන.

මේ අතරතුර පල් හොරු කැලෑවෙ ඉඳල එළියට ආවා. උන් විල හරහා පීනුවා උන් හොඳටම තෙමිලා. බුරතීනොව දුටු මිටි පල් හොරා බළලෙක් වගෙ ඤාව් ගෑවා. උස පල් හොරා හිවලෙක් වගේ හූ තිබ්බා...

බුරතීනො දෑතින්ම සහ දෙපයින්ම දොරට තට්ටු කළා...

"අනේ, මට උදව් වෙන්න! උදව් වෙන්න!..."

අන්න එවිට ජනේලයෙන් පිටත එබිකම් කරලා බැලුවා ලස්සන ගෑනු ළමයෙක්. එයාගෙ කොණ්ඩය කැරලි ගැසිලා. නහය පොඩ්ඩක් උඩට නෙරා ගිහින්.

එයාගේ නෙත් වැහිලා.

"ළමයෝ ඉක්මණට දොර අරින්න. මා ලුහුබැඳ පල් හොරු එනවා!"

"අනේ, මොන බොරුද!" ඈනුමක් හරිමින් ගෑනු ළමයා කිව්වා. "මට නිදිමතයි. ඇස් අරින්න බැහැ. ඒ තරම්ම නිදිමතයි..."

එයා නිදිමතෙන්ම ජනේල දොර වහලා දැම්මා.

බුරතීනොට කර කියා ගන්න දෙයක් නැතුව මළා වගෙ බිම වැතිර හිටියා.

පල් හොරු ඔහු ළඟට ආවා.

"දැන් ඉතින් එයාට අපෙන් බේරෙන්ට බැහැ!"



බුරතීනොගෙ කට අරවාගන්න පල් හොරු නොකළ දෙයක් නැහැ. බුරතීනොව ලුහු බැඳගෙන එන විට උන්ගේ පිස්තෝලයයි පිහියයි නැති වුණේ නැති නම්, අවාසනාවත් බුරතීනො පිළිබඳ කතාව එතැනින් ඉවර කරන්නට තිබුණා.

අවසානයේදී පල් හොරු තීරණය කළා බුරතීනොව ඔළුව පහළට දාලා එල්ලන්නට. බුරතීනොගේ දෙපා බැඳලා ඕක් ගහක අත්තක ඔහුව එල්ලලා පල් හොරු උන්ගේ වලිග දිග හැර ගෙන බුරතීනොගේ කටින් රන් කාසි වැටෙන තුරු පහළට වෙලා බලා ගෙන හිටියා.

උදේ හිමිදිරි පාන්දර සුළං හමන්නට පටන් ගත්තා. ගස්වල කොළ සද්ද කළා. බුරතීනො ඒ අතටයි, මේ අතටයි වැනුණා. පල් හොරු දෙන්නගෙ වලිග තෙමිලා නිසා උන්ට තවත් එතැන ඉන්න බැරි වුණා.

"යාළු පැංචා, නුඹ ඔහොම එල්ලිලා ඉඳපන් අද හැන්දෑ වෙන කල්." කියලා උන් දෙන්නා පාර අයිනෙ තියෙන තේ කඩයක් හොයන්ට ගියා.

## නිල් කොණ්ඩකාර ගෑනු ළමයා බුරතීනොට පණ ලබා දෙයි

බුරතීනොව එල්ලලා තිබුණු ඕක් අතුවලට එපිටින් උදේ හිරුගේ ලා හිරු රැස් වැටෙන්නට වුණා.

පිටියේ තණ ගස් කොළ පාට වුණා. පිනි බිඳු රෝස පාටින් බැබළුණා.

නිල් පාට කෙස් කැරළි ඇති ගෑනු ළමයා උදේ නැගිටලා ජනේලයේ දොර හැරලා හිස පිටතට දාලා වටපිට බැලුවා. ලස්සන ඇස් දෙක පිස දමා ගත්තා.

කරබස් බරබස් ආචාර්ය තුමාගේ රූකඩ නැටුම් පොළේ ඉන්න ඉතාම ලස්සන බෝනික්කා තමා මේ ගෑනු ළමයා.

රූකඩ නැටුම් පොළ අයිතිකාරයාගේ නපුරුකම් ඉවසා ගෙන ඉන්න බැරුව මේ ගෑනු ළමයා පැනලා ගිහිල්ලා තණ පිටියේ මේ ගෙදර වාසය කරනවා.

වන සත්තු, කුරුල්ලෝ, සමහර කුරුමිණියෝ, සමනලයෝ ඇයට ආදරය කරනවා. මොකද දන්නවද, ඒ ළමයා බොහොම ගුණ යහපත් ළමයෙක් නිසා.

ඇයට ඕන කරන කෑම ජාති වන සත්තු ගෙනැවිත් දෙනවා.

වැළි මීයෝ ඇයට ගුණ ඇති මුල් වර්ග ගෙනැවිත් දෙනවා.

කැලෑ මීයෝ සීනි, කේජු වැනි කෑම ගෙනැවිත් දෙනවා.

අර්තෙමොන් කියන හොඳ, උදාර බල්ලා එයාට පාන්, විස්කෝතු ගේනවා.

කපුටා වෙළඳ පොළට ගිහිල්ලා රිදී පාට කඩදාසිවල ඔතලා තියෙන චොකලට් හොරකම් කරලා ගෙනැවිත් ඒ ළමයට දුන්නා.

ගෙම්බෝ කජු, කඩල, ඔරේනජ් බාර්ලි වගේ බීම ජාති ගෙනැවිත් දුන්නා.

රාජාලියා බැඳපු තාරාවකුව තෑගි කළා.

කුරුමිණි සත්තු පළු වර්ග ගේනවා.

සමනලයෝ එයාට ගෙනාව මල්වලින් ගන්නා රොන්, පරාග වගේ දේවල් එයින් එයා මූණට පුයර දැම්මා.

දළඹුවෝ දත් බෙහෙත් සහ දොරේ සරනේරුවට ගාන තෙල් ගෙනැවිත් තෑගි කළා.

ලිහිණි කුරුල්ලො එයාගෙ ගේ වටේ හිටිය මදුරුවන්වයි, දෙබරුන්වයි විනාශ කරලා දැම්මා.

නිල් කොණ්ඩකාර ගෑනු ළමයා ඇස් ඇරලා බැලුවා විතරයි, ඔළුව පහළට දමා ගෙන එල්ලිලා ඉන්න බුරතීනො දැක්කා.

ඈ කම්මුලට අතක් තියලා කෑ ගහලා මෙහෙම කිව්වා, :

"අනේ ! අපෝයි!"

ඔන්න එවිටම කන් දෙක සොළව, සොළවා අර්තමොන් බල්ලා ආවා. එයා පූඩ්ල් වර්ගයට අයත් බල්ලෙක්. එයාගෙ මූණයි, බෙල්ලයි මයිල්වලින් පිරිලා. ඒ මයිල් ලස්සනට හිටින්නට පීරලා තියෙනවා. වලිගය අගට කළු පීත්ත පටියකින් මලක් වගේ හිටින්ට ගැටයක් ගහලා. ඉස්සරහ එක කකුලක රිදී අත් ඔර්ලෝසුවක් බැඳලා.

"මම ලෑස්තියි !"

අර්තෙමොන් බලු පැටිය නහයෙන් ඉව අල්ලලා, උඩු තොල ඉස්සුවා. එයාගෙ සුදු පාට දත් පෙනුනා.

"අර්තමොන්, කාට හරි අඬ ගහන්න. අසරණ බුරතීනොව ගහෙන් ගළවලා ගෙදරට ගෙනෙන්න ඕන. වෙද මහත්තයට කියන්න ඕන." ගෑනු ළමයා කිව්වා.

"මම ලෑස්තියි!"

අර්තෙමොන් බොහොම සැරට උඩ පැන, පැන ලෑස්ති වුණ හන්දා දූවිලි පවා ඉහළට නැංගා.

අර්තෙමොන් කුඹි වාසය කරන තුඹස ළඟට ගිහිල්ලා බුරලා කුහුඹින්ව අවදි කරලා කුහුඹි හාර සිය දෙනකුව යැව්වා බුරතීනොව බැඳලා තියෙන ලනුව කපා දමන්නට.

කුහුඹි හාර සිය දෙනෙක් එක පෙළට ඕක් ගහට නැගලා දත්වලින් හපලා ලනුව කැඩුවා.

අර්තෙමොන් ගහෙන් බිමට වැටෙන විටම බුරතීනොව ඉස්සරහ ගාත් දෙකෙන් අල්ලා ගෙන ගෙදර ගෙනාවා. බුරතීනොව ඇඳ උඩ තියලා ඔන්න පස්සෙ අර්තෙමොන් ඉක්මණට දුවලා දුවලා ගිහිල්ලා කැලෑවෙ

ඉන්න ප්‍රසිද්ධ දොස්තර මහත්තයා වන බස්සාවයි, ඇපෝතිකරි ගෙම්බාවයි, වේලිච්ච ලී කෝටුවක් වගේ ඉන්න කෝටුකිතයියා - බොගොමොල් කුරුම්ණී වෙදමහත්තයාව අඬගහගෙන ආවා.

බසු දොස්තර බුරතීනොගේ පපුවට කන තියල මෙහෙම කිව්වා :

"ලෙඩාට පණ ඇතුවාට වැඩිය පණ නැතුවා වගෙයි." ඊට පස්සෙ එයා බසු ඔළුව පිටි කොන්ද පෙනෙන තුරු කරකැව්වා.

ගෙඹි ඇපෝතිකරි උන්නැහේ එයාගෙ තෙත ඇති අතින් බුරතීනොව අත ගගා ඇස් ගෙඩිවලින් වට පිට බැලුවා. ඉතින් බක බක ගාලා මෙහෙම කිව්වා :

"ලෙඩාට පණ නැතුවාට වැඩිය, පණ ඇතුවා වගෙයි..."

කුරුම්ණී කෝටුකිතයි වෙදරාළ කෙට්ටු අතින් ලෙඩාගෙ නාඩි අල්ලා මෙහෙම කිව්වා:

"දෙකින් එකයි. එක්කෝ ලෙඩා මැරිලා. නැත්නම් ජීවත් වෙනවා. ලෙඩා ජීවත් වෙනවා නම් එක්කෝ ජීවත් වේවි. නැතිනම් ජීවත් නොවේවි. ලෙඩා මැරිලා නම් එයාට පණ දෙන්නත් පුළුවනි, නොදෙන්නත් පුළුවනි."

"ඕවා ගොඩ වෙදකම්" මෙහෙම කියලා බසු දොස්තර අත්තටු ගසලා අඳුරු අට්ටාලයට ගියා.

ඇපෝතිකරි ගෙම්බාට තරහ ගිය හන්දා එයාගෙ මූණ තියෙන ඉන්නො ඔක්කොම පිම්බුනා.

"වෙදරාළගේ කතාව බොහොම නූගත්, අශිලාචාර කතාවක්. බක, බක!" ගෙම්බා එහෙම කියලා බිම්ගෙයි තෙතමනය ඇති තැනට ගියා.

වෙද මහත්තයා දර කෝටුවක් වගේ බොරුවට අඟවලා ජනේලයෙන් පිටතට වැටුණා.

ගැනු ළමයා එයාගේ පුංචි ලස්සන අත්වලින් අත් පුඩි ගහලා කතා කළා:

"රට වැසියනි, මෙයාට දෙන බෙහෙත් මොනවාද? "

"එඬරුතෙල්!" ගෙම්බා බිම්ගෙයි ඉඳලා බක බක ගාලා කිව්වා.

"ඔව්, ඔව්. එඬරු තෙල්! බස්සා අට්ටාලයේ ඉඳලා ආඩම්බරයෙන් කිව්වා.

එක්කෝ එඬරු තෙල් දෙනවා, නැතිනම් නොදෙනවා." එහෙම කිව්වේ ජනේලයෙන් එහා හිටිය වෙදරාළ.

අන්න එවිට, හොඳටම මහන්සි වෙලා, හෙම්බත් වෙලා හිටිය බුරතීනො කෙඳිරි ගාන්නට පටන් ගත්තා:

"මට එඬරු තෙල් එපා. මට කිසි අසනීපයක් නැහැ. මහන්සියක් නැහැ."

නිල් කොණ්ඩය ඇති ගැනු ළමයා බොහොම කරුණාවෙන් බුරතීනොට කතා කළා :

"බුරතීනො, හොඳ ළමයා වගේ නහය ඇඟිලි දෙකකින් වහගෙන, 'ගුඩුස්' ගාලා එකපාරට බොන්න."

"මට බැහැ. මට බැහැ, මට බැහැ!..."

"මම ඔයාට සීනි කැටයක් දෙන්නම්..." ගෑනු ළමයා කිව්වා.

එවිටම මී පැටියෙක් සීනි කැටයකුත් අරගෙන ඇඳ උඩට ආවා.

"ඔයාට කියන දේ අහලා බේත් බොන්න. මම ඔයාට සීනි කැටය දෙන්නම්."

"බේත් එපා, සීනි කැටය විතරක් දෙන්න..." බුරතීනො කිව්වා.

"ඔයා බේත් බොන්නේ නැති නම් මැරිලා යාවි..."

"ඔය එඬරු තෙල් බොනවට වැඩිය හොඳයි මැරිල යන එක..."

එතකොට ගෑනු ළමයා ලොකු කෙනෙක් වගේ ටිකක් සැරට කතා කළා :

"නහය වහ ගන්නවා. බොනවා... එකයි, දෙකයි, තුනයි."

ගෑනු ළමයා බුරතීනොගෙ කටට එඬරු තෙල් වත් කරලා, එවෙලෙම එයාට සීනි කැටයක්දීලා, එයාගෙ හිස අත ගෑවා.

"ඔන්න බීලත් ඉවරයි."

සියලු දෙනාට හොඳක් වෙනවාට කැමති ගුණවත් අර්තෙමොන් බලු පැටියා වලිගය හපා ගෙන බඹරයක් වගේ වටේට කැරකැවුණා. එයාට හරිම සන්තෝසයි.

## නිල් කොණ්ඩකාරිය බුරතීනොට හැසිරෙන හැටි කියා දෙයි

පහුවදා උදෑසන බුරතීනො නැගිට්ටේ කිසිම ලෙඩක් නැති, සනීප ඇති කෙනෙක් හැටියට.

ගෑනු ළමයා බුරතීනො එන තුරු වත්තේ මේසයක් උඩ සෙල්ලම් බඩු පිඟන් කෝප්ප තේ පෝච්චියක් තියා ගෙන බලා ගෙන හිටියා.

ගෑනු ළමයා හොඳට මුහුණ සෝදලා නහයටයි, කම්මුල්වලටයි මල් පරාගවලින් හදපු පුයර දාලා පිරිසිදුවට හිටියා.

එයා සමනළයින්ට යන්ටයි කියලා අතක් වැනුවා.

"ඉතින් ඔය ගොල්ල යන්න, යන්න."

ලී බෝනික්කා හෙවත් බුරතීනො දිහා බලාපු ගෑනු ළමයා මුහුණ ඇඹුල් කර ගත්තා. කොල්ලාට හිඳ ගන්ටයි කියලා කිව්වා. ඊට පසුව ඔහුට පුංචි කෝප්පයට කොකෝව වත් කළා.

බුරතීනො පුටුවේ වාඩි වුණේ කෙනෙක් පැදුරක් මත වාඩි වෙන විදිහට කකුල් නවලා පුටුව උඩ තබා ගෙනයි. කේක් කෑලි එහෙම පිටින්ම කටේ දාගෙන හපන්නේ නැතුව එක පාරටම ගිල්ලා.

ජෑම් දීසියට ඇඟිලි ඔබලා ඊට පස්සේ ඇඟිලි ලෙවකෑවා.

ගෑනු ළමයා මහලු කුරුමිණියකුට පුංචි පාන් කෑල්ලක් දෙන්නට පොඩ්ඩක් වෙන පැත්තකට හැරුනු හැටියේම, මේ කෑදර ලී කොල්ලා කොකෝව පෝච්චිය එක පාරටම කටේ තියා ගෙන බී ගෙන, බී ගෙන ගියා.

ඔන්න ඉන් පසුව, මේස රෙද්දට කොකෝව හැලුවා.

අන්න එවිට ගෑනු ළමයා සැරේට කතා කළාః

"නියම විදිහට පුටුව උඩ වාඩි වෙනවා. අතින් කෑම අල්ලන්න එපා. ඒවට හැඳි, ගෑරුප්පු තියෙනවා."

ගෑනු ළමයාට කේන්ති ගිය නිසා එයාගේ ඇසි පිය 'සට-සට' ගාලා එකට වැදුණා.

"ඔය ළමයට හැසිරෙන හැටි කියා දුන්නේ කවුද? කරුණාකරලා කියන්න."

"සමහර දාට කාර්ලො තාත්තා, සමහර දාට කිසිවෙක් නැහැ." බුරතීනො උත්තර දුන්නා.

"මීට පස්සේ ඔය ළමයට හැසිරෙන හැටි මම කියා දෙන්නම්. ඒ ගැන මතක තබා ගන්න." ගෑනු ළමයා කිව්වා.

"ඔන්න මම උගුලක වැටුණා!" බුරතීනො කල්පනා කළා.

ගෙවත්තේ තණ කොළ පිටියේ හිටිය අර්තෙමොන් පුංචි කුරුල්ලන් එළවන්නට පටන් ගත්තා. පුංචි කුරුල්ලෝ ගහේ අතුවල වහපුවාම අර්තෙමොන් ඔළුව උඩට හරවා ගෙන බුරලා, බුරලා, උඩු බුරලනවා.

"කුරුල්ලන් එළවන්න හරි හපනා." අර්තෙමොන් දිහා බලා බුරතීනො කල්පනා කළා.

දෙපා බිම වැදෙන්නට හොඳට පුටුව උඩ වාඩි වී සිටි නිසා බුරතීනොගේ දෙපා දිගේ කුඹි නගින්නට පටන් ගත්තා වගේ දැනුණා.

ඔන්න යන්තම් උදේ කෑම ගැනීම අවසන් වුනා. ගෑණු ළමයා බුරතීනොට කීවා නහයේ තියෙන කොකෝවා මණ්ඩි පිහ දාගන්ටයි කියලා. ගෑනු ළමයා නැගිටලා එයාගෙ ගවොමේ රැළි හොඳට හදා ගෙන. කොණ්ඩෙට බැඳලා තිබුණ පීත්ත පටිය හරි ගස්සා ගෙන, බුරතීනොගෙ අතින් අල්ලා ගෙන එයාව ගෙදර ගෙන ගියා එයාට උගන්වන්නට.

අර්තෙමොන් බලු උන්නැහේ කොච්චර බුරන්නට හිටියත්, පුංචි කුරුල්ලෝ එය ගණන් ගන්නේ නැතුව 'කීචි, චීචි' ගගා නාද කළා. අත්තෙන් අත්තට පැනලා සෙල්ලම් කළා.

"ඔයා ඇඳ ගෙන ඉන්න වැරහැලි ගළවා දමන්න. ඔයාට හොඳ කබායකුයි, කලිසමකුයි මහලා දෙන්නම්." ගෑනු ළමයා කිව්වා.

ඔන්න එතකොට ඇඳුම් මහන ටේලර්ලා හතර දෙනෙක් ආවා. එක් කෙනෙක් සිංගි ඉස්සෙක්. අනිකා අළු පාට කොට්ටෝරුවා. තුන්වැනියා දිග අඬු ඇති කුරුමිණියා. හතරවැනියා මී හාමිනේ. ගෑනු ළමයාගේ පරණ

ඇඳුම්වලින් ලස්සන පිරිමි ඇඳුමක් මහන්න පටන් ගත්තා. සිංගි ඉස්සා රෙදි ඕන ගණනට කැපුවා. කොට්ටෝරුවා රෙදි මහන්නට පුංචි සිදුරු හොටෙන් ඇනලා හැදුවා. කුරුමිණියයි, මී හාමිනේයි ඒවා මැහුවා.

ගැනු ළමයාගේ පරණ ඇඳුම් අඳින්ට බුරතීනොට ලැජ්ජයි. නමුත් එයාට සිද්ධ වුණා කොහොම හරි ඒ ඇඳුම් ඇඳ ගන්නට. නහයෙන් හඬක් පිට කරලා එයා රන් කාසි හතර අළුත් කලිසම් සාක්කුවේ දමා ගත්තා.

"දැන් ඉතින් ඉඳ ගන්න. අත් දෙක මේසය උඩ තියා ගන්න. කුදු ගැහෙන්නට එපා." මෙහෙම කියලා ගැනු ළමයා රට හුණු කෑල්ලක් අතට ගත්තා. "බුරතීනො, අපි දැන් අංක ගණිතය ඉගෙන ගනිමු... ඔන්න ඔයාගෙ සාක්කුවේ ඇපල් ගෙඩි දෙකක් තියෙනවා..."

බුරතීනො කපටි ලෙස ඉඟි මැරුවා:

"මොන බොරුද, එක ඇපල් ගෙඩියක් වත් මා ළඟ නැහැ."

"මම කියන්නේ උදාහරණයක් විදිහටයි. අපි සිතමු, බුරතීනොගෙ සාක්කුවේ ඇපල් ගෙඩි දෙකක් තියෙනවයි කියලා. ඔන්න කවුරු හරි ළමයෙක් ඔයාගෙ සාක්කුවෙන් ඇපල් ගෙඩියක් ගත්තා. එතකොට ඔයා ළඟ ඇපල් ගෙඩි කීයක් ඉතුරු වෙලා තියෙනවද?" ගැනු ළමයා බොහොම ඉවසීමෙන් බුරතීනොට විස්තර කළා.

"දෙකක් ඉතුරුයි."

"හොඳට කල්පනා කරලා බලන්න."

බුරතීනො නළල රැළි ගන්වා ගෙන කල්පනා කළා.

"දෙකක් ඉතුරුයි..."

"ඒ මොකද?" ගැනු ළමයා ඇසුවා.

"මම කාටවත් ඇපල් ගෙඩියක් දෙන්නේ නැහැ. එයා සණ්ඩු කළත් දෙන්නේ නැහැ!"

ගැනු ළමයා බොහොම කනගාටුවට පත් වෙලා මෙහෙම කිව්වා : " අනේ, බුරතීනො, ඔයාට අංක ගණිතයට කිසිම හැකියාවක් නැහැ. අපි දැන් කියවන විට ලිවීම පටන් ගනිමු."

ගැනු ළමයා එයාගෙ ලස්සන ඇස් දෙකින් සීලිම දිහා බල ලා මෙහෙම ලියන්න කියලා කිව්වා: "ච-ඩු-ම-ඩු-ච. දැන් ඒ වචනය අග ඉඳලා මුලට කියවන්න."

ඔය ළමයි දන්නවා නොවැ බුරතීනො හෝඩි පොතවත් කියවලා නැති බව. තීන්තයි පෑනයි එයා කවදාක වත් දැකලා නැති බව.

"ඉතින් ලියන්න." ගැනු ළමයා ඉල්ලා හිටියා. බුරතීනො පෑන වෙනුවට එයාගෙ දිය නහය තීන්ත කුඩුවට එබුවා. නහය එළියට ගත්තු හැටියේම, තීන්ත බින්දු පොතට වැටුණා. මෙය දැකපු ගමන් බුරතීනො බිය වුණා.



ගැනු ළමයාට බොහොම ලොකු දුකක් ඇති වුණා. එයාගෙ ඇස්වලින් කඳුළු ගැලුවා.

"ඔයා හරිම නරකම නරක දඟකාර කොල්ලෙක් ! ඔයාට දඬුවම් කරන්නට ඕන!"

එයා ජනේලයෙන් පිටතට හිස දමලා අර්තෙමොන් බලු රාළට කතා කළාඃ

"අර්තෙමොන්, මේ බුරතීනොව කළුවර කාමරේට ගෙනියල දාන්න!"

උදාර අර්තෙමෝන් ඇවිත් එයාගෙ සුදු පාට දත් විරිත්තලා, බුරතීනොගෙ කබාය කටින් අල්ලා ගෙන, එයාව කළුවර කාමරයට ගෙනිච්චා. ඒ කළුවර කාමරේ මකුළු දැල්වල විශාල මකුළුවො හිටියා. අර්තෙමොන් බුරතීනොව කළුවර කාමරේ දාලා දොර වහලා, එයාව බය කරන්න දෙතුන් පාරක් බුරලා, කුරුල්ලන්ව එළවන්නට ගෙවත්තට ගියා.

ගැනු ළමයා එයාගෙ සෙල්ලම් බඩු ඇඳට වෙලා කණගාටුවෙන් සුසුම්ලන්නට වුණා. මොකද දන්නවද ලීයෙන් හදාපු බුරතීනො කොල්ලාට දඬුවම් කරන්න සිද්ධ වුණු හන්දා. ඒ වුණාට ළමයකුට හොඳ සිරිත් උගන්වන්නට ඕන නම්, ඒ වැඩය නිසි ලෙසම කරන්න ඕන.

බුරතීනො කළුවර කාමරයේ ඉඳගෙන කල්පනා කළාː

"හරිම මෝඩ කෙල්ලක් නොවැ... හරිම ගුරිවරියක් නොවේද... ඒ කෙල්ලගෙ ඔළුව හදලා තියෙන්නෙ පිගන් මැටියෙන්. එයාගෙ ඇඟට පුළුන් පුරවලා. ඒ වුණාට මට නුවණ කියන්න එනවා..."

කළුවර කාමරේ දත් මිටි කන සද්දයක් ඇහෙනවා. බොහොම සිහින් සද්දයක්...

"මම කියන දේ අහපන්..."

බුරතීනො එයාගෙ තීන්ත පෙඟුණු නහය ඔසවලා උඩ බැලුවා. සතෙක් ඔළුව පහළට දමා ගෙන සිවිලිමේ එල්ලිලා ඉන්නවා. ඒ තමයි වවුලා.

"කතා කළේ නුඹද?"

"බුරතීනො, රෑ වන තුරු ඉඳපන්."

"නුඹලා ශබ්ද කරන්න එපා. අපේ මකුළු දැල්වලට මැස්සන් අසු නොවන්නට පුළුවනි..." එහෙම කිව්වේ මකුළුවෝ.

බුරතීනො කැඩිච්ච මැටි බඳුනක් උඩ වාඩි වෙලා නිකටට අතක් තියා ගෙන කල්පනා කළා. ඔහු මීට වැඩිය වැඩි නරක තත්ත්වයකට වැටිලා තියෙනවා. නමුත් මේ අසාධාරණ ක්‍රියාව නිසා බුරතීනො බොහොම කණගාටුවට පත් වුණා. කෝප වුණා.

"ඔහොමද ළමයින්ට උගන්වන්නෙ?... මේක මහ වදයක්, උගැන්වීමක් නොවෙයි. ඔහොම වාඩි වෙයන්... මෙහෙම වාඩි වෙයන්.. ළමයා තවමත් හෝඩි පොතේ අකුරු දන්නේ නැහැ. එක පාරටම තීන්තෙන් ලියන්නලු.. අර බලු රාළට නිදහස තියෙනව කුරුල්ලන්ව එළවන්ට. එයාට දඬුවම් කරන්නේ නැහැ..."

වවුලා ආයෙමත් බුරතීනොට කතා කළා ː

"රෑ වන තුරු ඉන්න, බුරතීනො. මම ඔයාව මෝඩයින්ගේ රටට ගෙන යන්නම්. ඔයාගෙ යාළුවෝ එහෙ ඉන්නව. හිවල් හාමිනෙයි, බළල් තඩියයි. එහෙ වාසනාවයි, ප්‍රීතියයි තියෙනවා. රෑ වෙන කල් බලා ගෙන ඉන්න."

## මෝඩයින්ගේ රටට බුරතීනො පැමිණෙයි

නිල් පාට හිසකෙස් තියෙන ගෑනු ළමයි කළුවර කාමරේ දොර ළඟට ඇවිත් කතා කළා ː

"බුරතීනො, ඔයා හොඳ ළමයෙක් වගේ ඔයාගේ හැසිරීම නිසා දුක් වෙනවද?"

"මට වුවමනාවක් නැහැ දුක් වෙන්නට. ඒ ගැන බලාපොරොත්තු වෙන්න එපා..."

"එහෙනම්, ඔයාට උදේ එළිය වැටෙන කල් කළුවර කාමරේ ඉන්න වේවා..."

ගැනු ළමයා කණගාටුවෙන් හූල්ලලා යන්න ගියා.

රෑ වුණා. බස්සා අට්ටාලයේ ඉඳලා කෑ ගැසුවා. ගෙම්බා බිම් ගෙයින් එළියට ආවා. හඳ පානේ මඩ වතුරේ ලගින්නට.

ගැනු ළමයා ගෙත්තම් වැඩ සහිත එයාගෙ සෙල්ලම් බඩු ඇඳට වෙලා කණගාටුවෙන් කල්පනා කළා. එයාට නිදිමත හැදුනා.

අර්තෙමොන් වලිගය විකා ගෙන ගැනු ළමයගෙ නිදන කාමරේ දොර ළඟට වෙලා නිදා ගත්තා.

ගෙදර ඔර්ලෝසුවේ දොළහ වැදුණා. වේලාව රෑ දොළහයි.

වවුලා බිමට පාත් වුණා.

"බුරතීනො, වෙලාව හරි. දුවන්න! කළුවර කාමරේ මුල්ලක තියෙනව බිම්ගෙයි උෟරු මීයා යන එන ලොකු සිදුරක්. එතැනින් රිංගලා යන්න. මම දිය කඩිත්ත ළඟ බලාගෙන ඉන්නම්." වවුලා එයාගෙ කනට ළං කරලා කිව්වා.

වවුලා පුංචි සිදුරකට ඉගිලිලා ගියා. බුරතීනො මකුළු දැල්වල පැටලිලා මුල්ලකට වැදුණා. මකුළුවෝ කේන්තියෙන් ඔරවන්ට වුණා.

බුරතීනො උෟරු මීයා යන සිදුරට රිංගලා බිම්ගෙට ගියා. බිම් ගේ එන්න එන්නම පටු වේගෙන යනවා. දැන් එයා බොහොම අමාරුවෙන් රිංගන්න පටන් ගත්තා . හිටි හැටියේම බුරතීනො ඔළුව බිමට හරවා ගෙන පාතාලයට වැටුණා.

පාතාලයේ මී උගුලට තව පොඩ්ඩෙන් බුරතීනො අහුවෙනවා. ගැරඬියකුගේ වලිගය තව පොඩ්ඩෙන් පාගනවා. ඒ වේලාවේ ගැරඬියා කිරි කෝප්පයක් බීලා ඉවර කළා විතරයි. බළලා යන එන සිදුරෙන් ඔහු දිය කඩිත්ත ළඟට ආවා.

නිල් පාට මල්වලට ඉහළින් වවුලා නිහඬව පියාඹනවා.

"බුරතීනො, අපි මෝඩයින්ගේ රටට යමු!" එහෙම කිව්වේ වවුලා. "මා පස්සෙන් එන්න."

වවුලන්ට කුරුල්ලන්ට වගේ වලිග නැහැ. ඒ නිසා කෙළින් පියාඹන්න වවුලාන්ට බැහැ. වවුලා පියාසර කරන්නේ ඉහළටයි, පහළටයි. වවුලන්ගේ අත්තටුවල පටලයක් තියෙනවා. වවුලාගේ කට නිතරම ඇරිලා. පියාඹන ගමන්ම පුංචි මැස්සන්, රෑ සමනළයින් වගේ සතුන්ව උෟ ගිල දමනවා.

බුරතීනො වවුලා පස්සේ දුවනවා, එයාගෙ කන ළඟටම වැඩුණු පඳුරු ඇති බිමක. මඩ කැටි එයාගෙ මුහුනේ පවා තැවරිලා.

හිටි හැටියේම වවුලා උඩට පියාඹලා කාටදෝ කෑ ගහලා මෙහෙම කිව්වා:

"ඔන්න මම එයාව ගෙනාව!"

එතකොටම බුරතීනො කන්දෙන් පහළට පෙරළීගෙන, පෙරළීගෙන ගියා. පඳුරක් ඇතුළට ගිහිල්ලා තමා නැවතුණේ.

ඇඟ සේරම සීරිලා, කට පුරා වැලි. ඇස් තෙරා ගෙන බිම වාඩි වුණා.

"මඳෑ වැඩක හැටි!..."

එයාගෙ ඉස්සරහ පිට බැසීලියො බළල් තඩියයි, අලීසා හිවල් හාමිනෙයි හිටියා.

"බුරතීනො බොහොම නිර්භීත, වීරයා. මෙතැනට පාත් වුණේ, හඳේ ඉඳල වෙන්න ඕන." කපටි අලීසා කිව්වා.

"පුදුමයි, එයා කොහොමද තවමත් ජීවතුන් අතර ඉන්නෙ." බළල් තඩියා කෙඳිරි ගෑවා.

බුරතීනො පරණ මිතුරන්ව දැකලා සතුටු වුණාට එයාට සැක ඇති වුණා. බළලාගේ දකුණු කකුල වෙළුම් පටියකින් බැඳලා. හිවල් හාමිනේගේ වලිග යේ මඩ තැවරිලා.

"හොඳක් නැතිව නරකක් වෙන්නෙ නැහැ. ඒ වුනාට නුඹ මෝඩයින්ගේ රටට ආවා." අලීසා කිව්වා.

අලීසා ඉස්සරහ පය ඔසවලා වේලිච්ච ගඟක් හරහා සාදලා තියෙන පාලමක් පෙන්නුවා. එහා පැත්තේ කුණු ගොඩක් තියෙනවා. ඒ කුණු ගොඩ මැද බාගෙට කැඩිච්ච ගෙවල්. බාගෙට මැරිච්ච ගස්. ඒ ගස්වල අතු කඩා දමලා. සීනු සහිත කණු ඒ අතට මේ අතට නැමිලා ඇද වෙලා...

"මෙන්න මේ නගරයේ කාර්ලො තාත්තාට තෑගි දීමට හොඳ කබා විකුණනවා. ඒ හාවුන්ගේ ලොම්වලින් හදා තියෙන්නේ. ලස්සන, ලස්සන පින්තූර සමග හෝඩි පොත් තියනවා. බොහොම රස ලොසින්ජර ජාති, කේක් වර්ග, සීනි කෑම විකුණනවා ! ඉතින් මගෙ බුරතීනො හොඳ ළමයා, ඔයා තවම සල්ලි නැති කර ගත්තේ නැහැ නේද?" අලීසා විස්තර කරලා, ප්‍රශ්නයක් ඇහැව්වා.

අලීසා එයාට නැගිට ගන්ට උදව් කරලා කබායේ තැවරිලා තිබිච්ච වැලි පිහදාලා දැම්මා. පාලමෙන් එහා පැත්තට අඬගහගෙන ගියා.

බැසීලියෝ බළල් තඩියා ඔවුන් පිටු පසින් ගියා.

දැන් රෑ යාමෙත් පහුවෙලා. ඒ වුණාට මෝඩයින්ගේ රටේ එකෙක්වත් නිදි නැහැ.

කුණු පිරිච්ච, ඇද වුණු පාර දිගේ බොහොම කෙට්ටු බල්ලෝ ඇවිද්දා. උන් බඩගිනි හන්දා ඇනුම් හැරියා. උන්ගේ ඇඟ පුරාම කුණු.

"අනේ, අනේ!..."

මයිල් හැලිච්ච කුණු තවරා ගත්තු එළුවෝ, පදික වේදිකාව ළඟ තිබුණු දූවිලි ගෑවුණු තණ කොළ කකා වලිග නැටෙව්වා.

'බෑ, බෑ, බෑ' කියලා උන් හඬ නැගුවා.

හොඳටම කෙට්ටු කටු පෑදිච්ච, හරකෙක් ඔළුව පහළට දමා ගෙන උන්නා.

"ගෝත කරුමයක්..." හරකා සෙමින් කිව්වා.

පිහාටු, මයිල් හැලිච්ච කුරුල්ලෝ මඩ ගොඩවල හිටියා. පයින් පෑගුවත් උන් ඉගිලිලා යන්නේ නැහැ...

වලිගවල පිහාටු නැති බොහොම කෙට්ටු කුකුලෝ වැනි වැනි ගියා...

ඒ වුණාට මහා පාරේ හන්දිවල හිටියේ බුල්ඩෝග් වර්ගයට අයත් පොලිස් බල්ලො. තුන් හුලස් තොප්පි ඔළුවේ දා ගෙන, උල් කටු සහිත කර පටි පැළඳ ගෙන හිටියා.

පාරේ යන - එන බඩගිනි කාර මහන්සි වෙච්ච පුරවැසියන්ට පොලිස් බල්ලො කෑ ගැහැව්වා:

"පලයව් දකුණු පැත්තෙන්! නැවතීම තහනම් !"

හිවල් හාමිනේ බුරතීනොව වීදියේ ඈතට ගෙන ගියා. පදික වේදිකාවේ හොඳට කාපු, බීපු තරබාරු බළල්ලු රත්තරන් ඇස් කණ්ණාඩි ඇස්වල දමා ගෙන බැළලියන්ව අතින් අල්ලා ගෙන ඇවිදිනවා. බළල් හාමිනේලා ඇඳලා හිටියේ ලස්සන පුංචි තොප්පි.

බොහොම තරබාරු හිවලෙක් නහය උඩට දමා ගෙන බොහොම ආඩම්බර විදිහට ඇවිදිනවා. ඔහු අසලින් වැදගත් හිවලියක් ඔහුගේ අතට අත දමා ගෙන ඇවිදිනවා. ඒ හිවලියගේ අතේ රෑට පිබිදෙන මලක් තියෙනවා. ඒ හිවලා මෝඩයින්ගේ රටේ ආණ්ඩුකාරයා.

අලීසා බුරතීනොගෙ කණට කොඳුරා මෙහෙම කිව්වා :

"හාස්කම් තියෙන පොළවෙ රන් කාසි පැල කරපු අය තමා ඔය ඇවිදින්නෙ... අද තමයි කාසි පැල කරන්න පුළුවන් අන්තිම දවස. උදේ වෙන විට ගස්වල රන් කාසි ගොඩවල් වැව්ලා. ඕන තරම් බඩු මුට්ටු ගන්ට පුළුවනි... අපි ඉක්මන් කරමු..."

අලීසා බුරතීනොව අඩගහ ගෙන ආවෙ, කැඩුණු බිඳුණු හැළි වලං, සපත්තු, කුණු රොඩු, පරන රෙදි කෑලි වීසි කරලා තිබුණු තැනකට... අලීසයි, බැසීලියොයි හරි හරියට ඉක්මණට මෙහෙම කිව්වා :

"වළක් හාරපන්"

"රන් කාසි දමාපන්"

"දිය ලුණු ටික දමාපන්"

"දිය කඩිත්තෙන් වතුර අරගෙන වළට ඉහපන්, හොඳට ඉහපන්."

" 'ඕං ගිරිත් කට්ටු, කට්ටු' කියලා මතුරන්ට අමතක කරන්න එපා."

තීන්ත ගෑවිලා තිබුණු නහය බුරතීනො කසන්නට වුණා.

"කොහොම වුණත් ඔය දෙන්නා ඈතට යන්න... " එහෙම කිව්වේ බුරතීනො.

"අනේ දෙවියනේ, නුඹ රන් කාසි වළලන තැන බලන්න අපට ඕන නැහැ!" අලීසා බොරු අමනාපයකින් කිව්වා.



"අනුන්ගේ රත්තරන්, මම අරන් මක්කරන්නද!" බැසීලියෝ කට කතාවක් මතක් කළා.

මේ දෙන්නා තරමක් දුර කුණු ගොඩකට මුවා වෙලා බලා ගෙන හිටියා.

බුරතීනො වළක් හාරලා "ඕං ගිරිත් කට්ටු, කට්ටු" කියලා මතුරලා රන් කාසි හතර වළට දමා, සාක්කුවෙන් දිය ලුණු ටිකක් ඉහලා, පස් දාලා වළ වැහුවා. ඊට පස්සෙ දිය කඩිත්තෙන් වතුර ගෙනැවිත් වත් කළා.

ගහ පොළවෙන් මතුවී වැඩෙන කලියෙන් එතැන වාඩි වුණා...

## පොලිස් බල්ලෝ බුරතීනොව අල්ලා ගනිති

අලීසා මුලින් කල්පනා කළේ බුරතීනො රන් කාසි වළදාලා නිදා ගන්න යාවී කියලා. නමුත් බුරතීනො සල්ලි ගහ පැලවන තුරු කුණු ගොඩේ වාඩි වෙලා නහයත් දිගු කරගෙන බලා ගෙන හිටියා.

ඔන්න එවිට, අලීසා බුරතීනොව බලා ගන්නයි කියලා බළලාට බාරදීලා ළඟම තියෙන පොලිසියකට ගියා.

එතැන සිගරට් දුමින් පිරිච්ච පොලිස් කාර්යාලයේ, තීන්ත ඉහිරිච්ච ලියන මේසය ළඟ පොලිස් බල්ලා ගොරව, ගොරවා නිදි.

අලීසා බොහොම අහිංසක කට හඬක් මවා ගෙන කත කළා:

"නිර්භීත පොලිස් රාළහාමි මහත්තයෝ, අම්මා තාත්තා නැති හොර කොල්ලෙකුව අල්ලා ගන්න ඔබට ඉඩක් තියෙනවද? බොහොම භයානක කොලු පැංචා. නගරයේ පොහොසත් අයටයි, ගරු කටයුතු අයටයි විශාල තර්ජනයක්."

"හොර කොල්ලෙක්ද - හව්, හව්!"

භයානක හොර කොල්ලෙක් වන බුරතීනො කුණු ගොඩ ගහලා තියෙන තැන ඉන්නා සැටි අලීසා හිවල් හාමිනේ විස්තර කළා.

පොලිස් බල්ලා බුරලා සීනුව නාද කළා. එතකොටම පින්චර් වගර්යට අයත් බල්ලො දෙන්නෙක් ආවා. උන් දෙන්නා උපන් ගෙයි රහස් පරීක්ෂකයො. උන් කාව වත් විශ්වාස කරන්නේ නැහැ. කිසි දවසක රාජකාරි වේලාවේදී නිදා ගත්තේ නැහැ. අපරාධකාර හැඟීම් ගැන උන් දෙන්නා උන්වම අවිශ්වාස කළා.

කාර්යාලයේ හිටිය බුල්ඩෝග් වර්ගයට අයත් පොලිස් බල්ලා මේ දෙදෙනාට අණ කලා පණ පිටින් හරි පණ නැතුව හරි හොර කොල්ලාව පොලීසියට ගෙනෙන්නයි කියලා.

රහස් පරීක්ෂක බල්ලො දෙන්නා කෙටියෙන් උත්තර දුන්නාඃ

"බුහු !"

උන් දෙන්නා අපූරු තාලයකට දුවන්න පටන් ගත්තා. පස්සා ගාත් දෙක ඇදේට හිටින ආකාරයකටයි දිව්වේ.

අවසාන පියවර සියය උන් දෙන්නා බඩගාමින් ගිහිල්ලා හිටි හැටියේම බුරතීනොගේ ඇඟට කඩා පැන්නා. එයාගෙ කිහිලි කෙටියෙන් අල්ලා ගෙන පොලීසියට ගෙන ගියා.

බුරතීනො දෙපා වන වනා කෑ ගැසුවාඃ "මොකටද මාව පොලීසියට ගෙනියන්නේ? මොකටද?"

"පොලීසියේදී දැනගන්න ලැබේවි." බල්ලො දෙන්නා පිළිතුරු දුන්නා.

අලීසයි, බැසීලියොයි ඉක්මණට වළ හාරා රන් කාසි හතර එළියට ගත්තා. අලීසා කොතරම් කපටි ලෙස කාසි බෙදුවද කියනව නම් එයාට කාසි තුනකුයි, බළලට එක කාසියකුයි ලැබුණා.

බළලා කතා නොකර නියපොතුවලින් හිවල් හාමිනේගෙ මූණ සූරා දැම්මා.

හිවල් හාමිනේ ඉස්සරහ ගාත් දෙකෙන් බළලාව අල්ලා ගත්තා. මේ විදිහට දෙන්නා කුණු ගොඩ උඩ පොර කා ගත්තා. හඳ පානේ මඳ සුළඟේ බළල් මයිල් සහ හිවල් මයිල් පාවෙලා ගියා.

දෙන්නම ගුටි ඇන ගත්තා. මුදල් හරි හරියට දෙන්නට බෙදා ගෙන නගරයෙන් පැනලා ගියා.

ඒ අතර පොලිස් කාරයෝ බුරතීනොව පොලීසියට ගෙනාවා.

කාර්යාලයේ හිටිය බුල්ඩෝග් එළියට පැනලා බුරතීනොව හෝදිසි කළා. සීනි කෑල්ලකුයි, විස්කෝතු කෑල්ලකුයි විතරයි එයා ළඟ තිබුණේ. බුල්ඩෝග් පොලිස් බල්ලා ලේ පිපාසයෙන් බුරතීනොට බුරලා මෙහෙම කිව්වා :

"නුඹ අපරාධ තුනක් කරලා තියෙනවා. නුඹට දෙමාපියන් නැහැ. නුඹට පාස්පෝට් බලපත්‍රයක් නැහැ. නුඹට රස්සාවක් නැහැ. මේ කොල්ලාව නගරයෙන් පිටත තියෙන පොකුණට ගෙනියලා ගිල්වා දමා පල්ලා."

රහස් පරීක්ෂක බල්ලො දෙන්නා ආයෙමත් උත්තර දුන්නා :

"බුහු !"

බුරතීනො කාර්ලො තාත්තා ගැනයි. එයාගෙ හපන්කම් ගැනයි විස්තර කරන්න උත්සාහ ගත්තා. කවුරුවත් ඒ ගැන ඇහුවේ නැහැ. බල්ලො දෙන්නා බුරතීනොව අරගෙන නගරයෙන් එපිට පාළම උඩට ගෙන ගිහිල්ලා කුණු, මඩ පොකුණට වීසි කළා. ඒ පොකුණේ, ගෙම්බෝ, කූඩැල්ලෝ, කුරුමිණි පණු සලබයෝ පිරිලා.

බුරතීනොව පොකුණට වීසි කළ විගස කොළ පාට පෙඳ පාසි වතුරට ඔහු යට වුණා.

## බුරතීනො පොකුණේ වාසය කරන්නන් හඳුනා ගනී.
## රන් කාසි හතර නැති වුණ බව දැන ගනී.
## තෝර්තිල ඉබ්බාගෙන් රන් යතුරක් ලබා ගනී.

ළමයින්ට මතක ඇති නෙ, බුරතීනො ලී බොනික්කෙක් බව. ඒ නිසා වතුරට දැම්මට ගිලුණෙ නැහැ. ඒ වුණාට වතුරට වැටුණු හැටියේම එයා බොහොම බය වුණා. එයාගෙ ඇඟ පුරා පෙඳ පාසි.

පොකුණෙ වාසය කරන සේරමල්ලා බුරතීනොව වට කර ගත්තා. බොහොම ප්‍රසිද්ධ මෝඩයින් වන ඉස්ගෙඩියො, හබල් වගෙ කකුල් ඇති ජල කුරුමිණියො, කූඩැල්ලො, හැම දෙයක්ම කාලා තමන්වත් කා ගන්නා පණුවො එයාව වට කර ගත්තා.

ඉස් ගෙඩියො බුරතීනොව කිති කවලා. එයාගෙ ඔළුවේ තිබුණු තොප්පියේ කුඩුම්බිය හපන්නට වුණා. කූඩැල්ලො සාක්කුවලට රිංගා ගත්තා. එක ජල කුරුමිණියෙක් එයාගෙ දිග නහය දිගේ ගිහිල්ලා වතුරට පැන්නා. එහෙම කීප වාරයක්ම එයා සෙල්ලම් කළා.

බොහොම පුංචි සත්තු මොනව හරි කෑමට හොයා ගන්නට බුරතීනොට ළං වුණා. ඒ වුණාට ඒ ගොල්ලා ජල කුරුමිණියගෙ සලබ පනුවන්ගේ කටට අහු වෙලා උන්ට ගොදුරු වුණා.

බුරතීනොට උහුලා ගෙන ඉන්ට බැහැ. එයා වතුරට අතින් පයින් ගැහැව්වා.

"පලයව් යන්ට ! මම නුඹලාට කෙට්ටු පූසි පැටියෙක් නොවෙයි."

පුංචි ජල සත්තු ඇත් වෙලා පීනා ගෙන ගියා. බුරතීනො මූණින් අතට හැරිලා පීනන්න පටන් ගත්තා.

නෙලුම් කොළවල ලොකු කටවල් ඇති, මොර ගෙඩි වගේ ඇස් ඇති ගෙම්බෝ වාඩි වෙලා හිටියා. උන් බුරතීනොව දැකලා මෙහෙම කිව්වා :

"ඔය පීනන්නේ බූවල්ලෙක්" එක ගෙම්බෙක් බක බක ගෑවා.

"එයාගෙ නහය හරියට කොකාගෙ හොට වගේ දිගයි" දෙවැනි ගෙම්බා කිව්වා.

"ඔය තමා මුහුදු ගෙම්බා" එහෙම කිව්වේ තුන්වැනි ගෙම්බා.

බුරතීනො හති අරින්ට විශාල කොළයකට ගොඩ වුණා. ඒ කොළය උඩ දණහිස් අල්ලා ගෙන වාඩි වෙලා වෙවුල, වෙවුලා කතා කළා. එයාගේ දත් තද සීතල හන්දා 'ටක් -ටක් ' ගාලා එකට වැදෙනවා.

"දැන් මේ වේලාවට ඔක්කොම පිරිමි ළමයි සහ ගෑනු ළමයි කිරිබීලා හොඳ උණුසුම් ඇඳන්වලට වෙලා නිදි. මම විතරක් මේ තෙත ඇති කොළය උඩ. ඔය ගෙඹි මාමලාට නැන්දලාට පින් අයිති වෙයි, මොනවා හරි කෑමට දෙනවා නම්..."

ගෙම්බන්ගේ ඇඟ ඇතුළෙ තියෙන්නෙ සීතල ලේ. ඒ වුණාට ඒ ගොල්ලන්ට හදවතක් නැතැයි කියල සිතන්න එපා. බුරතීනො හීතලේ වෙවුල, වෙවුලා එයාගෙ හපන්කම් ගැන විස්තර කළාම, ගෙම්බෝ එක එකා පොකුණට පැනලා දිය යටට කිමිදිලා පොකුණේ පතුලට ගියා.

දිරච්ච මැස්සෙකුව, කුරුම්ණි පිහාටු, කුණු වෙච්ච ජල ශාක, ඉස්සන්ගෙ බිත්තර, දිරච්ච මුල් කෑලි ගෙම්බෝ ගෙනාවා.

මේවා බුරතීනො වාඩි වෙලා හිටිය කොළය උඩ තියලා ගෙම්බො තමන් හිටිය කොළ උඩට වෙලා ලොකු කටවල් දිගු කර ගෙන, මොර ගෙඩි වගේ ඇස් නෙරා ගෙන බුරතීනො දිහා බලා ගෙන හිටියා.

බුරතීනො ඒවා ඉව අල්ලා, දිව ගාලා බැලුවා.

"අපොයි මට වමනෙ යන්න එනවා. මොන ජරාවක්ද!..." එයා කිව්වා.

අන්න එවිට ගෙම්බෝ ආයෙමත් වතුරට පැනලා දිය යටට ගියා...

පෙඳ පාසි තට්ටුව කැලැත්තිලා නයකු වගේ ඔළුවක් තියෙන සතෙක් පීනා ගෙන ආවා බුරතීනො වාඩි වෙලා හිටිය කොළය උඩට. ඒ සතාගෙ ඔළුව දිහා බලන්නත් බයයි.

බුරතීනො කොතරම් බය වුණාද දන්නවද! එයාගේ හිසේ කෙස්ගස් බය නිසාම කෙළින් හිටියා. තව පොඩ්ඩෙන් එයා ආයෙමත් වතුරට වැටෙනවා.

ඒ නයෙක් නොවේ. එයා භයානක සතකුත් නොවෙයි. ඒ තමා බොහොම නාකි ඉබ්බා. එයාගෙ නම තෝර්තීල. එයාගෙ ඇස්වල පෙනීම හොඳ මදි.

"ආ, ඒ උඹද මොලේ නැති මෝඩ කොල්ලා. කපටියන්ව විශ්වාස කරන්නා.

නුඹට ගෙදරට වෙලා පාසල් යන්න බැහැ. මෝඩයින්ගේ රටට ආපු විසේ ඇති මෝඩයා."

"ඉතින් මම කල්පනා කළේ කාර්ලො තාත්තාට සල්ලි වැඩියෙන් ගිහිල්ලා දෙන්නයි... මම බොහොම හොඳ, ගුණ යහපත් කොල්ලෙක්..."

"නුඹේ සල්ලි හිවලියයි බළලයි හොකරම් කර ගත්තා. ඒ දෙන්නා පොකුණ ළඟට ඇවිත් වතුර බොන්න නතර වුණා. මට උන්ගේ කතාව ඇහුනා. නුඹ මෝඩයා වගෙ වළලපු සල්ලි උන් අරගත්තා. පස්සේ බෙදා ගන්න බැරුව පොර කා ගත්තා. කපටි හොරුන්ව විශ්වාස කරන මොලයක් නැති පල් මෝඩයා!" තෝර්තීල ඉබ්බා බුරතීනොට බැන්නා.

"අනේ මට බණින්ට එපා. මට උදව් කරන්න. දැන් ඉතින් මා මොනවා කරන්නද? කාර්ලො තාත්තා ළඟට යන්නේ කොහොමද? අනේ, අනේ!..."

බුරතීනො ඇස් පිහ දමා නහයෙන් ඇඬුවා. ගෙම්බෝ ඔක්කොමල්ලා කණගාටු වෙලා හූල්ලන්න වුණා :

"අනේ, තෝර්තීල ඔය කොල්ලට උදව් කරන්න. බක, බක, බක..." ගාලා ගෙම්බෝ කිව්වා.

ඉබ්බා බොහොම වේලාවක් හඳ හාමි දිහා බලා ගෙන ඉඳලා මෙහෙම කිව්වා:

"ඔන්න මම එක දවසක් මිනිහකුට ඔහොම උදව් කළා. පස්සේ ඒ නපුරු මිනිහා මගේ ආච්චිවයි, සීයාවයි මරලා ඒ ගොල්ලන්ගේ ඉබි කට්ට අරගෙන ගිහිල්ලා ඒවායින් නැම්පනා හැදුවා." මෙහෙම කියලා තෝර්තීල අයෙමත් හඳ දිහා බැලුවා. "ඉතින් එහෙනම්, කොල්ලා නුඹ කොළය උඩ වාඩි වෙලා ඉඳපන්. මම පතුලට ගිහිල්ලා ප්‍රයෝජනවත් මොනවා හරි ගේන්න බලන්නම්."

තෝර්තීල ඉබි රාළ හාමිනේ පොකුණේ දිය කිමිදිලා පතුලට බැස්සා.

ගෙම්බෝ හෙමින් බක බක ගෑවා : "තෝර්තීල ඉබි රාළ හාමිනේ බොහොම ලොකු රහසක් දන්නවා."

බොහොම වේලාවක් ගත වුණා.

හඳ බැහැලා යන්න පටන් අරගෙන...

ඔන්න ආයෙමත් පෙඳ පාසි කැලැත්තිලා තෝර්තීල ඉබි රාළ හාමිනේ උඩට ආවා. එයා රත්තරන් යතුරක් කටින් ගෙනාවා.

ඒ යතුර කොළය උඩ තියලා බුරතීනොට කතා කරලා තෝර්තීල මෙහෙම කිව්වා :




"කපටියන්ව විශ්වාස කරන පල් මෝඩ කොල්ලා. හිවලියයි, බළලයි නුඹේ රන් කාසි හොරකම් කළ හන්දා දුක් වෙන්න එපා. මම නුඹට මේ යතුර දෙනවා. බොහොම දිග යටි රැවුළක් තියෙන මිනිහකුගෙ අතින් මේ යතුර පොකුණට වැටුනා. එයාගෙ යටි රැවුළ කොච්චර දිගද, ඒක සාක්කුවේ දමා ගන්නේ නැතුව, එයාට ඇවිදින්නට වත් බැහැ. ඒ යතුර හොයලා දෙන්නයි කියලා ඒ රැවුළා මගෙන් බොහොම බැගෑපත්ව ඉල්ලා හිටියා."

තොර්තීල සුසුමක් හෙළලා ටික වේලාවක් නිහඬව ඉඳලා අයෙමත් දිග සුසුමක් හෙළුවා. එවිට වතුරේ දිය බුබුළු පවා මතු වුණා...

"එදා මම ඒ මිනිහාට උදව් කළේ නැහැ. මගේ ආච්චිවයි, සීයාවයි මරා දාලා ඒ ගොල්ලන්ගේ ඉබි කටු අරගෙන ගිහිල්ලා නැම්පාන හදාපු අර නපුරු මිනිහා නිසා මම මිනිසුන් එක්ක තරහ වෙලා හිටියා. රැවුළා මට ඔය යතුර ගැන බොහොම විස්තර කළා. පසුව මට ඔය දේවල් ඔක්කොම ගැන අමතක වුණා. කොහේදෝ තැනක දොරක් ඔය යතුරෙන් ඇරියාම වාසනාව ලැබෙනවා කියලා එයා කියාපු බව නම් මට මතකයි..."

බුරතීනොගේ හදවත සතුට වැඩිකම් හන්දා ගැහෙන්න පටන් ගත්තා. එයාගෙ අවාසනාව එයාට අමතක වුණා. කබා සාක්කුවේ හිටිය කූඩැල්ලන් එළියට ඇදලා දැම්මා. රත්තරන් යතුර සාක්කුවේ දමා ගෙන තොර්තීල ඉබි

රාළ හාමිනේටත් ගෙම්බන්ටත් බොහොම ස්තුති කරලා වතුරට පැනලා පොකුණේ ඉවුරට පීනන්ට පටන් ගත්තා.

එයා බොහොම ඈතට පීනුවයින් පස්සෙ ගෙම්බො කට්ටිය එකවරම කෑ ගහලා මෙහෙම කිව්වා :

"බුරතීනො, යතුර නැති කර ගන්ට එපා!"

## බුරතීනො මෝඩයින්ගේ රටින් පැන යයි

තොර්තීල ඉබි රාළ හාමිනේ මෝඩයින්ගෙ රටින් පැනලා යන පාර බුරතීනොට වේලාසනින් කියලා දුන්නේ නැහැ.

ඒ නිසා බුරතීනො ඔළුව හැරුණු පැත්තට දුවන්නට පටන් ගත්තා. ගස් කළු පාටයි. මහ රෑ. අහසේ තරු දිලිසෙනවා. පාර එහා කඳු වැටි පේනවා. දොරුවේ මීදුම් පටලයක් තිබුණා.

හිටි හැටියේම බුරතීනො ඉදිරිපිට අළු පාටට මොනවදෝ පැන නැංගා. ඔන්න එවිටම බල්ලො බුරන හඬ ඇසුණා.

බුරතීනො පාර අයිනෙ තිබුණ ගල් වැටියට හේත්තු වුනා. එයා ළඟින්ම බොහොම නපුරු පොලිස් බල්ලෝ දෙන්නෙක් නහයෙන් හඬ පිට කරමින් දුවලා දුවලා ගියා. උන් මෝඩයින්ගෙ රටේ බුල්ඩෝග් පොලිස් බල්ලෝ.

උන් ගියායින් පසු, බුරතීනො බොහොම වේගයෙන් දුවන්නට පටන්. ගත්තා. අහසෙ තරුත් ඈතට ඈතට යනවා වගෙ එයාට පෙනුණා වෙන්ට ඇති.

අර ඉස්සෙල්ලා දැකපු අළු පාට ගුලිය ආයෙමත් පාර හරහා පනින සැටි බුරතීනො දැක්කා. ඒ හාවෙකු බව බුරතීනොට පෙනුණා. ඒ විතරක් නොවෙයි, හාවාගෙ පිට උඩ පුංචි මිනිහෙක් ඉඳ ගෙන ඉන්නවා. එයා පණ බයේ සුදුමැලි වෙලා.

උස කන්දෙ ඉඳලා ගල් කැට වැටුණ. පොලිස් බල්ලො අයෙමත් හාවා එළවමින් පාර හරහා දිව්වා. නැවත සියලු දේ නිහඬ වුණා.

බුරතීනො වඩාත් වැඩි වේගයෙන් දිව්වා. එයාට පෙනුණේ අහසේ තරුත් ඒ වගේම වේගයෙන් දුවන සැටියි.

තුන්වැනි වරටත් අළු පාට හාවා පාර හරහා පැන්නා, එවිට එයාගෙ පිට උඩ හිටිය පුංචි මිනිහා ගහක අත්තක හැප්පිලා බුරතීනො හිටිය තැන ළඟට වැටුණා.

"හව්, හව්, බුඃ, බුඃ ! අල්ලපිය ඕකාව!" කිය කියා අර පොලිස් බල්ලො දෙන්නා අළු පාට හාවා පස්සේ දුවන්නට පටන් ගත්තා. උන්ගේ ඇස් කෝපය නිසා ලේ රතු පාටයි. උන්ට බුරතීනොවයි, අර පුංචි මිනිහාවයි පෙනුණේ නැහැ.

"ආයුබෝවන් මල්වීනා, සඳහටම ආයුබෝවන්!" කියලා අර පුංචි මිනිහා කිව්වා, බොහොම හෙමින් හරියට අඬනවා වගෙ.

බුරතීනො එයා දෙසට පහත් වෙලා බැලුවා. ඒ තමා සුදු පාට අත් දිගු කමිසය හැඳගත්තු පියෙරෝ. බුරතීනො පුදුමයට පත් වුණා.

පියෙරෝ මූණින් අතට කරත්ත රෝදයක් නිසා තරමක් ගැඹුරු වෙච්ච පුංචි වළක වැටිලා උන්නා. එයා මැරුණා කියලා හිතා ගෙන වෙන්ට ඕන. අර විදිහට එයා කිව්වේ: "ආයුබෝවන්, මල්වීනා, සඳහටම ආයුබෝවන්!"

බුරතීනො එයාව කකුලෙන් ඇද්දා. නමුත් එයා හෙළවුණේ වත් නැහැ. එවිට බුරතීනො එයාගෙ සාක්කුවක හැංගිලා හිටිය කුඩැල්ලකු හොයා ගෙන, ඌව පියෙරෝගේ නහයට තිබ්බා. ඒ වෙලාවේ පියෙරෝ වැතිරිලා හිටියේ හුස්ම පවා ගන්නේ නැතිවයි.

කුඩැල්ලා එක පාරම පියෙරෝගේ නහය හැපුවා. එතකොට එයා වහාම නැගිටලා ඉඳ ගත්තා ඔළුව හොලවලා කුඩැල්ලාව වීසි කරලා සුසුම් හෙලා මෙහෙම කිව්වා :

"අහා, මම තවමත් ජීවත් වෙනවා!"

එයාගේ සුදුමැලි වෙච්ච කම්මුල් සිප ගත් බුරතීනො එයා සමග කතා කළා :

"ඔයා කොහොමද මෙහෙ ආවේ? ඔයා මොකද අළු පාට හාවාගේ පිට උඩ නැගල ආවේ ? "

"බුරතීනො, බුරතීනො, මාව ඉක්මණට හංග ගන්න... පොලිස් බල්ලො ලුහුබැන්දේ හාවා අල්ලන්න නොවෙයි, මාව අල්ලා ගන්නයි... කරබස් බරබස් මහතා උදේ රෑ දෙකේ මා පස්සේ පොලිස් බල්ලන්ව එවනවා. එයා මෝඩයින්ගේ රටේ ඉන්න පොලිස් බල්ලන්ව කුලියට අරගෙන. මාව පණ පිටින් හරි, පණ නැතුව හරි අල්ලා ගන්න එයා දිවුරුම් දීලා තියෙනවා."

ඈත බල්ලෝ බුරන හඬ ඇහුණා. බුරතීනො පියෙරෝවත් ඇද ගෙන මීමෝසා මල් පඳුරක් අස්සට රිංගා ගත්තා. මීමෝසා මල් බොහොම පුංචියි. කහ පාටයි.

ඔන්න ඔය පඳුර ඇතුළෙ කොළයක් උඩ වාඩි වෙලා පියෙරෝ හෙමිහිටි කතන්දරයක් කියන්න පටන් ගත්තා:

"බුරතීනො, ඔයා දන්නවද දවසක් දා රෑ හුළං හමන්නට වුණා. නා කපන වැස්සක් පටන් ගත්තා..."

## මෝඩයින්ගේ රටට ආපු හැටි පියෙරෝ විස්තර කරයි

"බුරතීනො දන්නවද දවසක් දා රෑ හුළං හමන්නට වුණා. නා කපන වැස්සක් පටන් ගත්තා. කරබස් බරබස් ලිප ළඟ වාඩි වෙලා දුම්කොළ පයිප්පය උරන්නට පටන් ගත්තා. අපේ බොනික්කෝ සේරමල්ලා නිදි. මට විතරක් නින්ද ගියේ නැහැ. මම නිල්පාට කොණ්ඩෙ තියෙන ගෑනු ළමයා ගැන කල්පනා කළා..."

"මදෑ නුඹ ඔය කා ගැනද කල්පනා කරන්නේ, මෝඩ පැංචා. මම ඊයේ හැන්දාවෙ ඔය කෙල්ල ඉන්න ගෙදරින් පැනලා ගියා. එයාගේ ගෙදර කළුවර කාමරේ ඉඳලයි පැනලා ගියේ..." බුරතීනො කිව්වා.

"මොනවද? ඔයා නිල්පාට කොණ්ඩෙ තියන ගෑනු ළමයව දැක්කද? එයා තමා මගේ මල්වීනා."

"හරියට අපි නොදැක්කා වගෙ! නහයෙන් අඬනවා. ඒක කරපන් මේක කරපන් කිය කියා ඇඟේ එල්ලෙනවා." බුරතීනො ගෑනු ළමයා ගැන විස්තර කළා.

පියෙරෝ නැගිටලා දෑත් වනලා කතා කළා :

"මාව එයා ළඟට ගෙනියන්න... මල්වීනාව හොයා ගන්න ඔයා මට උදව් වුණොත් මම ඔයාට රත්තරන් යතුර ගැන රහස හෙළි කරන්නම්..."

"මොනවා! ඔයා රත්තරන් යතුර ගැන රහස දන්නවාද?" බුරතීනො පුදුම වෙලා ඇහුවා.

"යතුර කොහෙද තියෙන්නෙ කියල දන්නවා. ඒ යතුරෙන් එක දොරක් අරින්න ඕන... ඔය ගැන කියන කොට මම අහගෙන හිටිය නිසා තමයි කරබස් බරබස් මාව හොයන්ට පොලිස් බල්ලන්ට බාර කළේ."

බුරතීනොට ලොකුම ලොකු ආසාවක් උපන්නා ඒ රත්තරන් යතුර එයාගෙ සාක්කුවෙ තියනවා කියලා පුරසාරම් දොඩවන්ට. ඉතින් එයාගෙ කට ප්‍රවේසම් කරගන්න එයා ඔළුවේ තිබුණු තොප්පිය අරගෙන කටේ ඔබා ගත්තා.

පියෙරෝ බොහොම බැගෑපත් වෙනවා එයාව මල්වීනා ළඟට ගෙනියන්ටයි කියලා. බුරතීනො අතින් පයින් විස්තර කළා දැන් රෑ බෝ වෙලා, කළුවරයි, උදේ එළි වුණාම ගෑනු ළමයා ඉන්න ගෙදරට ගෙනි යනවයි කියලා.

බුරතීනො පියෙරෝව ආයෙමත් පඳුරු අස්සේ හංගලා, කටේ ඔබා ගත්තු තොප්පිය ඉවතට ගන්නේ නැතුව, වචන පැහැදිලි නැතිව කතා කළා :

"ඉසින් සසන්සරේ සියපන්..."

"ඔන්න දවසක් දා රෑ හුළං හමන්නට වුණා..." කියලා පියෙරෝ පරණ විදිහටම කතාව පටන් ගත්තා.

"ඔයා ඒ ගැන මීට ඉස්සෙල්ලා කීවා..." බුරතීනො කිව්වා.

" ඔන්න මට නින්ද යාගෙන එන කොට, ඇහුණා කවුදෝ ජනේලයට තට්ටු කරන හැටි.

"කරබස් බරබස් සැරවුණා :

"මේ වගේ වැහි කුණාටු තියෙන විට මෙහාට ආවේ කව්ද?"

"ඒ මමයි, දුරෙමාර් මගෙ නම. බේත් කුඩැල්ලන් වෙළඳාම් කරන්නා. මට ගිනි තපින්නට අවසර දෙන්න." ජනේලයට එහා හිටි මිනිහා කිව්වා.

"මට බොහොම ලොකු ආසාවක් උපන්නා බේත් කුඩැල්ලන් වෙළඳාම් කරන මිනිහකුව බලන්න. මම පොඩ්ඩක් ඔළුව උස්සලා යම්තම් තිරය මෑත් කළා.

"කරබස් බරබස් පුටුවෙන් නැගිට්ටා. හැමදාම වගෙ එදත් එයා යටි රැවුළ පාගා ගත්තා. රැවුළ සාක්කුවේ දමාගෙන බැණ වැදිලා දොර හැරියා.

"ගෙට ආවේ උස, වැස්සට හොඳටම තෙමිච්ච, පුංචි මුහුණක් තියෙන මිනිහෙක්. එයාගෙ මූණ බිම් මලක් වගේ ඇකිලිලා. එයා ඇඳලාහිටියේ පරණ කොළ පාට කබායක්. එයාගෙ බඳ පටියේ අඬු වර්ග, කටු වර්ග එල්ලලා තිබුණා. එයාගෙ අතේ ලොකු ටින් එකකුයි ලොකු දැලකුයි තිබුණා.

"දුරෙමාර් කොන්ද කැඩිච්ච මිනිහකු වගේ දෙකට නැමිලා මෙහෙම කිව්වා : "මහත්මයාගෙ බඩ රිදෙනවා නම්, හිසේ ඇම්ම වැඩි නම්, කන් අඩි වල සද්දයක් තියෙනවා නම්, මට පුළුවනි ඉතාම හොඳ බේත් කුඩැල්ලන් හය හත් දෙනෙක් කන පිටිපස්සෙ තියන්න."

"කරබස් බරබස් සැරවුණා : "බේත් කුඩැල්ලන් යකාට ගියාදෙන් ! තමුසෙට ඕන නම්, ඕන තරම් ගිනි තපිනව."

"දුරෙමාර් ගිනිමැලය ළඟට ඇවිත් පිටි කොන්ද හරවා ගෙන ගිනි තපින්න වුණා.

"එයාගෙ කොළ පාට කබාය රත් වුණාම එයින් පාසි ගඳක් පිට වුණා.

"මගේ කුඩැල්ලො වෙළඳාම බොහොම සවුත්තුයි. ඌරු මස් කෑල්ලකුයි, වයින් වීදුරුවකුයි දෙනව නම්, මම ඔය මහත්මයාට ඉතා උසස් වර්ගයට අයත් කුඩැල්ලො දොළහක් තියන්නම්, හන්දිවල කැක්කුම නැති වෙලා යාවි..."

"බේත් කුඩැල්ලො යකාට ගියාදෙන්! තමුසෙ ඌරු මස් කාලා වයින් බොනවා." එහෙම කිව්වේ කරබස් බරබස්.

"දුරෙමාර් ඌරු මස් කන්න පටන් ගත්තාම එයාගෙ මූණ රබර් කෑල්ලක් වගේ ඇකිලෙන්නටයි දිග ඇදෙන්නටයි පටන් ගත්තා. මස් කාලා වයින් බීලා ඉවර වුණාම එයා දුම්කොළ ටිකක් ඉල්ලුවා.

"මහත්මයා, මගෙ පිරුණා, ඇඟ උණුහුම් වුණා. ඔබ තුමාගේ ආගන්තුක සත්කාරයට ස්තුති කරන්න මම කැමතියි එක රහසක් හෙළි කරන්න."

"කරබස් බරබස් පයිප්පය උරලා දුම් පිට කරලා එයාගෙ කතාවට බාධා කළා :

"මම දැන ගන්න කැමති එක රහසක් විතරක් තියෙනවා. අනිත් සියලු රහස් මම පොට්ට කාසියක් තරම් වත් ගණන් ගන්නේ නැහැ."

"ඔබ තුමාට මා හෙළි කරන්න කැමති රහස මහා ලොකු එකක්. එය මට කියුවේ තොර්තීල නැමැති ඉබ්බා."

"එහෙම කිව්ව හැටියේම, කරබස් බරබස්ගේ ඇස් ඉදිරියට නෙරා ගිහිල්ලා, එයා නැගිට සිටියා. එතකොට දිගු යටි රැවුළට එයාව එතුනා, එයා එක පිම්මට බය වෙලා හිටිය දුරෙමාර්ගේ පපුව බදා ගෙන එයා මී හරකෙකු වාගේ තප්පුලන්නට වුණා.

"කරුණාවන්ත දුරෙමාර්, ගරු කටයුතු දුරෙමාර් කියන්න, කියන්න, තොර්තීල ඉබි රාළ හාමිනේ මොනවද කිව්වේ කියල ඉක්මණට කියන්න !"

"ඔන්න එතකොට දුරෙමාර් මේ කතාව එයාට කිව්වා :

"මෝඩයින්ගේ රටේ එක කුණු වතුර තියෙන පොකුණක හිටිය කුඩැල්ලන් මම අල්ලමින් හිටියා. තඹ කාසි හතරක් දෙන පොරොන්දුව පිට මම එක දුප්පත් මිනිහකුව වැඩට ගත්තා. එයා ඇඳුම් ගළවලා පොකුණට බැහැලා වතුර බෙල්ල හරියට තියෙන තැනකට වෙලා ඉන්නවා. එතකොට එයාගෙ ඇඟේ කුඩැල්ලො එල්ලෙනවා. උන් එයාගේ ලේ උරා බොනවා.

"එතකොට එයා පොකුණෙන් ගොඩ ආවාම මම එයාගේ ඇඟේ එල්ලිලා ඉන්නා කුඩැල්ලො ගළවා ගන්නවා.

"ඔන්න ඔය විදිහට මම කුඩැල්ලො එකතු කරමින් ඉන්නා විට, නයි ඔළුවක් වගෙ ඔළුවක් දියෙන් පිටට මතු වුණා.

"දුරේමාර්, නුඹ මේ අපූරු පොකුණෙ ඉන්න සියලුම සතුන්ව බිය ගන්වලා තියෙනවා. වතුර බොර කරනවා. උදේ කෑමෙන් පස්සේ මට නිවී හැනේ ඉන්ට දෙන්නේ නැහැ... නුඹ මේ නරක වැඩේ නවත්වන්නේ කවදාටද?..."

"ඒ චාම් ඉබ්බව මම දැක්කා. එතකොට බය නැතුව කතා කරලා මෙහෙම උත්තර දුන්නා:

"නුඹගෙ කුණු පොකුනෙ ඉන්න කුඩැල්ලො ඔක්කෝම අල්ලා ගන්නා තුරු මම නවතින්නෙ නැහැ."

"මම සූදානම් නුඹෙන් එයින් ගැළවීමට. දුරෙමාර් නුඹ මින් පස්සෙ අපේ පොකුණට ඇවිත් අපිට කරදර කරන්න එපා."

"ඔන්න එතකොට මම ඉබ්බට සමච්චල් කළා :

"අපෝ නුඹ හරියට පාවෙන පෙට්ටගමක් වගේ. මෝඩ තකතීරු තොර්තීල. නුඹ මගෙන් ගැළවෙන්නෙ කොහොමද? නුඹේ ඔය ඔළු ගෙඩියයි, කකුල් හතරයි හංගා ගෙන ඉන්න ඉබි කට්ට මට දීලද ගැලවෙන්නට හදන්නෙ?.. නුඹේ ඔය ඉබි කටුව මම පනා හදන මිනිහකුට විකුණනවා...

"ඉබ්බාට බොහොම කේන්ති ගිය හන්දා එයා කොළ පාට වුණා. එයා මා ළඟට ඇවිත් මෙහෙම කිව්වා :

"මේ පොකුණ පතුලේ තියෙනව රත්තරන් යතුරක්. මේ යතුර ලබා ගන්න ඕනෑම දෙයක් කරන්න සූදානම් මිනිහකු ගැන මා දන්නවා..."

"දුරෙමාර්ට මේක කියලා ඉවර වෙන්න ඉඩක් ලැබුණේ නැහැ. කරබස් බරබස් වැලපෙන්න පටන් ගත්තා :

"ඒ මිනිහා වෙන කවුරුවත් නොවෙයි මම තමා ! මම, මම ! මගේ හොඳ දුරෙමාර් ඔයා ඉබ්බාගෙන් යතුර ඉල්ල ගත්තේ නැත්තේ ඇයි?"

"ඔන්න මදෑ!" මෙහෙම කියපු දුරෙමාර් ආයෙමත් මූණ හොඳටම රැළි වැටෙන කල් අකුලා ගත්තා. එතකොට එයාගෙ මූණ ආයෙමත් වේලිච්ච බිම් මලකට සමාන වුණා. "ඔන්න මදෑ! ඉතාම හොඳ කුඩැල්ලන්ව කසි කබල් යතුරකට මාරු කරගන්න මම ලෑස්ති නැහැ... ඔන්න ඉන් පස්සෙ අප දෙන්නා බැණ ගත්තා. ඉබ්බා පයක් ඔසවලා මෙහෙම කිව්වා :

"නුඹට හරි වෙනත් කෙනෙකුට හරි කිසිම දාක ඒ මායාකාර යතුර දෙන්නෙ නැහැ. ඒ යතුර ලැබෙන්නේ මේ පොකුණේ ඉන්න සියලු ලොකු කුඩා සත්තු මගෙන් එය දෙන්නයි කියලා ඉල්ලා හිටින එක් කෙනාටයි.

"එක කකුලක් ඔසවා ගත් ගමන්ම ඉබ්බා වතුරට කිමිදිලා පතුලට ගියා."

"එකම තත්පරයක් වත් පමා නොකර වහාම යමු මෝඩයින්ගේ රටට" කරබස් බරබස් කෑ ගහලා මෙහෙම කියලා යටි රැවුළ සාක්කුවේ දමා ගෙන, තොප්පියයි ලන්තෑරුමයි අතට අරගෙන දුවන්න ලෑස්ති වුණා පොකුණ ළඟට. "මම පොකුණ අයිනෙ වාඩි වෙලා බොහෝම අඟේට හිනා වෙලා කතා කරන්නම්. ගෙම්බන්ටයි, ඉස් ගෙඩියන්ටයි, ජල කුරුමිණියන්ටයි කියනවා, ඉබ්බට කියලා යතුර ඉල්ල දෙන්නයි කියල... හොඳට මහතට වැඩුණු මැස්සන් ලක්ෂ පහළොවක් ගෙනැවිත් දෙන බවට මම ඒ ගොල්ලන්ට පොරොන්දු වෙනවා... තනි වෙච්ච එළදෙනක් වගේ මම හූල්ලන්නම්, ලෙඩ වෙච්ච කිකිළියක් වගේ කෙඳිරි ගාන්නම්, කිඹුලෙක් වගේ කඳුළු සලන්නම්, පුංචි ගෙඹි පැටවුන් ඉදිරියේ දණ ගහලා මම බැගෑපත්ව ඉල්ලා හිටින්නම්... යතුර මම කොහොම හරි ලබා ගෙන නගරයේ එක ගෙදරකට ගිහිල්ලා, ඒ ගෙයි පඩි පෙළ යට තියෙන දොර ඒ යතුරෙන් අරින්නම්... හැමදෙනාම ඒ පඩි පෙළ අසලින් යනවා, එනවා නමුත් ඒ ගොල්ල ඒ ගැන බලන්නේ වත් නැහැ. යතුරෙන් දොර ඇරලා නිදානෙ ලබා ගන්නම්..." කියලා කරබස් බරබස් කියා ගෙන කියා ගෙන ගියා.

"ඔන්න ඔය වේලාවේදී තමයි, බුරතීනො, මට මේ රහස දැන ගන්න ලොකු ආසාවක් උපන්නේ. මම තිරය මෑත් කරලා ඉස්සරහට ආවා" කියලා මීමොසා පඳුර අස්සේ සැඟවිලා කතාව කියපු පියෙරෝ විස්තර කළා.



"කරබස් බරබස් මාව දැක්කා.

"තෝ නීචයා හොරෙන් අහ ගෙන හිටියා නේද!" කියලා එයා මගේ ඇඟට පැන්නා මාව අල්ලලා ගින්දරට දාලා පුච්චන්ට. නමුත් ඒ වේලාවේදීත් එයාගේ දිග යටි රැවුළ එයාගෙ කකුල්වල පැටලිලා, පුටුවකුත් පෙරළා ගෙන 'දඩාස්' ගාලා බිම ඇද වැටුණා.

"මම ජනේලයට පැනලා, එතැනින් වැටට පැනලා දිව්වේ කොහොමද කියලා මටම තේරුම් ගන්න බැහැ. කළුවරයි, හුළං පාර සැරයි. මොර සූරන මහ වැස්ස.

"මගේ හිසට උඩින් කළු වලාකුළු. හිටි හැටියේම අකුණක් ගැහුවා. ඒ විදුලි එළියෙන් මට පෙනුණා, කරබස් බරබසුයි බේත් කුඩැල්ලො වෙළෙන්දයි මා පස්සෙ දුව ගෙන එන හැටි. ඒ ගොල්ල මට අඩි දහයක් දුරින් විතරයි හිටියෙ... "මා විනාශයි" කියල මම හිතුවා. එතකොටම මම ඇද වැටුණා උණුසුම තියෙන මෙළෙක් දෙයක් උඩට. කාගේදෝ කන් දෙකක් මගේ දැතට අහුවුනා...

"ඒ තමා හාවා. එයා බය වෙලා කෑ ගහලා උඩට පිනුමක් ගහලා වේගයෙන් දුවන්න පටන් ගත්තා. මම එයාගෙ දිග කන් දෙක තදින් අල්ලා ගෙන හිටියා. එයා අඳුරේම ගෙවතු, මිදිවතු, එළවළු වතු පහු කර ගෙන වේගයෙන් දිව්වා.

හාවාට මහන්සියි, එයා වේගය අඩු කළා. මම එතකොට එයාගෙ නළල සිප ගෙන මෙහෙම කිව්වා :

"අනේ මගේ රත්තරන් හා පැටියෝ, තව පොඩ්ඩක් දුවන්නකො..."

"හාවා හති දමලා ආගිය අතක් නැතුව දුවන්න පටන් ගත්තා. වමටයි, දකුණටයි දුවන්න වුණා...

"කළු වලාකුළු ඉවත් වෙලා හඳ එළිය පායන්නට වුණාම මට පෙනුණා එක නගරයක්. ඒ නරගයේ සීනු කුළුණු ඒ අතට මේ අතට ඇද වෙලා තියෙනවා.

"නගරයට යන පාර දිගේ කරබස් බරබස් සහ බේත් කුඩැල්ලො වෙළෙන්දා දුවන හැටි මා දැක්කා.

"ඒක දැකපු හාවා මෙහෙම කිව්වා :

"අනේ, අනේ ඔන්න හාවකුගෙ වාසනාවෙ හැටි ! ඒ ගොල්ල මෝඩයින්ගෙ රටට යනවා. පොලිස් බල්ලන්ව කුලියට අරගෙන අප පස්සෙ එළවාවි. අපි විනාශ වේවි."

"හාවා බොහොම අධහිරියට පත් වුණා. නහය පහතට හරවා ගෙන දෙකන් බිම දමා ගත්තා.

"මම හාවාගෙන් බැගෑපත්ව ඉල්ලා හිටියා. ඇඬුවා. එයාගෙ දෙපාළඟ දණින් වැටුණා. හාවා හෙළවුණේ වත් නැහැ.

"ඔන්න එතකොට බුල්ඩෝග් පොලිස් බල්ලෝ දෙන්නෙක් උඩ පැන පැන වේගයෙන් දුව ගෙන ආවා. උන්ගේ ඉස්සරහ දකුණු කකුලේ කළු පටි බැඳලා. උන්ව දැකපු හැටියේම හාවාගේ ඇගේ මයිල් කෙලින් හිටියා. එයා එතරම්ම බය වුණා. මම එයාගෙ පිට උඩ නැග ගත්තා විතරයි, එයා පුදුම වේගයකින් දුවන්නට පටන් ගත්තා...

"අනික් ඒවා බුරතීනො දැක්කා නොවැ."

පියෙරෝ කතාව කියලා ඉවර වුණාම බුරතීනො ප්‍රවේසමින් මෙහෙම ඇසුවා :

"ඒ යතුරෙන් දොර අරින්න පුළුවන් මොන ගෙදරද, මොන පඩිපෙළ යට තියන කාමරේද?"

"කරබස් බරබස් ඒ ගැන විස්තර කරන්න ඉස්සෙල්ලා තමයි එයා මාව දැකලා මාව අල්ල ගන්න හැදුවේ... දැන් ඉතින් ඒකට කමක් නැහැ... යතුර තවම පොකුණේ පතුලෙ. අපට කිසිම දාක වාසනාව දකින්න ලැබෙන්නේ නැහැ..."

"ඔයා මේක දැක්කද?" බුරතීනො පියෙරෝගෙ කනට කට ළං කරල කෑගැසුවා. බුරතීනො එයාගෙ සාක්කුවෙන් රත්තරන් යතුර අරගෙන ඒක පියෙරෝගෙ මූණට ළං කළා. "මෙන්න රත්තරන් යතුර !"

## බුරතීනො සහ පියෙරෝ මල්වීනා හමුවීමට පැමිණෙති

කන්දට ඉහළින් ඉර පැව්වට පස්සෙ බුරතීනොයි, පියෙරෝයි මල් පඳුරෙන් එළියට ආවා. ඊයේ රෑ වවුලා බුරතීනොට මෝඩයින්ගේ රටට පැනලා යන්න පෙන්නපු මග ඔස්සේ, එයා පියෙරොවත් කැටුව නිල් කොණ්ඩකාර ගෑනු ළමයගෙ ගෙදරට ගියා.

යන අතර මග පියෙරෝගෙන් බේරිල්ලක් නැහැ. ප්‍රශ්න අහනවා. විනාඩි බාගෙන් බාගෙට ප්‍රශ්න අහනවාඃ

"බුරතීනො එයා මාව දැකල සන්තෝස වෙයිද?"

"මම කොහොමද දන්නේ," බුරතීනො උත්තර දුන්නා.

විනාඩි බාගයක් ගිය හැටිය ආයෙමත් පියෙරෝ ප්‍රශ්න කලා :

"බුරතීනො, එයා මාව දැකලා සතුටු වුණේ නැති නම්?"

"මම කොහොමද දන්නේ..."

ඔන්න ඒ ගොල්ල දැක්කා ජනේල දොර ඉර හඳ තාරකා ඇඳල තියෙන පුංචි ගේ පොඩ්ඩ.

ගෙදර දුම් බටයෙන් දුම් වළා ඉහළට නැංගා. ඊටත් ඉහළින් පාවුණු පුංචි වලාකුළ හරියට පූසකුගේ මූණක් වගෙයි.

අර්තමොන් බලු රාළ ගෙයි මිදුලේ ඉඳ ගෙන ඒ වළාකුළට වරින් වර බුරනවා.

නිල් කොණ්ඩකාරියගෙ ගෙරදට ආපහු යනන බුරතීනො එතරම් කැමති නැහැ. ඒ වුණාට දැන් බුරතීනොට බොහොම බඩගිනියි. ගෙදර කුස්සියේ කිරි උණු කරන පුසුඹ බුරතීනොට දැනෙනවා.

"ඔය කෙල්ල ආයෙමත් මට හැසිරෙන හැටි උගන්වන්න හැදුවොත්, මම කිරි ටිකක් බීලා ආයෙමත් ගෙදරින් පිට වෙලා යනවා." බුරතීනො එහෙම සිතා ගත්තා.

ඒ වෙලාවේදී මල්වීනා එක අතකින් ජෝගුවයි, අනිත් අතින් විස්කෝතුයි අරගෙන ගෙවත්තට ආවා.

එයාගෙ ඇස්වල කඳුළු පිරිලා තිබුණා වගෙයි. එයා කල්පනා කළේ අඳුරු කාමරේ හිටිය බුරතීනොව ලොකු ඌරු මීයො ඇද ගෙන ගිහින් කාලා දැම්මාය කියල.

එයා මේසය ළඟ වාඩි වුණා විතරයි ළඟ තිබුණු නිල් පාට මල් පාත්තිය සෙළවුණා. මල්වල වහලා හිටිය සුදු පාට සහ කහ පාට සමනළයො පියාසර කළා. බුරතීනො සහ පියෙරෝ ඉදිරියට ආවා.

ගෑනු ළමයා ඇස් මහත් කර ගෙන බුරතීනොයි, පියෙරෝයි දිහා බැලුවා.

පියෙරෝ මල්වීනාව දැකපු හැටියේම තේරුමක් නැති වචන කිය කියා දොඩවන්නට වුණා. ඒ වචන මෙතැනදී මතක් කිරීමට සුදුසු නැහැ.

බුරතීනො විතරක් ඇඟට පතට නොදැනී මෙහෙම කිව්වා :

"ඔන්න මම පියෙරෝව අඬගහගෙන ආවා. එයාටත් හැසිරෙන හැටි කියා දෙන්න!..."

ඔන්න එතකොට තමයි, එයා දකින්නෙ සිහිනයක් නොවන බව මල්වීනාට තේරුම් ගියේ.

"අනේ කොතරම් ලොකු වාසනාවක්ද!" මල්වීනා එහෙම කියලා ආදෙයමත් මහ ගෑනියක් වගේ කතා කළා:

"ළමයිනේ, වහාම ගිහිල්ලා මූණ කට හෝදලා දත් මැදලා වරෙල්ලා. අර්තෙමොන් ඔය ළමයි දෙන්නව ළිඳ ළඟට ගෙනියන්න."

"ඔන්න පියෙරෝ, පේනව නේද එයාට ඔල්මාදෙ. මූණ හෝදන්න, දත් මදින්න! ඔක්කෝමල්ලව හෝදන්ටයි එයාගෙ කල්පනාව..."

දෙදෙනාම දත් මැදලා මූණ හෝද ගත්තා. අර්තෙමොන් එයාගෙ වලිග යෙන් ඒ ගොල්ලන්ගේ කබා සහ කලිසම් පිහදැම්මා.

කෑම කන්න වාඩි වුණා. බුරතීනො කට පුරාම කෑම ඔබා ගත්තා. පියෙරෝ පුංචි කේක් කෑල්ලක් වත් කැවේ නැහැ. එයා ඇස් ඇර ගත්තු ගමන්ම මල්වීනා දිහා බලා ගෙන ඉන්නවා. මල්වීනාට ඉවසා ගෙන ඉන්ට බැරි වුණා.

"ඔයා මගෙ මූණ දිහා ඔහොම බලා ගෙන ඉන්නෙ මොකද? කලබල වෙන්නේ නැතුව ඔය කෑම ටික කන්න." මල්වීනා පියෙරෝට කිව්වා.

"අනේ මල්වීනා, මම බොහොම කාලයක ඉඳල කිසි දෙයක් කන්නේ නැහැ. කවි ලියනවා..."

බුරතීනොට බක බක ගාලා හිනා ගියා.

මල්වීනා පුදුම වෙලා අයෙමත් ඇස් මහත් කර ගෙන බලන්න වුණා.

"එහෙනම් ඉතින් ඒ කවි කියන්න."

මල්වීනා එයාගෙ ලස්සන පුංචි අතින්, ලස්සන නිකට අල්ලා ගෙන අහසෙ පාවෙමින් තිබුණු පූසකුගේ මුහුණට සමාන වළාකුළ දිහා බැලුවා.

පියොරෝ එයා ලියපු කවි කියවන්නට පටන් ගත්තා. එයාගෙ කට හඬ හරියට ලිඳේ පතුලේ සිට කතා කරන කෙනෙකුගේ වගෙයි.

මල්වීනා පිට රටකට පැනල ගියා,
මල්වීනා මගෙ මනාලි නැතිව ගියා...
අඬමි මම, නොදැන මොනවා කරන්ටද...
රෑකඩ ජීවිතෙන් වෙන්වී යන්නෙම්ද?

පියෙරෝ කවිය කියලා ඉවර කරන්නටත් ඉස්සෙල්ලා, මල්වීනා ඒ කවිය බොහොම හොඳයි කියන්නටත් ඉස්සෙල්ලා, වැලි පාර දිගේ ගෙම්බෙක් පැන, පැන ආවා.

එයා ඇස් දෙක දොට්ට දමා ගෙන මෙහෙම කිව්වා :

"ඊයේ රෑ තොර්තිල ඉබ්බට පිස්සු හැදිලා එය කරබස් බරබස්ට රත්තරන් යතුර ගැන රහස හෙළි කළා..."

මල්වීනා කිසිවක් තේරුම්නොගියත් එයා බොහොම බය වුණා. පියෙරෝ අමතක වන අනික් කවියන් වගේම තේරුමක් නැති වචන කියන්නට වුණා. ඒ වුණාට බුරතීනො ඉක්මණට විස්කෝතුයි, චොකලටුයි, සීනි බෝලයි සාක්කුවල දමා ගත්තා.

"අපි ඉක්මණට දුවලා යමු. පොලිස් බල්ලන් කරබස් බරබස්ව මෙහාට එව්වොත් අපි සේරමල්ලා විනාශයි."

මල්වීනා බොහොම බය වෙලා සමනලයකුගේ සුදු පිහාටු වගේ සුදු පාට වුණා. පියෙරෝට පෙනුණේ මල්වීනා මැරෙන්ට යනවා කියලා. එයා ළඟ තිබුණු කොකෝවා ජෝගුව මල්වීනාගෙ ඇඟට වත් කළා. ලස්සන ගවොමෙ කොකෝවා පැල්ලම් ඇති වුණා.

අර්තෙමොන් මහ හයියෙන් බුරන්න පටන් ගත්තා. මල්වීනාගෙ ගවොම් හෝදන්න සිද්ධ වෙන්නෙ අර්තෙමොන් බලු රාළටයි. එයා පියෙරෝව කමිස කරෙන් අල්ලලා හොලවන්නට පටන් ගත්තා. එතකොට පියෙරෝ ඉක්කා ගහමින් මෙහෙම කිව්වා :

"අනේ ඇති, කරුණාකරලා..."

මේ කලබල අස්සේ ගෙම්බා හයියෙන් කතා කළා, ඇස් දෙක දොට්ට දමා ගෙන.

"කරබස් බරබස් පොලිස් බල්ලොත් එක්ක මෙතනට ඒවි තව පැය කාලකින්..."

මල්වීනා වෙනින් ගවොමක් ඇඳ ගන්න දුව ගෙන ගියා. පියෙරෝ බොහොම කලබල වෙලා අත් දිග හැරලා වැලි පාර ඔස්සේ දුව ගෙන ගිහිල්ලා වැටුණා. වැටිලා බඩ ගා ගෙන යන්ට හැදුවා. අර්තෙමොන් ගෙදර බඩු පොදි වලට බැඳලා ඒවා එළියට ඇද්දා. දොර වැහුණා. ගේ කුරුල්ලෝ කලබල වෙලා පොදි ගැහිලා පඳුර උඩට වුණා. වැහි කුරුල්ලො පහළින් පියාඹා ගියා. කලබලය වැඩි කරන්න බස්සා අට්ටාලයේ ඉඳලා මහා හඬින් කෑ ගැසුවා.

බුරතීනො විතරක් කලබල වුණේ නැහැ. එයා ගමනට වැඩියෙන්ම ඕනෑ කරන බඩු පොදි දෙකක් අර්තෙමොන්ගෙ පිට උඩට පැටෙව්වා. ගමනට සෑහෙන ගවොමක් ඇඳ ගත්තු මල්වීනාවත් අර්තෙමොන්ගෙ පිට උඩට නැංගෙව්වා. පියෙරෝට කිව්වා බල්ලගෙ වලිගය අල්ල ගන්නයි කියල. බුරතීනො ඉදිරියට ගිහිල්ලා මෙහෙම අණ කළා :

"කලබල නොවී, දුවමු!"

මේ ගොල්ල, ඒ කියන්නෙ, බය නැතුව ඉස්සර වී ගමන් කරන බුරතීනොයි, මල්වීනාවයි, බඩු පොදියි පිට උඩ තියා ගත්තු බල්ලයි, පිටු පසින් පිස්සු කවි කියමින් ගමන් කළ පියෙරෝයි පඳුරු අස්සෙන් ගමන් කරලා තණ පිට්ටනියකට ආපු හැටියේම, කැලෑවේ ඉඳල කරබස් බරබස්ගේ යටි රැවුළ පෙනුණා. ඒ යටි රැවුළෙ කොළයි, පුංචි රිකිලියි පැටලිලා. ඉර අව්වෙන් බේරෙන්නට ඇස් දෙකට අත තියා ගෙන කරබස් බරබස් කැලෑවෙ වටපිට හෝදිසියෙන් බලනවා.

## කැලෑව අද්දර මහ සටන

කරබස් බරබස්ගෙ අතේ දැම්වැල් පොටකින් බැඳපු බල්ලන් දෙන්නකුව අල්ලා ගෙන හිටියා. දුවන හතර දෙනාව දැකලා ඔහු කට ඇරලා මෙහෙම කිව්වා:

"අන්න දුවනවා!" ඔහු බල්ලන්ව ලිහලා හැරියා.

නපුරු බල්ලො ඉස්සෙල්ලා පස්සා ගාත්වලින් පොළව හූරලා ලෑස්ති වුණා. උන් ගෙරෙව්වේ නැහැ. උන් දුවන හතර දෙනා දිහා බැලුවේ වත් නැහැ. වෙනින් දිහාවක් බැලුවො. උන්ගේ ශක්තිය ගැන උන්ට ලොකු විශ්වාසයක් තියෙනවා.

ඔන්න ඊට පස්සේ බය වෙලා ගල් ගැහිලා හිටිය බුරතීනො, පියෙරෝ, අර්තෙමොන් සහ මල්වීනා ළඟට උන් හෙමින්, හෙමින් ගියා.

ඒ ගොල්ල විනාශ වෙන්න ළං වෙලා වගෙයි. කරබස් බරබස් පොලිස් බල්ලන්ගේ පස්සෙන් බකල ගගා ගාටමින් ආවා. එයාගේ යටි රැවුළ සාක්කුවෙන් බිමට වැටිලා කකුල් දෙක ළඟ පැටලෙනවා.

අර්තෙමොන් වලිගය උස්සලා බොහොම හයියෙන් බිරුවා. මල්වීනා අත් වනලා කෙඳිරි ගෑවා :

"මට බයයි, මට බයයි!"

සියල්ලම විනාශ වුණා කියලා හිතා ගෙන පියෙරෝ මල්වීනා දිහා බැලුවා.

ඔක්කොටම ඉස්සෙල්ලා බුරතීනොට හොඳ සිහිය ආවා :

"පියෙරෝ, ගෑනු ළමයගෙ අතින් අල්ලා ගෙන හංසයෝ ඉන්න විල ළඟට යන්න!... අර්තෙමොන්, බඩු පොදි වීසි කරලා, අත් ඔරලෝසුව ගළවලා සටනට සූදානම් වෙන්න!..."

බුර්තීනොගෙ නිර්භීත අණ අහපු හැටියේම මල්වීනා අර්තෙමොන්ගෙ පිටින් බිමට පැනලා, ගවොම හරි ගස්සා ගෙන විල ළඟට දුව ගෙන ගියා. පියෙරෝ ඈය පස්සෙන් දිව්වා.

අර්තෙමොන් බඩු පොදි වීසි කරල, අත් ඔරලෝසුව ගළවා දමලා, වලිගය සරසලා තිබුණු පීත්ත පටියත් ගළවලා, එයාගෙ සුදු පාට දත් විරිත්තලා, ගොරවලා, දකුණු අතටයි, වම් අතටයි පැන්නා. බලු මස් පිඩු පුම්බලා පස්සා ගාත්වලින් පොළව සූරලා සටනට සූදානම් වුණා.

බුරතීනො ළඟ තිබුණු ඉතාලි වර්ගයට අයත් සොස්නා ගහට නැගලා මහ හඬින් කෑ ගැව්වා:

"වන සතුනි, කුරුල්ලෙනි, කුරුමිණියෙනි! අපට ගහනවා! අප කිසිම වරදක් නොකරපු ලී බෝනික්කෝ. අපව බේරා ගනිල්ලා!.."

පොලිස් බල්ලෝ මේ දැන් අර්තෙමොන්ව දැක්කා වගෙ එක පාරටම එයාගෙ ඇඟට කඩා පැන්නා. අර්තෙමොන් එක පාරට හැරිලා එක පොලිස් බල්ලෙකුගෙ වලිගය හපා කෑවා. අනිත් පොලිස් බල්ලාගේ දණහිස හපා කෑවා.

පොලිස් බල්ලො දෙන්නා හෙමින් හැරිලා ආයෙමත් අර්තෙමොන්ට කඩා පැන්නා. එවිට අර්තෙමොන් හුඟක් උඩ පැනලා උන්ගේ පහරින් බේරිලා එකකුගේ පපුවේ වම් පැත්තයි, අනිකාගෙ පිටයි හපා කෑවා.

තුන්වැනි පාර පොලිස් බල්ලො අර්තෙමොන් නැමැති පූඩ්ල් වර්ගයට අයත් බල්ලව හපා කන්න ආවාම, අර්තෙමොන් වට රවුමට දුවන්න පටන් ගත්තා. වරෙක එයා පොලිස් බල්ලන්ට ළංවීමට ඉඩ හරිනවා. උන් ළං වන විටම වේගයෙන් දුවනවා...

ඔන්න ඒ පාර නම් කුරු නාසය තියෙන බුල්ඩොග් පොලිස් බල්ලන්ට හැබැටම කේන්ති ගියා. උන් ගොරවලා වැඩිය කලබල නැතිව මළත් කමක් නැහැ කියලා අර්තෙමොන්ගේ උගුර හපා කන්න ඉස්සරහට ගියා.

මේ අතර කරබස් බරබස් සොස්නා ගහ මුලට ඇවිත් ඒක හොලවමින් කෑ ගැසුවා :

"බැහැපිය, ගහෙන් බැහැපිය!"

බුරතීනො අත් දෙකෙනුයි, කකුල් දෙකෙනුයි දත්වලිනුයි ගහේ අත්තක් අල්ලා ගත්තා. ගහේ තියෙන සොස්නා ගෙඩි බිමට වැටෙන තරම් වේගයෙන් කරබස් බරබස් ගහ සෙලෙව්වා.

මේ ගහේ ගෙඩිවල පොත්ත කටු සහිතයි. සොස්නා ගෙඩි පොඩි පොල් ගෙඩි තරමට ඇති. ගෙඩියක් එහෙම ඔළුවට වැටුණොත් බොහොම රිදේවි.

වැනෙන ගහ බොහොම අමාරුවෙන් බුරතීනො අල්ලා ගෙන ඉන්නවා. කරබස් බරබස් දිව එළියට දමාගෙන ගහ හොළවනවා.

"රත්තරන් යතුර දීපන්!" කරබස් බරබස් එයාගෙ කිඹුල් කට ඇරලා කෑ ගැව්වා.

බුරතීනො අත්තක් දිගේ ඇවිත්, ලොකු සොස්නා ගෙඩියක නැට්ට කටින් හපන්නට පටන් ගත්තා. කරබස් බරබස් ඒ වේලාවේදී ගහ බොහොම හයියෙන් සෙළෙව්වා. එතකොට අර ලොකු සොස්නා ගෙඩිය බිමට පාත් වෙලා කරබස් බරබස්ගේ කටට ඩෝග් ගාලා වැටුණා.

කරබස් බරබස් ඉබේටම බිම ඉන්දෙ වුණා.

බුරතීනො තවත් සොස්නා ගෙඩියක් කඩලා එයාට ගැහුවා. ඒක කරබස් බරබස්ගේ තට්ටයට වැදුණා.

එතැනින් නවතින්නේ නැතිව, බුරතීනො කෑ ගහන්න පටන් ගත්තා : "කිසිම වරදක් නොකර ලී බෝනික්කන් වන අපට ගහනවෝ! අපට උදව්වට වරෙල්ලා!"

ඉස්සෙල්ලාම උදව්වට ආවේ උල් හොට ඇති කුරුල්ලො. ඒ ගොල්ල පොලිස් බල්ලන්ගෙ හොම්බට හොටෙන් ඇන්නා.

පොලිස් බල්ලො කට ඇරියෙ මැස්සන් වගෙ කුරුල්ලන්ව අල්ලා ගන්නයි. උල් හොට කුරුල්ලො රෑං ගාලා පියාඹලා ගියා.

ඒ වේලාවේදී අහසේ ඉඳලා පියාඹා ගෙන ආවේ නිල් කොණ්ඩෙ තියෙන ගෑනු ළමයා මල්වීනාට කුකුල් මස්, තාරා මස් ගෙනත් දෙන උකුස්සා. එයා ඇවිල්ලා කකුල්වල තියෙන උල් නියපොතුවලින් එක පොලිස් බල්ලකුව අල්ලා, අත් තටු ගහලා අහසට නැගලා ඊට පස්සෙ බල්ලව අත හැරියා...

පොලිස් බල්ලා කෙඳිරි ගාමින් උඩු බැලි අතට බිම වැටුණා.

අර්තෙමොන් අනිත් බල්ලගෙ ඇගට කඩා ගෙන පැනලා ඌව හපා කාලා අහකට පැන්නා.

අර්තෙමොන් සොස්නා ගහ වටේට රවුමක් දුවලා ගියා. එයා පස්සෙ තුවාල ලබාපු පොලිස් බල්ලොත් බුර බුරා දුවනවා.

අර්තෙමොන්ට උදව්වට ආවා ගෙම්බෝ. ඒ ගොල්ල ඇද ගෙන ආවා බොහොම මහලු ඇස් නොපෙනෙන ගැරඬි දෙදෙනෙකුව. මේ දෙදෙනාට දැන් හිටියත් එකයි මළත් එකයි. එක්කො දිරච්ච ගස් කඳක මැරෙන්නවෙනාව. නැතිනම්, මාන කොකෙකුගෙ ගොදුර බවට පත් වෙනවා. ගෙම්බො ඒ ගොල්ලන්ට කිව්වා වීරයින් වගෙ සටන් කරල මැරෙන්නයි කියලා, මහලු ගැරඬියො කැමති වුණා.

උදාර අර්තෙමොන් දැන් වටේට දුවන්නේ නැතුව කෙළින්ම සටන් කරන්න තීරණය කළා.

ඔහු වාඩි වෙලා දත් මිටි කෑවා.

පොලිස් බල්ලෝ දෙදෙනා අර්තෙමොන්ගේ ඇගට කඩා පැනලා තුන් දෙනාම එකට ගුළි ගැහිලා පොර කන්න වුණා.

බුල්ඩෝග් වර්ගයට අයත් පොලිස් බල්ලන් දෙදෙනාව අර්තෙමොන් හපා කෑවා, නියපොතුවලින් සීරුවා. ඒවා ගණන් ගන්නේ නැතුව උන් දෙන්නා බලා හිටියේ අර්තෙමොන්ගේ උගුරට පැනලා, උගුරෙන් අල්ලා ගන්න. උන්ගේ බිරීමයි, ගෙරවීමයි නිසා අවට දෙවනත් වුණා.

ඉත්තෑ පවුලම ආවා අර්තෙමොන්ට උදව් කරන්න. ඉත්තෑ තාත්තා, ඉත්තෑ අම්මා, ඉත්තෑ නැන්දා, ඉත්තෑ නෑනලා දෙන්නෙක් සහ ඉත්තෑ පැටව් ගොඩක්.

කළුපාට, දම්පාට මහත දෙබරුත් ආවා බුරතීනොටයි, අර්තෙමොන්ටයි උදව් කරන්න. උන්ගේ බඩ පැත්ත රත්තරන් පාටයි. උන් බියකරු තාලෙට හඬ නැංගුවා. දිග රැවුළු ගස් ඇති හපා කන ගෝනුස්සොත් ආවා.

මේ වන සත්තු, කුරුමිණි සත්තු, කුරුල්ලෝ සියලු දෙනාම පොලිස් බල්ලන්ගේ ඇඟට කඩා පැන්නා.

ඉත්තෑ පවුලෙ සියලු දෙනාම බෝල වගේ ගුලි වෙලා පොලිස් බල්ලන්ගේ හොම්බට ඉත්තෑ කුරු විද්දා.

බඹරු රුං රුං ගාලා ඇවිල්ලා පොලිස් බල්ලන්ගේ ඇඟට විස විද්දා. කුහුඹි හෙමින්, හෙමින් පොලිස් බල්ලන්ගේ ඇඟට ගොඩ වෙලා උන්ගේ නාස්පුඩු හපා කෑවා.

කුරුමිණියො ගෝනුස්සො පොලිස් බල්ලන්ගේ බුරිය හපා කෑවා.

උකුස්සා වරින් වර එක එක පොලිස් බල්ලාගේ හිසට කෙටුවා.

සමනළයොයි, මැස්සොයි, පොලිස් බල්ලන්ගේ ඇස් ඉදිරිපිට පියාඹා උන්ට බාධා කළා.

ගෙම්බෝ වීරයින් වගේ මැරෙන්නට සූදානම් ගැරඬි දෙන්නාව ලෑස්ති කරලා තැබුවා.

එක පොලිස් බල්ලෙක් කුඹීයන්ගේ විස ඉවසා ගන්න බැරුව කිඹුහුන් අරින්න කට ඇරිය හැටියේම ගැරඬියෙක් බල්ලාගේ කට ඇතුළට රිංගලා ආහාර නලය මැද ගුළි ගැහිලා හිටියා.

ඒ වේලාවේම අනිත් ගැරඬියත් දෙවැනි පොලිස් බල්ලගෙ කට ඇතුළට රිංගලා උගුර හිරවෙන්න ගුළි ගැහුණා.

පොලිස් බල්ලන් දෙදෙනාටම බොහොම අමාරුයි, උන්ව හපා කාලා, දෂ්ට කරලා, උන්ගෙ තුවාලවලින් ලේ ගලනවා. උන් කර කියාගන්නට දෙයක් නැතුව පොළවේ වැතිරිලා දඟලන්න වුණා.

උදාර අර්තෙමොන් සටනින් ජය ලබා ගත්තා.

මේ අතර කරබස් බරබස් බොහොම අමාරුවෙන් එයාගෙ කටේ හිරවෙලා තිබුණ සොස්නා ගෙඩිය එලියට ඇදලා දැම්මා.



ඔළුවට වැදුණු පාර නිසා එයාගෙ ඔළුව දෙදරුම් කාලා, ඇස් දොට්ට පැනලා. ඒ වුණාට කරබස් බරබස් බොහොම අමාරුවෙන් නැගිටලා ආයෙමත් සොස්නා ගහ හොළවන්නට පටන් ගත්තා. හුළං පහරට එයාගෙ යටි රැවුළ විහිදිලා ගිහින්.

ගහේ මුදුනට වෙලා හිටිය බුරතීනොට පෙනුණා ගහේ කඳෙන් වෑස්සෙන සොස්නා මැලියම් කරබස් බරබස්ගෙ යටි රැවුළෙ ගෑවිලා, යටි රැවුළ ගහට ඇලිලා තියෙන හැටි.

බුරතීනො ගහේ අත්තක එල්ලිලා කරබස් බරබස්ට විහිළු කරන්න පටන් ගත්තා:

"යටි රැවුළෝ, දිගු රැවුළෝ, ඔයාට බෑ මාව අල්ල ගන්න!"

එහෙම කියලා බුරතීනො බිමට පැනලා ගහ වටේට දුවන්න පටන් ගත්තා. කරබස් බරබස් අත් දෙක දිග ඇර ගෙන කොල්ලා පස්සෙන් ගහ වටේට දිව්වා.

එක වටයක් කැරකැවුනා. බුරතීනොව අල්ලා ගන්න ඔන්න මෙන්න කියලා ළං වුණා. බුරතීනො ඈත් වුණා. තව වටයක් ගහ වටේ යන විට මැලිය ම්වලට ගහට ඇලුණු යටි රැවුළ තවත් එතිලා, තවත් ඇලුණා. තුන්වෙනි වටයේදී තවත් එතිලා, තවත් ඇලුණා...

ඔන්න දැන් කරබස් බරබස්ගෙ යටි රැවුළ හොඳටම එතිලා, හොඳටම ඇලිලා ගහේ මැළියම් වලින් තදවෙලා.

දැන් එයාගෙ නිකටයි නහයයි සොස්නා ගහ ළඟටම හේත්තු වෙලා තියෙනවා. බුරතීනො කරබස් බරබස්ට දිව දිගු කරලා විහිළු කරලා, හංස විල ළඟට දුව ගෙන ගියා මල්වීනාවයි, පියෙරෝවයි හොයන්න.

සටනේදී තුවාල ලබපු අර්තෙමොන් කොර ගසමින්, බුරමින් ගියා.

තුවාල ලබාලා උගුරේ ගැරඬි හිරවෙච්ච පොලිස් බල්ලො දෙන්නා පණ අදිමින් වැතිරිලා හිටියා. කරබස් බරබස්ගෙ යටි රැවුළ සොස්නා ගහේ මැලියම් නිසා ගහේ කඳට එතිලා තිබුණා.

## ගල්ගුහාව තුළ

මල්වීනා සහ පියෙරෝ බට පඳුරු සහිත උණුසුම ඇති ගොඩනැගිල්ලක වාඩි වෙලා හිටියා. ඒ ගොල්ලන්ට උඩින් ලොකු මකුළු දැල් තිබුණා. ඒ දැල්වල මදුරුවන්ගෙ හා වෙනත් සතුන්ගේ පුංචි පිහාටු පැටලිලා.

නිල් පාට පුංචි කුරුල්ලෝ බට පඳුරෙන් පඳුරට පියාසර කරමින්, කඳුළු වගුරවමින් අඬන පුංචි ගෑනු ළමයා දිහා බලනවා.

ඈත කෑ ගසන, ගොරවන හඬ ඇහෙනවා. ඒ මරණයට බය නැතුව සටන් කරන අර්තෙමොන්ගෙ සහ බුරතීනොගේ හඬ වෙන්න ඕන.

"මට බයයි, අනේ මට බයයි!" මල්වීනා එහෙම කිය කියා හබරල කොළයකින් මුණ වහ ගත්තා.

පියෙරෝ එයාව සනසන්න කවි කිව්වා:

ගොඩැල්ලෙ අප වාඩි වෙලා,
හතර වටෙන් මල් පිපිලා.
මල් කහපාටයි, ඇස පිනවයි,
ලස්සන මල් බොහො සුවඳයි.
තියෙන තුරා ගිම්හානය
ගොඩැල්ල මත වාඩි වෙමුය,
අප දෙන්නා තනි වුණා,
සතුටකි මට මල්වීනා...

මල්වීනා අඩි පොළවේ හප්පලා කතා කළා :

"ඔය ළමයගෙ කන්දොස් කිරියාව මට උහුලා ගෙන ඉන්න බැහැ. තව අළුත් හබරල කොළයක් කඩා දෙන්න. පේනව නේද මේ කොළය කඳුලින් තෙමිලා, හිල් වෙලා."

ශබ්දයයි, කෑගැසීම නැවතුණා. මල්වීනා සෙමින් දෑත් වනලා දුක් වුණා.

"අරතෙමොන් සහ බුරතීනො මැරිලා ගියා වෙන්ට ඕන..."

ගොඩැල්ල මත මුණින් වැටිලා මල්වීනා අඬන්නට පටන් ගත්තා.

පියෙරෝ මොනවා කරන්න දැයි නොදැන බලා ගෙන හිටියා. සුළඟ හඬක් නගමින් සෙමින් පඳුරු මත හමන්නට වුණා.

ඔන්න අන්තිමේදී අඩි ශබ්ද ඇසුනා. ඒ කරබස් බරබස් වෙන්න ඕන. එයා ඇවිල්ලා දැන් මල්වීනාවයි, පියෙරෝවයි අල්ලා ගෙන එයාගෙ මහා දිග සාක්කුවල දමා ගිනියි. ඒවා හරියට පතුලක් නැති මහාවළක් වගෙයි. පඳුරු ඇත් මැත් කර ගෙන ඉස්සෙල්ලාම එන බුරතීනොගෙ දිගට දිගේ උලට උලේ ඇති නහය පෙනුණා. එයාගෙ කට කන් දෙක ළඟට යන කල්ම පළල් වෙලා. එයාගෙ පස්සෙන් අර්තෙමොන් උදාර බලු රාළ හාමි එනවා. එයාගෙ පිට උඩ පොදි දෙකක්.

"එයාට ඕන වුණා මාත් සමග සටන් කරන්න! මදෑ කෙරුවාවක හැටි!" බුරතීනො එහෙම පුරසාරම් දෙඩෙව්වේ මල්වීනාගෙයි, පියෙරෝගෙයි සතුට පවා ගණන් ගන්නේ නැතුවයි. "බළලා, හිවලා, පොලිස් බල්ලො, කරබස් බරබස් මට නම් ඒ ගොල්ල සේරම එකයි. නොදකින් විතරක් ! පුංචි කෙල්ලෙ බල්ලා පිට නගිනවා, ඒයි කොළු පැංචා වලිගය අල්ලා ගන්නවා." කියල බුරතීනො ආඩම්බර ලෙස අණ කළා. "යමු යන්න..."

ඉතින් ඔහොම බුරතීනො වීරයකු වගේ පඳුරු ඇත් මැත් කරමින් ඉදිරියට ගමන් කළා. එහා පැත්තේ විල...

පොලිස් බල්ලන්ට විරුද්ධව කළ සටන ඉවර වුණේ කොහොමද, කරබස් බරබස් අපව ලුහුබැඳ එන්නේ නැත්තේ මන්ද ආදී ප්‍රශ්න ඇසීමට පවා මල්වීනා සහ පියෙරෝ බය වුණා.

විල ළඟට යන තුරු උදාර අර්තෙමොන් කෙඳිරි ගගා, නොණ්ඩි ගසමින් ගියා. එයාගෙ තුවාලවලට වෙළුම් පටි බඳින්න ඕන හන්දා ගමන නවත්වන්න සිද්ධ වුණා. කඳු පාමුල වැවෙන මහා විශාල සොස්නා ගස්වල විශාල මුල් යට ගල් ගුහාවක් ඒ ගොල්ල දැක්කා. එතැනට බඩු පොදි ගෙන ගියා. එතැනට අර්තෙමොන් බඩ ගාලා ගියා.

උදාර අර්තෙමොන් ඉස්සෙල්ල එයාගෙ කකුල් හතර එකින් එක ලෙව කාලා වෙළුම් පටි බඳින්න මල්වීනා වෙත දිගු කළා. බුරතීනො මල්වීනාගෙ පරණ ගවොමක් ඉරලා වෙළුම් පටි වගෙ හැදුවා. පියෙරෝ වෙළුම් පටි අතේ තියා ගෙන බලා ගෙන හිටියා, මල්වීනා වෙළුම් පටි බැන්දා.

වෙළුම් පටිවලින් අර්තෙමොන්ගෙ කකුල් බැන්දයින් පස්සෙ එයාගෙ උණ බැලුවා. ඊට පසුව එයාට නින්ද ගියා.

බුරතීනො පියෙරෝට මෙහෙම කිව්වා :

"ඔයා පොකුණට ගිහිල්ලා වතුර ගේන්න."

පියෙරෝ බොහොම කීකරුව වැටි වැටී ගියා. යන ගමන් කවි කියනවා. යන ගමන් කේතලයේ මූඩිය නැති කළා. වතුර පොඩ්ඩක් ගෙනාවා.

බුරතීනො මල්වීනාට මෙහෙම කිව්වා :

"මල්වීනා, ගිහිල්ලා වතුර උණු කරන්න වෙලිච්ච බට ලී ටිකක් ගේන්න."

"මල්වවීනා බුරතිනො දිහා බැලුවේ දොස් පවරන විදිහටයි. එයා දෙඋර සොලවලා ගිහිල්ලා වෙලිච්ච බට ලී ටිකක් ගෙනාවා.

ඊට පස්සෙ බුරතීනො මෙහෙම කිව්වා :

"ඔන්න හොඳට හැසිරීමේ පල විපාක..."

එයාම වතුර ගෙනාවා, එයාම සොස්නා ගෙඩි සහිත අත්තක් කඩා ගත්තා. එයාම ගිනි මැලයක් ඇති කළා. ගිනි මැලය හඬ නගලා සොස්නා අතු හෙළෙව්වා... එයාම, ඒ කියන්නෙ බුරතීනොම කොකෝවා පානය සැදුවා.

"දැන් ඉතින් වාඩි වෙයල්ලා, මොනවා හරි ටිකක් කමු !"

මල්වීනා හිතේ වේදනාවෙන් යටිතොල හපාගෙන නිහඬව හිටලා දැන්, බොහොම තදින් ලොකු කෙනෙකු වගේ කතා කළා :

"බුරතීනො, ඔයා පොලිස් බල්ලන් එක්ක සටන් කරලා ජය ගත්තා, අපව කරබස් බරබස් ගෙන් බේරා ගත්තා. ඊට පසුවත් ඔයා වීරයකු වගේ කටයුතු කළා. ඒ වුණාට ඔයා හිතන්න එපා, ඔයාට පුළුවන් වෙයි කියල දත් මදින්නේ නැතුව, අත් සෝදන්නේ නැතුව කෑම කන්න. එයින් ඔයා නිදහස් වෙලයි කියල."

බුරතීනො ඉබේටම වාඩි වුණා : "ඔන්න වැඩක හැටි!" එයා ගෑනු ළමයාගේ ස්ථිර චරිතය නිසා පුදුම වෙලා බලා ගෙන හිටියා.

මල්වීනා ගුහාවෙන් පිටතට ගිහිල්ලා අත් පුඩි ගහලා පුංචි සතුන්ට අඬ ගැසුවා:

"සමනලයෝ, තණ පෙත්තෝ, කුරුමිණියෝ, ගෙම්බෝ..."

විනාඩියක් යන්න ඉස්සෙල්ලා මල් පරාග සමග ලොකු සමනලයෝ, තණ පෙත්තෝ, කුරුමිණියෝ ආවා. ගෙම්බෝ පැන පැන ආවා...

සමනලයෝ අත් තටු ගසලා ගල්ගුහාව ඇතුලේ බිත්තිය මත වැහුවා. ඒ මොකටද දන්නවද කෑම කන වේලාවට කෑමට වැලි කැට නොවැටෙන්නට.

කුරුමිණියෝ ගල්ගුහාවේ තිබිච්ච කුණු රොඩු සියල්ල ගුලි කරලා එළියට ගෙන ගියා.

තණ පෙත්තෙක් බුරතීනොගෙ නහය ළඟට ඉගිලිලා එයාට කටට දත් මදින බේත් දැම්මා. ඉතින් එයාට සිද්ධ වුණා අකමැත්තෙන හරි දත් මදින්න.

පියෙරෝගේ කටටත් දත් මදින බේත් අනික් තණ පෙත්තා දැම්මා. ඉතින් එයත් දත් මැද්දා.

බර්සුක් කියන සතා ඇවිත් මල්වීනාගේ සහ කොල්ලන් දෙදෙනාගේ සපත්තු මැදලා පිහ දාලා යන්න ගියා.

එතකොට එතනට ආවා ලස්සන කොණ්ඩ කුරුල්ලෙක්. එයා මොනවා හරි අමුතු දෙයක් දැක්කම එයාගෙ කොණ්ඩෙ කෙළින් හිටිනවා.

"කොණ්ඩෙ පීරන්නෙ කාගෙද?"

"මගේ කොණ්ඩෙ රැළි ගස්සලා, ලස්සනට පීරන්න." මල්වීනා කිව්වා.

"ඉතින් කණ්ණාඩිය කොහිද?" කොණ්ඩ කුරුල්ලා ඇහුවා.

එතකොට ගෙම්බෝ බක බක ගාලා මෙහෙම කිව්වා :

"අපි ගේන්නම්..."

ඒ ගොල්ලා විලට පැනලා වතුර යටට කිමිදිලා කණ්ණාඩිය වෙනුවට ගෙනාවා පෙති මාළුවකුව, උගේ දෙපැත්ත කණ්ණාඩියක් වගේ දිලිසෙනවා. මාළුවා නිදිමතේ හිටිය හන්දා එයා වැඩිය ගණන් ගත්තේ නැහැ එයාව කොහාට ගෙනියනවද කියල. ගෙම්බෝ දහදෙනෙක් එයාව උස්සා ගෙන ගියා.

කණ්ණාඩි පෙති මාළුවාට මල්වීනා ඉදිරිපිට තියලා එයාගේ කටට කේතලයෙන් වතුර වත් කළා, නැතිනම් , එයාට හුස්ම ගන්න බැරි වේවි.

කණ්ණාඩි පෙති මාළුවගේ දිලිසෙන ඇඟට මල්වීනාගේ කොණ්ඩෙයි මූණයි අගේට පේනවා. කොණ්ඩ කුරුල්ලා මල්වීනාගේ කොණ්ඩය රැළි ගසලා ලස්සනට පීරුවා. සමනලයෝ මල් පරාගවලින් එයාගෙ මූණට මල් පුයර දැම්මා.

"ගෑනු ළමයෝ, ඔන්න පීරලා ඉවරයි..." එහෙම කිව්වේ කොණ්ඩ කුරුල්ලා. එයා ගුහාවෙන් එළියට පියාඹලා ගියා.

ගෙම්බෝ කණ්ණාඩි පෙති මාළුවාව ආපහු ගෙන ගිහිල්ලා විලට දැම්මා. බුරතිනොයි, පියෙරෝයි මූණ විතරක් නොවෙයි බෙල්ලත් අත් දෙකත් හොඳට සෝද ගත්තා. මල්වීනා උදේ කෑම ගැනීමට කොල්ලන්ට අවසර දුන්නා.

කෑමට පස්සේ ගවොමට වැටිලා තිබුණු පුංචි ආහාර කෑලි පිසදා ගෙන මල්වීනා මෙහෙම කිව්වා:

"බුරතිනො, හොඳ ළමයා, පහුගිය වතාවේදී ඔයා කියවන විට ලිවීම ලියන විටදී නොවැ අප වෙන් වූණේ. අපි දැන් ඒ පාඩම ආයෙමත් පටන් ගනිමු."

බුරතිනොට සිතුනා එක පාරටම ගල් ගුහාවෙන් පැනලා දුවන්න. ඒ වුණාට අමාරුවේ වැටිච්ච මේ දෙදෙනාව දාලා යන්න බැහැ. බල්ලාත් තුවාල ලබලා. එයාවත් තනි කරන්න බැහැ. බුරතිනො මුණු මුණු ගෑවා:

"ලියන තීන්ත, පෑන්, කඩදාසි ගෙනාවේ නැහැ..."

"ඒක ඇත්ත නොවෙයි. ඒවා ගෙනාවා," එහෙම කිව්වේ අර්තෙමොන්. එයා කෙඳිරි ගගා, කටින් බඩු පොදිය ලිහලා තීන්ත කුඩුවයි, පෑන් පෙට්ටියයි, කොපි පොතකුයි, ඒ විතරක් නොවෙයි පුංචි ලෝක ගෝලයකුයි එළියට ගත්තා.

"පෑනෙන් ලියන කොට පෑන් තලයට කිට්ටුවෙන් අල්ලන්න එපා. අත තද කරන්නත් එපා. එහෙම නැතිනම්, සිද්ධ වෙන්නෙ ඇඟිලිවල තීන්ත ගෑවෙන එකයි." මල්වීනා එහෙම කියලා එයාගෙ ලස්සන ඇස් ගල්ගුහාව ඇතුලෙ හිටිය සමනළයින් දෙසට යොමු කළා.

ඔන්න ඒ වේලාවේදීම අතු සෙළවෙන හඬක් ඇසුනා. ගල්ගුහාව ළඟින් බේත් කුඩැල්ලො වෙළඳාම් කරන දූරෙමාර් සහ කරබස් බරබස් යනවා දැක්කා.

රූකඩ නැටුම් ශාලාවේ අයිතිකාර කරබස් බරබස්ගේ නළල ඉදිමිලා. නහය රතුම රතු පාටයි, ජම්බු ගෙඩියක් වගෙ ඉදිමිලා. යටි රැවුළ පුරාම සොස්නා ගහේ මැලියම් සහ කුණු රොඩු.

කහිමින් කෙල ගසමින් කරබස් බරබස් මෙහෙම කියනවා ඇහුණා :

"ඒ ගොල්ලන්ට වැඩි දුර යන්ට බැහැ. කැලෑවෙ මෙතන අහළ පහළ ඉන්න ඕන."

## රත්තරන් යතුරේ රහස කරබස් බරබස්ගෙන් දැන ගැනීමට බුරතීනො උත්සාහ ගනී

කරබස් බරබස් සහ දූරෙමාර් හෙමින් ගල්ගුහාව ළඟින් ගියා.

සටන් කරන වේලාවේදී බොහොම බයවෙච්ච දූරෙමාර් පඳුරකට රිංගලා හිටියා. සටන ඉවර වුණායින් පස්සෙ බුරතීනොයි, අර්තෙමොනුයි ඈත යන කල්ම එයා හැංගිලා හිටියා. ඔන්න ඊට පස්සේ එයා සොස්නා ගහේ යටි රැවුළ පටලවාගෙන හිටිය කරබස් බරබස්ව ගළවා ගත්තේ බොහොම අමාරුවෙන්.

"අර කොල්ලා තමුසෙට හරි වැඩක් නොවැ කළේ! තමුසේගේ කනේ පිටිපස්ස පැත්තට බේත් කුඩැල්ලන් විසිහතර දෙනෙක් තියන්න සිද්ධ වෙනවා." දූරෙමාර් කිව්වා.

"කුඩැල්ලා යකාට ගියාවෙ! වහාම උන්ව පන්නා ගෙන යන්න ඕන!...

හතරදෙනා ගිය පාර දිගේ සෑම පඳුරක්ම හෝදිසි කර කර කරබස් බරබස් සහ දූරෙමාර් ගමන් කළා.

පරණ ගස් මුළක ගිනි මැලයක දුම් ගහලා තිබෙනවා මේ දෙන්නට පෙනුණා. නමුත් මේ දෙදෙනාට හිතා ගන්නවත් බැරි වුණා, ඒ ගල්ගුහාව ඇතුළෙ මේ හතරදෙනා හැංගිලා ඉන්නා බව. ඒ විතරක් නොවෙයි, ගල් ගුහාව ඇතුළෙ ගිනි මැලයකුත් තියෙන බව.

"මට ඒ බුරතීනොව හමු වුණොත් මම එයාව පිහියෙන් පතුරු ගහනවා." කරබස් බරබස් මුණු මුණු ගාන්න වුණා.

හතරදෙනාම ගල්ගුහාවේ හැංගිලා හිටියා.

දැන් ඉතින් මොනවා කරන්නද? දුවන්නද? නමුත් අර්තෙමොන්ගෙ කකුල් වෙළුම් පටිවලින් බැඳලා. එයා දැන් හොඳටම නිදි. එයාගෙ තුවාල සනීප වෙන්න නම්, එයා පැය විසි හතරක්ම නිදා ගන්න ඕන.

ඒ උදාර බලු රාළ හාමිව අත හැරල දාලා යන්නද?

බැහැ. අපොයි, බැහැ. ගැළවෙන්න ඕනත් එකට. මැරෙන්න ඕනත් එකට...

බුරතීනො, පියෙරෝ, මල්වීනා මුල්ලකට වෙලා කාටවත් ඇහෙන්නේ නැතුව බොහෝ වේලාවක් මේ ගැන කතා කළා. උදේ වන තුරු ගල්ගුහාවේ නැවතීමටත්, ගල්ගුහා දොරකඩ වටේ අතු දාලා එළියට හොයා ගන්න බැරි වන විදිහට සරසන්නටත්, අර්තෙමොන්ට තිපල් කසාය දෙන්නත් තීරණය කළා.

ඔන්න ඔය තීරණයට පස්සේ බුරතීනො මෙහෙම කිව්වා:

"මට ඕන කොහොම හරි ඔය රත්තරන් යතුරේ රහස දැනගන්ට. ඒ යතුරෙන් අරින්න ඕන දොර කොහෙද තියෙන්නෙ කියල දැනගන්න ඕන. ඒ දොරට එහා තියෙන නිධානය අපට වාසනාව ගෙන දේවි..."

"බුරතීනො, ඔය ළමයා නැතුව මට තනිවම නවතින්න බැහැ. මට බයයි."

එහෙම කිව්වා, මල්වීනා.

"පියෙරෝ ඉන්නේ මොකටද?"

"එයා කවි කියනවා. එච්චර තමා..."

"මම මල්වීනාව ආරක්ෂා කරනවා සිංහ රාජයකු වගේ. ඔය ගොල්ල තවම මගේ හැටි දන්නේ නැහැ." පියෙරෝ ගොරෝසු හඬකින් හැබෑම සිංහයකු වගේ කතා කළා.

"හරිම හපනා පියෙරෝ ! ඔන්න ඔහොම ඉස්සෙලත් හැසුරුණා නම්."

එහෙම කියලා බුරතීනො කරබස් බරබස්ගෙත් දුරෙමාර්ගෙත් පස්සෙන් දුවන්නට පටන් ගත්තා.

එයාට ඔවුන්ව පෙනුනා. කරබස් බරබස් ගංගිත්තක් අද්දර වාඩි වෙලා හති අරිනවා. දුරෙමාර් එයාගෙ ඉදිමිච්ච ඔලු ගෙඩියට බේත් කොළ තියලා බඳිනවා. කරබස් බරබස්ගේ බඩ හිස් වෙලා. එයාට බඩගිනියි. හිස් වෙච්ච එයාගෙ බඩ ගෙඩියෙන් නගින හඬ ඈතට ඇහෙනවා. දුරෙමාර්ටත් බඩගිනි වෙලා එයා ඉක්කා ගහනවා.

"මහත්මයා, මොනවා හරි කෑම ටිකක් කන්න. අර පල් හොරුන්ව අපට රෑ වන තුරුම හොයන්න වේවි." දුරෙමාර් කිව්වා.

"අපොයි, මට නම් දැන් ඌරු පැටියකුයි, තාරාවො දෙන්නකුයි කන්න තරම් බඩගිනියි." කරබස් බරබස් බඩගින්නෙම උත්තර දුන්නා.

දෙන්නම කෑම විකුණන කඩයකට ගියා. "මුහුදු වාඩිය බොජුන් හල" කියන දැන්වීම් පුවරුව වහල උඩ සවි කරල තිබුණා. මේ දෙදෙනා කෑම ශාලාවට ඇතුළු වෙන්න ඉස්සෙල්ලා බුරතීනො දුවලා කඩේ ළඟ තිබුණු උසට වැව්ච්ච තණ කොළ පඳුරක හැංගුණා. එයාව මේ දෙදෙනාට පෙනුණේ නැහැ.

කෑම විකුණන ශාලාවේ දොරකඩ ළඟ ලොකු කුකුළෙක් හාල් ඇට, මුං ඇට වගේ දේවල් අහුලා කකා හිටියා. එයාගෙ කරමලේ හරිම ලස්සනයි, රතුම රතු පාටයි. එයා බොහොම ආඩම්බරයෙන් ඔළුව වනලා කෑම දැක්ක හැටිය කිකිළියන්ට අඬ ගසනවාඃ

"කොක් කො, කෝ, කෝ!"

බුරතීනො හෙමිහිට පුංචි කේක් කෑල්ලක් අල්ලට තියල එයාගෙ හොට ළඟට දික් කළා.

"ලොකු මහත්තයා පොඩි කෑමක රස බලන්නකො."

කුකුළා ලී බෝනික්කා දෙස බොහොම දැඩි බැල්මක් හෙළලා එයාගේ අල්ලේ තිබුණු පුංචි කේක් කෑල්ල කෑවා.



"කො-කො-කො!..."

"ලොකු මහත්තයො, මට ඕන කෑම කඬේ ඇතුළට යන්න අයිතිකාරයාට පෙනෙන්නෙ නැතුව. මම මහත්මයාගෙ බොහොම ලස්සන වලිගය අස්සට වෙලා රිංගා ගන්නද? මහත්මයා මාව එහාට ගෙනියනවද?"

"කො-කො-කො!" කුකුළා තවත් බොහොම ආඩම්බර විදිහට හැඬලුවා.

කුකුළාට කිසිම දෙයක් තේරුණේ නැහැ. එයා නොතේරුණු බව පෙන්වන්නේ නැතුව කෑම ශාලාවේ ඉස්සරහ පැත්තෙන් බොහොම ආඩම්බරයට ඇතුළු වෙන්න හැදුවා. බුරතීනො එයාගෙ අත් තටුවක් අල්ලලා එයාව හැරෙව්වා. ඊට පස්සෙ කුකුළට මුවා වෙලා කුස්සියට රිංගා ගත්තා. එතන තමා කෑම ශාලාවේ අයිතිකාරයා - තට්ට රාළ හිටියේ. එයා කුස්සියේ ලිප අයිනට වෙලා කෑම උයනවා. බදිනවා.

"පළයන් යන්න නාකි කුකුළෝ!" මෙහෙම කෑ ගහලා අයිතිකාර තට්ට රාළ පයින් එකක් ගැහැව්වා. කුකුළා "කොක් කො, කෝ" ගාලා කෑ ගහලා මහ පාරට වීසි වුණා. අනික් කුකුලො සහ කිකිළියොත් බොහොම බයවුණා.

මේ අතර බුරතීනො අයිතිකාරයට නොපෙනී එයාගෙ කකුල් දෙක අස්සෙන් රිංගලා ලොකු මැටි බුජමක් පිටුපස්සේ හැංගිලා හිටියා.

ඔන්න ඒ වේලාවේ කරබස් බරබස්ගෙ කට හඬ ඇහුණා. දුරෙමාර් එයාගෙ පස්සෙ එන සැටි ඇහුණා.

කෑම ශාලාවේ අයිතිකාරයා ඉදිරියට ඇවිල්ලා මේ දෙන්නාට හිස පාත් කරලා ආචාර කළා.

ඒ වේලාවේදී බුරතීනො ලොකු මැටි බුජම අස්සට රිංගලා, ඒක ඇතුළෙ හැංගුණා.

ඔය කෑම කඩයට තමයි, මීට ටික දවසකට ඉස්සෙල්ලා, බුරතීනොයි, අලීසා කපටි හිවලියයි, බැසීලියො බොරු පොට්ට බළල් තඩියයි ගියේ.

## බුරතීනො රත්තරන් යතුරේ රහස දැන ගනී

කරබස් බරබස් සහ දුරෙමාර් බැදපු ඌරු පැටියකුව රස කර කර කෑවා. කෑම ශාලාවේ අයිතිකාරයා මේ දෙදෙනාගේ වීදුරුවලට වයින් වත් කළා.

කරබස් බරබස් ඌරු ගාතයක් හප හපා අයිතිකාරයාට සැර වුණා.

"නුඹේ වයින් බොහොම බාලයි. අන්න අතන තියෙන බුජමෙන් මට වයින් වත් කරනවා." එයා ඇඟිල්ල දිගු කරලා පෙන්නුවා බුරතීනො හැංගිලා ඉන්න බුජම.

"මහත්මයා, ඒ බුජම හිස්!" අයිතිකාරය කිව්වා.

"බොරු නොකියා පෙන්නපන්!

එවිට අයිතිකාරයා බූජම මුණින් අතට නවලා පෙන්නුවා. බූජම ඇතුළෙ හිටිය බුරතීනො වැළමිටවලින් බූජමෙ ඇතුළෙ දෙපැත්තට වාරු වෙලා හිටියා. එළියට වැටුණේ නැහැ.

"ඒක ඇතුළෙ මොනවදෝ කළු පාටට තියෙනවා," කරබස් බරබස් ගොරවලා කිව්වා.

"ඒක ඇතුළෙ මොනවදෝ සුදු පාටට පේනවා" එහෙම කිව්වේ දූරෙමාර්.

"මහත්වරුනි, මම බොරු කියනවා නම්, මගේ දිව ගිලේවි. මගේ බෙල්ල ගහල දාන්න! මේ බූජම හිස්!"

"එහෙම නම්, ඒ බූජම මේසය උඩ තියෙනවා. අපි ඒකට මස් කටු වීසි කරන්නම්."

බුරතීනො හැංගිලා හිටිය බූජම කරබස් බරබස්ටයි දූරෙමාර්ටයි මැද තිබුණු මේසය උඩ තැබුවා. මේ දෙන්නා බූජමට මස් කටු, හම් කෑලි වීසි කළා. ඒවා සියල්ල බුරතීනොගෙ ඔළුව උඩට වැටුණා.

කරබස් බරබස් හුගක් වයින් බීලා යටි රැවුලේ තිබුනු මැලියම් වේලා ගන්න ලිප ළඟට ගියා. යටි රැවුළෙන් මැලියම් බින්දු, බින්දු ගලා ගියා.

"මට බුරතීනොව හම්බවුණොත් අල්ලෙ තියල ගෙම්බකු පොඩි කරනවා වගේ චප්ප කරලා දානවා"

කරබස් බරබස් දොඩවන්න වුණා.

"ඒ නීච කොල්ලට එහෙම කළාට කමක් නැහැ. ඒකට ඉස්සෙල්ලා එයාගෙ ඇඟට ලේ උරා බොන කූඩැල්ලො තියන්න ඕන. උන් එයාගෙ ලේ ඔක්කොම උරා බොනවා ඇති." දූරෙමාර් කතාවට දිරි දුන්නා.

"නැහැ! නැහැ! ඔක්කෝටම ඉස්සෙල්ලා මම එයාගෙන් රත්තරන් යතුර උදුරා ගන්නවා..." කරබස් බරබස් සැර වෙලා මේසයට අතින් ගැහුවා.

ඔන්න ඒ වර කතාවට කට ඇම්මා කෑම ශාලාවේ අයිතිකාරයා. බුරතීනො සහ අනික් තුන්දෙනා පැනලා ගිය බව එයාටත් ආරංචි වෙලා තිබුණා.

"මහත්මයා, උන්ව හොයන්ට මහන්සි වෙන්න එපා. මම දැන් අඬගහගෙන එන්නම් කඩිසර එවුන් දෙදෙනකුව. ඔය දෙන්නා ඔහොම වයින් බිබී ඉන්න. එවුන් දෙන්න කැලෑවට ගිහිල්ල ඔය ලී බෝනික්කන්ව ඇද ගෙන ඒවි."

"හොඳයි. නුඹේ එවුන්ව යවාපන්!" මෙහෙම කියල කරබස් බරබස් වයින් බීලා වෙරි වෙලා හිටිය නිසා ගිනි මැලය ළඟට දෙපා ළං කරලා වෙරිමර ගාතේ සිංදුවක් කිව්වා:

මගෙ රූකඩ බාලයෝ
ලීයෙන් හැදූ මෝඩයෝ.
රූකඩවල රජා මමයි,
මුදල් ධනය මගේ තමයි.

හයානක කරබස්,
බොහොම හොඳ බරබස්...
රූකඩයෝ මා ඉදිරියෙ
හිස නමලා හිටු මැදිරියෙ
ලස්සන වුණත් රූකඩ කෙල්ල,
මගෙ කස පහරට වෙනවා මෙල්ල
ලනු හතකියි මගෙ කසයට
ගැට හතකියි මගෙ කසයට
කසය පෙන්වා කරමි තර්ජන
රූකඩයො නොකරති ගර්ජන
රූකඩයො නටනවා
සල්ලි මම ගරනවා
රන් කාසි එකතු කරනවා
සාක්කුව මගෙ පිරෙනවා...

එවිට බුජමෙ අඩියට වෙලා හිටිය බුරතීනො අමතු හඬකින් මෙහෙම කිව්වා:

"රහස කියාපන්, රහස හෙළි කරපන්!"

බලාපොරොත්තු නොවුණු කතාව නිසා හකුපාඩා පටාස් ගාලා හප්පා ගත් කරබස් බරබස් ඇස් මහත් කර ගත්තා:

"එහෙම කිව්වෙ නුඹද?" කියලා දුරෙමාර්ගෙන් ඇහැව්වා.

"නැහැ. මම නොවෙයි..."

"එහෙනම්, මට රහස එළි කරන්නයි කියල කිව්වේ කවුද?"

දුරෙමාර් මිත්‍යා විශ්වාස අදහන කෙනෙක්. ඒ විතරක් නොවෙයි, එයත් බොහොම වයින්බීලා හිටියා. දුරෙමාර්ගෙ මූණ දම් පාට වෙලා ඇකිලිලා ඉරිතැලිලා ගියා.

දුරෙමාර් දිහා ඔරවලා බලා කරබස් බරබස් දත් විරිත්තලා සැර කළා.

"රහස හෙළි කරනු! නැතිනම්, නුඹට මේ මේසයෙන් එහාට යන්ට ඉඩ ලැබෙන්නේ නැහැ." අපුරු කටහඬ ආයෙමත් ඇහුනා.

කරබස් බරබස්ට නැගිට ගන්න ඕන වුණා. නමුත් එයාට දෙපා හොළවාග න්නවත් බැහැ.

"මො-මො-මොන රහසද?" එයා ගොත ගසමින් ඇසුවා.

කටහඬ පිළිතුරු දුන්නා:

"තොර්තීල ඉබ්බා කියපු රහස"

දුරෙමාර් කොච්චර බය වුණාද කිව්වොත් එයා පුටුවෙන් බිමට වැටුණා. කරබස් බරබස්ට කතා කරන්ට බැරිව ගියා.

"රහස් දොර කොහෙද? රහස් දොර කොතනද?" රැට බටයක් දිගේ යන අවතාරයක හඬක් වගේ ආයෙමත් හඬක් ඇහෙනවා.

"කියන්නම්, කියන්නම්. මීට පස්සෙ ප්‍රශ්න නොකරනු! කාර්ලොගේ කුටියෙ තිරයට පිටු පස්සෙ තියන දොර..." කරබස් බරබස් රහස එළි කළා.

එහෙම කියපු හැටියට ආවා කෑම ශාලාවේ අයිතිකාරයා.

"මෙන්න මම කියාපු ගෝළයෝ දෙන්නා. මුන්ට සල්ලි දෙනවා නම්, මුන් යකාව වුණත් හොයා ගෙන ඒවි..."

එයා දොරකඩ ළඟ හිටිය අලීසා හිවලිය සහ බැසීලියො බළල් තඩියාව පෙන්නුවා. අලීසා බොහොම ගරු කරලා තොප්පිය ගළවලා හිස පාත් කළා.

"කරබස් බරබස් මහත්තයා, දුප්පත් අපට රන් කාසි දහයක් තෑගි දෙන්න. මම ඔබ තුමාට මෙතැනින් හෙළවෙන්නේ නැතිව, පෙන්වා දෙන්නම් බුරතීනො හැංගිලා ඉන්න තැන,"

කරබස් බරබස් යටි රැවුලට වැසිලා තිබුණු කබා සාක්කුවට අත දාලා රන් කාසි දහයක් අලීසා හිවලියට දීලා ප්‍රශ්න කළාඃ

"මෙන්න සල්ලි, බුරතීනො කොහිද?"

අලීසා කාසි දහය කීප වරක්ම ගණන් කරලා, හූල්ලලා කාසි පහක් බැසීලියොට දීලා ඉස්සරහ කකුලෙන් මේසය උඩ තියන බුජම පෙන්නුවාඃ

"බුරතීනො හැංගිලා ඉන්නෙ ඔය බුජම ඇතුලේ, මහත්මයා..."



කරබස් බරබස් බුජම දැතින් ඔසවලා පොළවේ ගැහුවා. බුජම කැලි කැලි වලට වීසි වුණා. ඒක ඇතුළෙ තිබුණු මස් කටු හැම තැනම වැටුනා. බුරතීනො නැගිටලා අනිත් අය පුදුම වෙලා කට ඇර ගෙන බලා ගෙන ඉන්න කොට, ඊයක් වගේ වේගයෙන් කෑම ශාලාවෙන් පිට වෙලා කුකුලාගේ වළිගය ඇතුළට රිංගා ගත්තා. කුකුළා මැරිච්ච පණු කුණක් දිහා බලා ගෙන කන්නද එපාද කියල හිත හිතා හිටිය වෙලාවේදී තමා මෙහෙම සිද්ධ වුණේ.

"කුකුල් රාළ හාමි, ඔයා තමා මාව පාවා දුන්නේ! දැන් ඉතින් මාවත් අර ගෙන පණ එපා කියලා වේගයෙන් දුවපන්!" බුරතීනො සැරවුණා.

කුකුළාට කිසි දෙයක් තේරුම් ගන්න බැහැ. එයා බුරතීනොව අරගෙන අත් තටු ගහලා වේගයෙන් දුවන්න පටන් ගත්තා. බුරතීනො කුකුළගෙ වලිගෙ එල්ලී ගෙන හිටියා. කුකුළා පුංචි කන්දෙන් එහාට ගිහිල්ලා කැලෑවට වැදුනා.

බුරතීනො අතුරුදහන් වෙච්ච හැටි කරබස් බරබස්, දුරෙමාර්, කෑම ශාලාව අයිතිකරුවා පුදුම වෙලා බලා ගෙන හිටියා. ඒ ගොල්ල හැම තැනම හොයලා බැලුවා. බුරතීනො නැහැ. බොහොම ඈත කුකුළා වේගයෙන් දුවන සැටි පේනවා. කුකුළා මෝඩ සතෙකු නිසා ඌ ගැන කවුරුත් සැළකිල්ල යොමු කළේ නැහැ. බුරතීනො අතුරුදහන් වෙලා.

## බුරතීනො පළමුවැනි වරට බලාපොරොත්තු නැති කර ගනී. එහෙත් සියල්ල හොඳ අතට හැරෙයි

මෝඩ කුකුළා බොහොම වේගයෙන් දුවලා ගිය හන්දා එයාට මහන්සි ඇති වුණා. එයා හොට ඇර ගෙන හති දැම්මා. බුරතීනො වළිගය අත හැරලා එළියට පැන්නා.

"ලොකු උන්නැහෙ, දැන් ඉතින් කිකිළියන් ළඟට යන්න..." බුරතීනො කුකුළාට කිව්වා.

බුරතීනො හංස විලට තනිවම ගියා. ඒ විල ලස්සනට දිලිසෙනවා.

සොස්නා ගහත් පොඩි ගල් පර්වතයත් පෙනුණා. වටේට අතු කඩල දාල. තණ කොළ පෑ ගිලා. රෝදවල සලකුණුත් තියෙනවා.

බුරතීනොගෙ හදවත පට පට ගාලා ගැහුණා. එයා පොඩි ගල් පර්වතයෙන් බැහැලා ගස් මුල් , පඳුරුවල හොයලා බැලුවා.

ගල් ගුහාව ඇතුළෙ කවුරුවත් නැහැ!

මල්වීනා, පියෙරෝ, අර්තෙමොන් එහි හිටියේ නැහැ. රෙදි කැලි දෙකක් විතරයි තිබුණේ. බුරතීනො ඒවා ඇහිඳ ගත්තා. ඒවා පියෙරෝගේ අත් දිග කමිස කැලි.

යාළුවන්ව කවුදෝ හොරකම් කර ගෙන ගිහිල්ලා! ඒ ගොල්ලන්ව මරලා දාලා! බුරතීනො මුණින් අතට වැටුණා. එයාගේ දිග නහය මහ පොළවට ඇනුණා.

යාළුවන්ගේ වටිනාකම එයාට හොඳට තේරුම් ගියේ දැන් තමයි. මල්වීනා ඕන තරම් හැසිරෙන හැටි කියා දීලා උගන්නපු දෙන්. පියෙරෝ දහස් වාරයක් වුණත් කවි කියාපු දෙන්. නැවත වරක් යාළුවන්ව දැක ගන්ට බුරතීනො එයාගෙ රත්තරන් යතුර වුණත් දෙන්න සූදානම්.

බුරතීනො වැටිලා හිටිය තැන පොළව ඇතුළෙ ශබ්දයක් නැතුව පොළව හාරා ගෙන වැලි මීයෙක් උඩට ආවා. වැලි මීයා එයාගෙ රෝස පාට පුංචි අත් වලින් අත්පුඩි ගහලා කීස්, කීස් ගාලා තුන් පාරක් කෑ ගහලා මෙහෙම කිව්වා :

"මගේ ඇස් පේන්නේ නැතිවට මගේ කන් අගේට ඇහෙනවා. මෙතැනට ආවා එළුවන් බැඳපු කරත්තයක්. ඒ කරත්තෙ වාඩි වෙලා හිටියෙ මෝඩයින්ගේ රටේ ආණ්ඩුකාරයයි, රහස් පරීක්ෂකයොයි. ආණ්ඩුකාරයා අණ කළා :

"මගේ ඉතාම හොඳ පොලිස් බල්ලන් දෙදෙනකු රාජකාරි කරන වේලාවේදී ඒ දෙන්නට පහර දීල තුවාල කරපු මුන්ව අල්ලා පියව්!"

"රහස් පරීක්ෂකයෝ, 'බහු! බහු!" ගෑවා.

"ඔන්න ඊට පස්සේ ගල්ගුහාව ඇතුළෙ මහ විශාල ගෝසාවක් ඇහුනා. ඔයාගේ යාළුවන්ගේ අත් පා බැඳලා, රෙදි පොදිත් බැඳලා කරත්තයට පටවා ගෙන ඒ ගොල්ල යන්න ගියා." කියලා වැලි මීයා විස්තර කළා.

දැන් ඉතින් නහය පොළවේ අතුල්ලා ගෙන ඉන්න ඕන නැහැ. බුරතීනො නැගිටලා කරත්ත රෝද පාරේ දිව්වා. පොකුණට එහා තණ කොළ පඳුරු වැවිලා තියෙන පිටියට ගියා.

එයා ඔහොම ගමන් කළා... ගමන් කළා.. කිසිම සැලැස්මක් බුරතීනොට තිබුණේ නැහැ. යාළුවන්ව කොහොම හරි බේරා ගන්න ඕන, එච්චරයි- බුරතී-නො කල්පනා කළේ.

එයා පෙරේදා රෑ තමා පෙරළීගෙන වැටුනු කඳු ගැටිත්තට ආවේ. එතැනට තෝර්තීල ඉබ්බා ඉන්න පොකුණ පේනවා. කරත්තෙ යනවා පොකුණට යන පාර දිගේ. ඇට සැකිළි වගේ කෙට්ටු එළු මාල්ලෝ දෙදෙනෙක් ඒ කරත්තේ අදිනවා.

කරත්තෙ ඉස්සරහ වාඩි වෙලා හිටියා මහත බලලෙක්. එයාගෙ ඇස් දෙකට දාලා තිබුණේ රත්තරන් රාමුව ඇති ඇස් කණ්ණාඩි කුට්ටමක්. එයා තමා ආණ්ඩුකාර හිවලාට රහස් කියන නිලදරුවා. එයා පිටුපස ආඩම්බරකාර ආණ්ඩුකාර හිවලා වාඩි වෙලා හිටියා... බඩු පොදි උඩ මල්වීනා ගැනු ළමයයි, පියෙරෝයි, වෙළුම් පටිවලින් ඔතාපු අර්තමොන් බල්ලයි ලැගලා හිටියා.

ඉස්සර හැමදාම අර්තෙමොන්ගෙ වලිගෙ ලස්සනට පීරලා තිබුණා. දැන් ඒ වලිගෙ කුණු තැවරිලා.

කරත්තෙට පිටුපසින් රහස් පරීක්ෂක පින්චර් වර්ගයට අයත් බල්ලො දෙන්නා ගමන් කළා.

හිටිය ගමන්ම පින්චර් වර්ගයට අයත් මේ බල්ලො දෙන්නා බුරතීනො හිටිය පුංචි කඳු ගැටිය දිහා බැලුවා. එයාගෙ තොප්පියෙ කුඩුම්බිය උන් දෙදෙනා දැක්කා.

උන් දෙන්නා බොහොම වේගයෙන් කඳු ගැටිය නගින්ට පටන් ගත්තා. බුරතීනොට හැංගෙන්න තැනක් නැහැ. දුවලා බේරෙන්ටත් බැහැ. බුරතීනො පුංචි කන්දේ ඉඳලා දැත් ඔසවලා තොර්තීල ඉබ්බා ඉන්න පෙඳ පාසි තියෙන පොකුණට පැන්නා.

බුරතීනොගෙ ඉල්ලකය අනුව එයා හරියට තොර්තීල ඉබ්බා ඉන්න පොකුණට වැටෙන්ට ඕන. නමුත් විශාල හුළං පාරකට එයා අසු වුණා.

ඉතින් ඔය හුළං පාරට ලියෙන් හදාපු බුරතීනො කැරකැවිලා, වෙනින් පැත්තකට ගියා. හුළං පාරත් සමග බුරතීනො 'දඩාස්' ගාලා කරත්තෙ උඩට වැටුනා. කොහාටද දන්වද එක පාරටම ආණ්ඩුකාර හිවලාගේ ඔළුව උඩට.

රත්තරන් රාමුව සහිත ඇස් කණ්ණාඩි කුට්ටම ඇඳලා හිටිය බළල් තඩියා මේ නිසා බොහොම බය වුණා. එය නීචයෙක් ඒවගේම බය ගුල්ලෙක්. බළල් තඩියා සිහි නැතුව ගියා වගේ බොරුවට බිමට ඇද වැටුනා.

ආණ්ඩුකාර හිවලා, එයත් බොහොම ලොකු බිය ගුල්ලෙක්. එයත් හොඳටම බයවෙලා පණ බේරා ගන්න කන්ද පැත්තට දිව්වා. සිහිය නැතුව දිව්ව හන්දා ඒ හිවල් මොටා ගිහිල්ලා වැදුණේ බර්සුක් සත්තු ඉන්න ගුහවකට. එතැනදී බර්සුක් සත්තු වට කර ගෙන හිවලාව හපා කන්න පටන් ගත්තා.

එළුවෝ බය වෙලා දඟලපු හන්දා කරත්තෙ පෙරළුණා. මල්වීනායි, පියෙරෝ සහ අර්තෙමොනුයි බඩු පොදි දෙකත් සමග හබරල කොළවලින් වැහිලා තියෙන බැද්දට රෝල් වෙලා ගියා.

මේවා සියල්ල කොතරම් වේගයකින් සිද්ධ වුණාද, ඔය ළමයින්ට එකයි. දෙකයි, තුනයි කියන්න වේලාවක් තිබුණේ නැහැයි කියල කියන්න පුළුවනි.

පින්චර් වර්ගයට අයත් රහස් පරීක්ෂක බල්ලෝ දෙදෙනා වේගයෙන් දුවගෙන ආවා කරත්තෙ ළඟට. උන්ට පෙනුණා අර බළල් තඩියා සිහි නැතුව වැටිල ඉන්න හැටි. හබරල ගස් තියෙන බැද්දේ මල්වීනා, පියෙරෝ සහ අර්තෙමොන් වැටිල ඉන්න හැටිත් උන් දුටුවා. ඒ වුණාට ආණ්ඩුකාර හිවලා ආ ගිය අතක් පෙනෙන්න නැහැ.

ඒ හිවලා අතුරුදහන් වෙලා. මේ රහස් පරීක්ෂකයෝ දෙන්නා තමන්ගේ පණ වගේ ආරක්ෂා කරන්න ඕන ආණ්ඩුකාරයාව.

පළමුවැනි රහස් පරීක්ෂකයා එයාගෙ බලු හොම්බ උස්සලා උඩු බුරලන්න වුණා.

දෙවැන්නත් ඒවගේම උඩු බුරලන්න පටන් ගත්තා:

"බහු-උ-උ-උ!..."

උන් දෙන්නා කන්ද උඩත්, පහළත් සෙව්වා. උන් ආයෙමත් බයෙන් උඩු බුරුලන්න පටන් ගත්තා. උන් දෙන්නට කසයයි, හිර කුඩුවයි හීනෙන් පෙනෙන්න වුණා.

බොහොම කණගාටුවෙන් හා බයෙන් උන් බඩ ගගා මෝඩයින්ගේ රටට ගියා. උන් තීරණය කළා පොලීසියට මහා ලොකු බොරුවක් කියන්න. ආණ්ඩුකාර හිවලාව එක පාරටම ආකාසෙට ගෙනිච්චා කියලා පොලීසියට කියන්න ඒ ගොල්ල දෙන්නම තීරණය කළා.

මේ අතරතුර බුරතීනො එයාගෙ අත් පා අත ගාලා බැලුවා ඒවා තුවාල වෙලාද කියලා. නෑ එයා තුවාල ලබලා නැහැ. බුරතීනො බඩ ගා ගෙන හබරල බැද්දට ගිහිල්ලා මල්වීනායි, පියෙරෝවයි, අර්තෙමොන්වයි බැඳලා තිබුණු ලනු පොටවල් කපලා ඒ ගොල්ලන්ව නිදහස් කළා.

මල්වීනා සන්තෝස වෙලා බුරතීනොගෙ කර බදා ගත්තම, එයාගෙ බොහොම දිග, උල් නහය මල්වීනාගේ මූණ ගෑවුණා.

පියෙරොගේ අත්දිග කමිසෙ වැලමිට තෙක්ම ඉරිලා තිබුනා. එයාගෙ මූණේ ගාලා තිබුණ පුයර බිම වැටුණු හන්දා කම්මුල් දෙක සාමාන්‍ය පාටට පෙනුණා.

"මම උන් එක්ක බොහොම අගේට සටන් කළා. උන් මගේ කකුල්වලට පහර දීලා තමයි මාව බිම වැට්ටුවේ. නැතිනම්, මම යටත් වෙන්නේ නැහැ." පියෙරෝ බොහොම ගොරොසු හඬකින් කතා කළා.

මල්වීනා එයාගෙ කතාව ස්ථිර කළා:

"ඔව්, ඔව්. පියෙරෝ සිංහයෙක් වගේ සටන් කළා."

මල්වීනා පියෙරෝ කර බදා ගෙන එයාගෙ කම්මුල් දෙකම සිප ගත්තා.

"කම්මුල් ලෙව කෑවා ඔය ඇති. පැනලා දුවමු. අර්තෙමොන්ගේ වලිගයෙන් ඇද ගෙන දුවමු." බුරතීනො කිව්වා.

ඒ අවසනාවත් බල්ලාගේ වලිගය තුන්දෙනාම ඇද ගෙන කන්ද උඩට නගින්ට පටන් ගත්තා.

"මගේ වලිගය අත හරින්න. මට තනියම යන්න පුළුවනි. ඔහොම වලිග යෙන් ඇදීම මට ලොකු නින්දාවක්." තුවාල වෙලා තිබුණු අර්තෙමොන් කෙඳිරි ගෑවා.

"නැහැ, නැහැ. ඔයා තවමත් බොහොම දුර්වලයි."

හතරදෙනාම කන්ද උඩට නගින්න පටන් ගත්තා විතරයි, ඔන්න කන්ද උඩ කරබස් බරබස්, දූරෙමාර්, අලීසා කපටි හිවලිය සහ බැසීලියො බළල් තඩියා හිටියා. අලීසා ඉස්සරහ කකුල උස්සලා හතර දෙනා දුවන සැටි පෙන්නුවා. බැසීලියො රැවුල නටවලා 'ඤාව්' ගෑවා.

"ඔන්න බලා පල්ලා වැඩක හැටි! රත්තරන් යතුර මගේ අතටම එනවා!" කරබස් බරබස් හිනා වෙලා සන්තෝස වුණා.

මේ අලුත් විපතින් ගැළවෙන්නේ කොහොමද කියලා බුරතීනො කල්පනා කළා. පියෙරෝ ආයෙමත් සටන් කරන්න සූදානම් වුණා. ඔන්න ඒ වතාවේදී නම් ගැළවෙන්න මගක් ඇත්තේම නැහැ.

කන්ද උඩ ඉඳලා දූරෙමාර් 'හිකි, හිකි' ගාලා හිනා වුණා.

"කරබස් බරබස් මහත්මයා, අර අර්තෙමොන් බල්ලව මට දෙන්න. මම උංව පොකුණට විසි කරන්නම්. එතකොට කූඩැල්ලන්ට එයාගේ ලේ බොන්නට පුළුවනි..."

බොහොම තරබාරු කරබස් බරබස්ට, කන්දෙන් පහළට බුරතීනොයි යාළුවෝ තුන් දෙනයි ඉන්න තැනට බහින්න අමාරුයි. එයා මහත ඇඟිල්ලක් ඔසවලා ඒ ගොල්ලන්ට අඬ ගැහුවා. :

"ළමයිනේ, මා ළඟට එන්න, එන්න..."

"හෙළවෙන්න එපා! මැරුණත් සතුටින් මැරෙමු! පියෙරෝ, ඔයාගේ කවි කියන්න. මල්වීනා ඔයා හොඳට හයියෙන් හිනහ වෙන්න. .."

මල්වීනා හැසිරෙන හැටි කියා දෙන්න පැන, පැන ඉස්සරහට ආවාට හොඳ සගයෙක්, හොඳ ළමයෙක්. එයා කඳුළු පිහදාලා කන්ද උඩ හිටිය කට්ටියගේ හිත අමනාප වෙන්න "හා-හා-හා" ගාලා හිනාවුණා.

පියෙරෝ කවි අලුතෙන් හදලා බොහොම නිර්භීත ලෙස ඒවා කියන්න පටන් ගත්තා:

"අලීසා කපටි හිවලිය මහ නපුරියකි.
ඇගේ පිටට බැට දෙන මහ කෝටුවකි
බැසීලියො බළල් තඩියා හිඟන්නා
නීච හොරා, නිතරම ඤාව් ගාන්නා
මෝඩ දූරෙමාර් ලේ බොන කූඩැල්ලා
සල්ලිවලට බොහෝ කෑදර මහල්ලා
කරබස්, නුඹ බරබස් හොර තඩියා
නුඹව හපා කන මම පියෙරෝ කඩියා..."

ඒ අතර බුරතීනො කට ඇද කරලා නහය නටවලා කරබස් බරබස්ට විහිළු කළා:

"රූකඩ නැටුම් ආචාර්යා කරබස් බරබස්, නුඹේ බඩ හරියට තාර පීප්පයක් වගේ. ඔය බඩ ගෙඩිය කරේ තියා ගෙන කන්දෙන් බැහැලා මා ඉන්න තැනට වරෙන්, නුඹේ යටි රැවුලේ එල්ලිලා මම ඔන්චිලි පදින්නම්!"

ඒක ඇහිලා කරබස් බරබස් කෝප වෙලා ගොරවන්න වුණා. දූරෙමාර් එයාගෙ කෙට්ටු අත් දෙක අහස දෙසට එසෙව්වා.

අලීසා හිවලිය දත් විරිත්තා මෙහෙම කිව්වා:

"අවසර දෙන්න උන්ගේ බෙලි කඩා දමන්න!"

තව විනාඩියකින් බුරතීනො සහ එයාගෙ යාළුවන් විනාශ වෙන්නයි ගියේ... ඔන්න එතකොට ළිහිණියෝ පියාඹලා මහ හඬින් කෑ ගැසුවා:

"මෙතැන, මෙතැන, මෙතැන!..."

කරබස් බරබස්ගෙ හිසට උඩින් පියාසර කරපු කාක්කෙක් කෑ ගැසුවා:

"ඉක්මණට, ඉක්මණට, ඉක්මණට!..."

කන්ද මුදුනේ ඉඳල ඉස්සරහට ආවා කාර්ලො තාත්තා. එයාගෙ කමිස අත් වැළමිටට එන කල් නවාල. එයාගෙ අතේ හොඳ මහත ශක්තිමත් පොල්ලක්. කාර්ලො කෝප වෙලා ඔරවලා බැලුවා.

එයා කරබස් බරබස්ට උරහිසින් ඇන්නා. දූරෙමාර්ට වැළමිටෙන් ඇන්නා. අතේ තිබුණු පොල්ලෙන් අලීසා හිවලියගෙ පිටට තඩි බෑවා. බළලා බැසීලියොට සපත්තු කකුලෙන් ගැහැව්වා...

ඔන්න ඊට පස්සේ කන්දෙ පහල හිටිය බොනික්කන් දිහා බලලා සතුටින් ඒගොල්ලන්ට කතා කළා:

"බුරතීනො, මගේ පුතා! දඟකාර කොලු පැංචා. ඔයා සනීපෙන්ද? ඉක්මණට මා ළඟට එන්න!"

## බුරතීනො කාර්ලො තාත්තා සමග ගෙදර යයි. මල්වීනා, පියෙරෝ සහ අර්තෙමොන් ඔහුට එකතු වෙති

කාර්ලො තාත්තාහිටි හැටියේම ලොකු පෙල්ලකුත් අරගෙන ඇවිල්ලා පල් හොරුන් දිහා ඔරවලා බැලුව නිසා ඒ ගොල්ල බොහොම බය වුණා.

පොලු පාර කාපු අලීසා කපටි හිවලිය පඳුරු අස්සට පැනලා දුවලා, වේදනාවෙන් ඇඹරුණා.

බැසීලියො බළල් තඩියා අඩි දහයක් දුරට වීසි වෙලා හිල් වෙච්ච ටියුබ් එකක් වගේ 'පීස්' ගෑවා. එයාට බොහොම කේන්ති ගියා.

බිම වැටුණු කොළපාට කබාය ඇහිඳ ගත්තු දූරෙමාර් කන්දෙන් පහළට බැහැගෙන බැහැගෙන ගියා.

"අපොයි, මම ඕවට නැහැ. ඕවට නැහැ!"

එයාගේ පයක් ලිස්සලා එයා පෙරළිලා පෙරළිලා ගිහින් වැටුණා පොකුණට.

කරබස් බරබස් විතරක් ගල් ගැහුණා වගෙ එතැනම හිටියා. එයා දෙඋර කන් දෙක ළඟටම උස්ස ගත්තා. එයාගෙ යටි රැවුළ පාන්කඩයක් වගෙයි.

බුරතිනො, පියෙරෝ සහ මල්වීනා කන්ද උඩට නැංගා. කාර්ලො තාත්තා ඒ ගොල්ලන්ව අතට අරගෙන තරවටු කළා :

"දඟකාර ළමයිනේ හොඳ පාඩමක් උගන්වනවා!"

කාර්ලො ඒ ගොල්ලන්ව කමිසයට යටින් තියෙන කුහරයට දා ගත්තා.

පස්සෙ කාර්ලො කන්දෙන් පහළ බැහැගෙන ගිහිල්ලා තුවාල ලබාපු බල්ලා ළඟින් වාඩි වුණා. අර්තමොන් ඒ පාර කාර්ලොගෙ නහය ලෙවකෑවා. ඔන්න ඒ වේලාවේදී කමිසෙ අස්සෙ හිටිය බුරතීනො නහය එළියට දාලා මෙහෙම කිව්වා :

"අනේ කාර්ලො තාත්තේ, බල්ලා නැතුව අපට ගෙදර යන්න බැහැ." " අපොයි, අපොයි, බලු පැටියාව උස්ස ගෙන යන්න අමාරුයි. එයා බරයි. ඒ වුණත් කමක් නැහැ. එයාවත් කර උඩ තියා ගන්නම්."

ඉතින් කාර්ලො එහෙම කියලා බලු පැටියා අර්තෙමොන්වත් කර උඩ තියාගෙන කන්ද උඩට නැංගා. එතැන කරබස් බරබස් ගල් ගැහිලා බලා ගෙන ඉන්නවා. එයාගෙ ඇස් දොට්ට පනින්න වගෙ ඉදිමිලා.

"අනෝ මගේ බෝනික්කෝ..." එයා හෙමින් කිව්වා.

කාර්ලො එයාට තදින් කතා කළා :

"කරබස් බරබස්. නුඹ කා සමඟද යාළු වෙලා ඉන්නේ. මුළු ලෝකයටම ප්‍රසිද්ධ වෙච්ච පට්ට පල් හොරුන් වන දුරෙමාර්, බළල් තඩියා සහ කපටි හිවලිය එක්ක. පුංචි බෝනික්කන්ට පහර දෙනවා. රූකඩ ආචාර්ය තුමාට ලජ්ජා නැතිද!"

කාර්ලො නගරයට යන්න ගියා.

කරබස් බරබස් දෙඋර උස්සා ගෙන බෙල්ල උළුක් කර ගෙන කාර්ලො පසු පස්සෙන් ගිහිල්ලා මෙහෙම කියනවා:

"මගේ බොනික්කන්ව මට දෙන්න!"

"කීයටවත් එයාට දෙන්න එපා !" බුරතීනො කමිසය ඇතුළට වෙලා ඉඳගෙන කිව්වා.

ඔහොම ගිහිල්ලා, ගිහිල්ලා අර කෑම ශාලාව ළඟින් ගියා. එතැන අයිතිකාරයා හිස නමලා ආචාර කරලා අවිත් කෑම ටිකක් කන්න කියල කිව්වා. දොරකොඩ ළඟ බුරතීනොවත් අරන් දුවලා ගිය කුකුළු රාළ, බුරතීනො කල වණ්ඩිකම ගැන කිකිළියන්ට කිය කියා හිටියා. එයාගේ වළිගෙ පිහාටු ගැලවිලා. කිකිළියන් කතාව අහලා කුකුළට අනුකම්පා කරලා මෙහෙම කිව්වා:

"අනේ, අනේ හරිම පුදුමයි! අපේ කුකුළා වීරයා!..."

කාර්ලො කන්ද මුදුනට නැංගා. එතැන ඉඳල මුහුද පේනවා. මුහුදු වෙරළින් හමන වාෂ්ප සුළං නිසා මීදුමක් සමහර තැන්වල තියෙනවා වගෙයි. මුහුද අයිනේ ඇති පරණ නගරය මුහුදු වැලි පාටට සමාන දුඹුරු පාටයි. තද ඉර අව්ව නිසා රූකඩ මඩුවේ වහලය දිලිසෙනවා.

කරබස් බරබස් කාර්ලොට අඩි තුනක් විතර පිටු පසින් හිට ගෙන හෙමිහිට මෙහෙම කිව්වා:

"කාර්ලො, නුඹ මට ඔය බොනික්කන් දීපන්. මම නුඹට රන් කාසි සියයක් දෙන්නම්."

බුරතිනොයි, මල්වීනායි, පියෙරෝයි හුස්ම පවා ගන්නේ නැතිව බියෙන් බලා ගෙන හිටියා කාර්ලො උත්තර දෙන තුරු.

එයා මෙහෙම උත්තර දුන්නා:

"තමුසෙ රූකඩ නැටුම් මඩුවේ හොඳ යහපත් නායකයා වෙලා හිටියා නම් මම තමුසෙට මේ බොනික්කන්ව නිකම් දෙනවා. තමුසෙ කිඹුලාටත් වඩා මහා භයානක මිනිහෙක්. මම නුඹට බෝනික්කන්ව නිකන් දෙන්නේ වත්, විකුණන්නේ වත්, නැහැ. යන දිහාවකට යනවා යන්ට."

කාර්ලො බෝනික්කන් සමග කන්දෙන් බිමට බැහැලා නගරය දෙසට ගමන් ගත්තා.

එතන හතර මං හන්දියෙ පොලිස් කාරයෙක් හිටගෙන හිටියා. ජනයා හිටියේ නැහැ. තද ඉර අව්ව නිසා පොලිස් කාරයාට මහන්සියි. එයාගෙ තුන් හුලස් තොප්පිය උඩ මැස්සො වහලා.

කරබස් බරබස් හිටිහැටියේම රැවුළ සාක්කුවේ දමා ගෙන, පිටු පසින් කාර්ලොගේ කමිසය අල්ලා ගෙන මහ හඬින් කෑ ගහන්න පටන් ගත්තා:

"අල්ලපිය හොරාව, මූ මගේ බොනික්කන් හොරකම් කර ගත්තා!..."

ඒ වුණාට ඉර අව්ව නිසා බොහොම මහන්සි වෙලා හිටිය පොලිස් කාරයා සෙළවුණේ වත් නැහැ. කරබස් බරබස් පොලිස් කාරයා ළඟට ගිහිල්ලා කිව්වා, කාර්ලොව හිරබාරයට ගන්නයි කියල.

"නුඹ කවුද?" පොලිස් කාරයා කම්මැලි ලෙස ප්‍රශ්න කළා.

"මම රූකඩ නැටුම් ගැන මහාචාර්ය. රූකඩ නැටුම් හලේ අයිතිකාරයා. ලොකු නම්බු නාම මට ආණ්ඩුවෙන් ලැබිලා තියෙනවා. මම තරබාර් රජුගේ ළඟම මිතුරා. මගේ නම කරබස් බරබස්...."

"තමුසේ මට කෑ ගහන්න එපා!" පොලිස් කාරයා පිළිතුරු දුන්නා.

කරබස් බරබස් පොලිස් කාරයාත් එක්ක බැණ ගන්න කොට, කාර්ලො අතේ තිබුණු සැරයටිය බිම ගසමින් ඉක්මන් ගමනින් ගෙදර ඇවිත් පඩිපෙළ යට තියෙන එයාගේ කුටියේ දොර ඇරලා එයට ඇතුළු වෙලා, කර උඩින්

ගෙනාපු අර්තෙමොන්ව ඇඳ උඩ තැබුවා. කමිසයේ කුහරය ඇතුළෙ තිබුණු බොනික්කන් - බුරතීනො, මල්වීනා සහ පියෙරෝ එළියට අරගෙන ඒ ගොල්ලන්ව මේසය උඩ පෙළට තැබුවා.

මල්වීනා කතා කරලා මෙහෙම කිව්වා:

"කාර්ලො තාත්තා, තුවාල ලබාපු අර්තෙමොන්ට සාත්තු කරන්න. බුරතීනොයි, පියෙරෝයි ගිහිල්ලා අත් සෝදා ගන්න.."

හිටිහැටියේම ඈ බොහොම කනගාටුවෙන් දෑත් විදහා ගෙන කෑ ගැසුවා:

"අනේ මගේ ගවුම්! මගේ අලුත් සපත්තු, මගේ ලස්සන පීත්ත පටි අර හබරල බැද්දේ බඩු පොදියෙ!..."

"පොඩි දුව කනගාටු වෙන්න එපා. හැන්දෑ වුණාම ඒවා මම අරගන්නම්" කාර්ලො කිව්වා.

කාර්ලො අර්තෙමොන්ගෙ වෙළුම් පටි ළිහලා තුවාල බැලුවා. තුවාල එහෙම පිටින්ම වාගේ සනීප වෙලා. එයාට ඇවිදින්න බැරි එයාට බඩගිනි නිසා. "අනේ , අනේ මට කෑඳ කොප්පයකුයි, මස් කටුවකුයි තියෙනවා නම් මම ලෑස්තියි මේ නගරයෙ ඉන්න සියලුම බල්ලන් සමග පොර කන්න" අර්තෙමොන් හාමතේ සුසුම් ලෑවා.

"අර්තෙමොන් බලු පැටියෝ, මගේ අතේ තඹ දොහිතුවක් වත් නැහැ. ගෙදර පාන් කෑල්ලක් වත් නැහැ..." කාර්ලො දුක් වුණා.

මල්වීනා කනගාටුවෙන් සුසුම් ලෑවා. පියෙරෝ ඔළුව කසලා කල්පනා කරලා අලුත් අදහසක් ඉදිරිපත් කළා:

"මම පාර අයිනට ගිහිල්ල කවි කියන්නම්, එතකොට පාරෙ යන එන අය කීයක් හරි දේවි."

කාර්ලො ඔළුව වනලා ඒ අදහසට විරුද්ධ වුණා:

"අනේ පුතේ, ඔයාව පොලීසියට අල්ලා ගෙන ගිහිල්ලා හිර කූඩුවට දමාවි පාරේ රස්තියාදු වුණයි කියලා."

ඔක්කොමල්ලා දුක් වුණා. හැබැයි බුරතීනො විතරක් කපටි හිනාවක් ඇතිව කැරකෙන පුටුවක වාඩි වෙලා ඉන්නවා වගේ කරකැවෙන්න පටන් ගත්තා.

"ළමයිනේ , නහෙයන් අඩන්න එපා!" බුරතීනො එයාගෙ සාක්කුවේ තිබුණු රත්තරන් යතුර එළියට ඇද ගත්තා. "කාර්ලො තාත්තා, මිටියක් අරගෙන මේ පරණ තිරය ගලවලා දාන්න."

බුරතීනො එහෙම කියලා ගිනි මැලයයි, හට්ටියයි, දුමයි ඇඳලා තියෙන තිරය පෙන්නුවා.එයා නහයෙන් හිල් කළේ ඒ තිරය තමයි.

කාර්ලො පුදුම වුණා :

"පුතා, මේ තරම් ලස්සන පින්තූරයක් තියෙන තිරයක් ගළවලා දමන්නේ මොකටද? හිම කාලෙට මම පින්තූරය දිහා බලා හිතින් හිත ගන්නවා මේක නම් සැබෑ ගින්නක් කියල. හට්ටිය සැබෑ හට්ටිය කියලා. ඉතින් ඔය හට්ටියෙ එළුමස් එක්ක සුදුළූනු ව්‍යංජනයක් තියනවයි කියලා හිතා ගන්න. ඉතින් එහෙම හිතා ගත්තම මට උණුසුමක් දැනෙනවා."

"කාර්ලො තාත්තේ, බෝනික්කෙකුගේ සත්තක ස්ථිර වචනය මම තාත්තාට දෙන්නම් එය තිරය ගළවා දමන්න. මම තාත්තාට හැබෑ ගිනි මැලයකුයි. හැබෑ හට්ටියකුයි, හැබෑ මස් ව්‍යංජනයකුයි හෙයලා දෙන්නම්." බුරතීනො තමයි එහෙම කිව්වේ.

බුරතීනො ඒ කතාව කොතරම් ස්ථිර ලෙස කිව්වේදයත්, කාර්ලොට විරුද්ධ වෙන්න බැරි වුණා. එයා ඔළුව කසලා, නිකටත් කසලා, සුසුමක් හෙළලා, මිටියයි, අඬුවයි අරගෙන තිරය ගළවලා දැම්මා. තිරය පිටුපස මකුළු දැල් ගොඩක් තිබුණා. කෙට්ටු මකුළුවො ඒවාවල හිටියා.

කාර්ලො බොහොම උනන්දුවෙන් මකුළු දැල් පිහ දැම්මයින් පස්සෙ කළු පාට ඕක් ලී දොරක් පෙනුණා. ඒ දොරේ මුළු හතරේ සිනහ වෙන පුංචි මුහුණු ඇඳල තිබුණා. මැද දිගු උල් හොටක් තියෙන මුහුණක්.

ඔන්න දොර පිහ දාලා ඉවර වුණ හැටියේම, මල්වීනායි, පියෙරෝයි, කාර්ලො තාත්තායි, බඩගින්නෙ හිටියෙ අර්තෙමොන් බලු පැටියයි හතර දෙනාම එක හඬින් කෑ ගැහුවා:

"ඒ බුරතීනොගෙ පින්තූරෙ!"

"මම එය ගැන දැනගෙන හිටියා" කියල බුරතීනො කිව්වට, එයා ඇත්තටම දැන ගෙන හිටියෙ නැහැ. එයත් පින්තූරය දැකලා අනිත් අය වගේම පුදුම වුනා. "ඔන්න කාර්ලො තාත්තේ, දොර අරින්න..." කියලා බුරතීනො රත්තරන් යතුර කාර්ලොගෙ අතට දුන්නා.

"මේ දොරයි, මේ යතුරයි හදල තියෙන්නෙ බොහොම දක්ෂ ශිල්පියෙකු විසින්. අපි දැන් බලමු මේ දොරින් එහා හංගලා තියෙන්නේ මොනවද කියලා."

කාර්ලො රත්තරන් යතුර සිදුරට දමලා කරකවාපු හැටියේම ලස්සන සංගීතයක් ඇහුණා. සංගීත පෙට්ටියකින් පිට වන දෙයක් වගේ.

කාර්ලො දොර තල්ලු කළා. 'ක්රික්' කියන හඬක් සමග දොර ඇරුණා. මේ වේලාවේදී ජනේලයට එහා කවුදෝ එනවා වගේ ඇහුණා. ඒ එක්කම කරබස් බරබස් කෑ ගැසුවා :

"තරබාර් රජුගේ නාමයෙන් මේ නාකි හොරාව වහාම සිරබාරයට ගනු!"



## කරබස් බරබස් කාර්ලොගේ කුටියට රිංගයි

ඉර අව්වට මහන්සි වෙලා හිටිය පොලිස්කාරයා ලවා කාර්ලොව සිර කිරීමට කරබස් බරබස් උත්සාහ ගත් බව ළමයි දන්නවා නෙව. පොලිස් කාරයා ඒකට කැමති වුණේ නැහැ. කරබස් බරබස් පාර දිගේ දුවලා ගියා

එයා දුවන විට, එයාගෙ දිග යටි රැවුළ පාරේ යන එන මගීන්ගේ අතේ තිබුණ කුඩ මිටවල පටලැවුණා. එයා මිනිසුන්ව තල්ලු කරලා දත් මිට කෑවා. පාරේ යන එන කොල්ලො එයාට හූ කියල කුණු වෙච්ච ඇපල් ගෙඩිවලින් එයාට ගැහැව්වා.

කරබස් බරබස් නගරයේ පොලිස් ලොක්කා ළඟට දුවගෙන ගියා. එදා බොහොම රස්නෙ ඇති දවසක්. පොලිස් ලොක්කා යට කලිසම විතරක් ඇඳ ගෙන ජල උල්පත ළඟ වාඩි වෙලා බොහොම සීතල කරපු ඔරේන්ජ් බාර්ලි බිබී හිටියා.

පොලිස් ලොක්කා බොහොම මහතයි. එයාගෙ බෙල්ලෙ විතරක් රැළි හයක් වැටිලා. එයාගෙ කම්මුල් කොපමණ මහත දැයි කිව්වොත් එයාගෙ නහය ගිලිලා වගෙයි. එයාගෙ අතවැසි පොලිස් කාරයො එයාට ඔරේන්ජ් බාර්ලි බෝතලවල මුඩි ගලවලා බොන්න දෙනවා.

කරබස් බරබස් මේ පොලිස් ලොක්කා ඉදිරියේ දණින් වැටිලා අඬලා. කඳුලින් යටි රැවුළ තෙමා ගෙන කන්නලව් කළා:

"මම අම්මා තාත්තා නැති අසරණයෙක්. මට බැණලා නින්දා කළා. මගෙන් හොරකම් කලා. මට ගැහුවා..."

"අනේ පව්. අනාථ නුඹට ඔය විදිහට වැරදි කළේ කවුද?" පොලිස් ලොක්කා ඇසුවා.

"නපුරුම නපුරු නාකි හිගන්නා කාර්ලො. එයා මගේ ඉතාම හොඳ බොනික්කන් සොරකම් කළා. එයා මගේ ඉතාම හොඳ රූකඩ නැටුම් හලට ගිනි තැබීමට උත්සාහ කලා. ඒ හොර තක්කඩියා මුළු නගරයටම ගිනි තබාවී. වහාම කාර්ලොව සිරභාරයට ගන්න."

කරබස් බරබස් එහෙම කියාලා එම කතාව ඇත්ත ලෙස ඔප්පු කරන්නට පොලිස් ලොක්කාගේ සපත්තුවට රන් කාසි අහුරක් දැම්මා.

කරබස් බරබස් පට්ට පල් බොරු දොඩවලා පොලිස් ලොක්කාව බය කළා. පොලිස් ලොක්කා එයාගෙ අතවැසි පොලිස් කාරයින් හතර දෙනෙකුට කතා කළා:

"මේ ගරු කටයුතු පුරවැසියා සමග ගිහිල්ලා නීතිය අනුව වැඩ කරව්!"

කරබස් බරබස් පොලිස් කාරයෝ හතර දෙනාත් සමග දුවගෙන කාර්ලොගෙ කුටියට ගිහිල්ල කෑ ගහලා මෙහෙම කිව්වා.:

"තරබාර් රජුගේ නාමයෙන් මේ හොර තක්කඩියාව හිර බාරයට ගනිව්!"

ඒ වුණාට කුටියේ දොර වාස තිබුණ නිසා කිසිවකුට ඒ හඬ ඇසුණේ නැහැ. එවිට කරබස් බරබස් මෙහෙම අණ කලා :

"තරබාර් රජ්ජුරුවන්ගේ නාමයෙන් මේ දොර කඩනු!"

පොලිස් කාරයෝ දොර කඩා දැම්මා. ඒවායේ සරනේරු දිරලා. ඉතින් මේ වීර පොලිස් භටයෝ හතර දෙනා කඩු ඇද ගෙන කෑ ගසමින් කුටියට ඇතුළු වුණා.

හරියට ඒ වෙලාවේදී තමයි, රත්තරන් යතුරෙන් ඇරපු රහස් දොරට ඇතුළු වෙලා කාර්ලො නොපෙනී ගියේ.

කාර්ලො ඇතුළු වුණ හැටියේම දොර වැහුණා. ටිං ගාන සද්දයකුත් සමග ඉන් පස්සෙ සංගීතය නැවතුණා. කුටියේ ඉතුරු වෙලා තිබුණේ පරණ රෙදි කෑලියි, ඉරා දමාපු තිරයයි විතරයි. ගිනි මැලයයි, හට්ටියයි ඇඳපු තිරය ළමයින්ට මතකයි, නොවැ.

කරබස් බරබස් ඉක්මණට දොර ළඟට පැනලා ඇතින්. පයින් දොරට ගහන්න පටන් ගත්තා, ටක්, ටක්, ගාලා.

ඒ වුනාට දොර ඇරුනේ නැහැ.

කරබස් බරබස් දුවගෙන දුවගෙන ගිහිල්ලා පස්ස පැත්තෙන් දොරට ඇන්නා. එහෙත් දොර හෙළවුණේ වත් නැහැ.

ඒ පාර එයා පොලිස් කාරයින්ට මෙහෙම අණ කළා :

"ඒයි පොලිස් කාරයිනි, තරබාර් රජුගේ නාමයෙන් දොර කඩා පියව්!"

පොලිස් කාරයෝ දොර හරින්න බොහොම උත්සාහ කළා. එක් කෙනෙකුගේ නහය තුවාල වුණා. තවත් එක් කෙනෙකුගේ ඔළුව තුවාල වුණා. එනමුත් දොර නම් ඇරගන්න ඒ අයට බැරි වුණා.

"අපොයි, මේ දොර නම් අරින්න බැහැ. බොහොම අමාරු වැඩක්." පොලිස් කරුවෝ එහෙම කියලා පොලිස් ලොක්කා ළඟට ගියා එයාට වාර්තා කරන්න. ඒ ගොල්ල හැම දෙනාම රාජ නීති ය අනුව ක්‍රියා කළාට. මහලු කාර්ලො විජ්ජාකාරයෙක් වගේ අතුරු දහන් වූ බව ඔවුහු කීහ.

කරබස් බරබස් යටි රැවුළ අල්ලා ගෙන බිම පෙරළි පෙරළී පිස්සෙකු වගේ කෑ ගැහැව්වා.

## අරුම පුදුම රහස් බිම්ගෙය

කරබස් බරබස් රහස් දොරට පිට පැත්තෙන් පිස්සෙකු වගේ බිම පෙරළි පෙරළි අඬන අතර, දොරෙන් රහස් බිම් ගෙයට ඇතුළු වෙච්ච හතර දෙනා ඉදිරියට ගියා. ඉස්සරහින්ම ගමන් කළේ බුරතීනො, ඊළඟට මල්වීනා, පියෙරෝ සහ අර්තෙමොන්. පිටිපස්සෙන්ම ගමන් කළේ කාර්ලො. ඒ ගොල්ල පඩිපෙළ දිගේ පහළට බැස්සා.

කාර්ලොගේ සාක්කුවේ තිබුණු ඉටිපන්දම් කොටය එයා පත්තු කළා. නමුත් බිම්ගෙය කොතරම් කළුවරදැයි කියනවා නම්, ඒ ඉටිපන්දම් ආලෝකයට පෙනුණේ අර්තෙමොන්ගෙ ඔළුවයි, පියෙරෝගේ කමිස අතයි විතරයි. පහළට බසින පඩිපෙළ පවා ඒ ගොල්ලන්ට පෙනුණේ නැහැ.

නිල්පාට කොණ්ඩය තියෙන මල්වීනා ගැනු ළමයා බය වුණ නමුත් ඒ බය මැඩ ගැනීමට එයා එයාගේ කන් දෙක එයාම කොනිත්තා ගත්තා.

පියෙරෝ හැමදාම වගේ අදත් කවි කියන්න පටන් ගත්තාඃ

"නටති, හෙවණැලි බිත්තිය දිගේ
යම් මම දිගටම බය නැතුව වගේ
පඩිපෙල දිගයි, එහි නම් කෙළවරක් නැත,
අඳුර බිය ජනක වුණාට කමක් නැත.
අඳුරු බිම්ගෙයට කෙළවරක් ඇත.
ගමනින් පසුව නම් ආලෝකයක් ඇත...

බුරතීනො ඔක්කෝමන්ට ඉස්සරහින් ගමන් කරමින් පඩි පෙළ දිගේ බිමට බැස්සා. දැන් එයාගේ හිසේ තියෙන තොප්පිය පවා පේන්නේ නැහැ.

හිටි හැටියේ කවුදෝ වැටිලා, පෙරළිලා, කෙඳිරි ගාන හඬක් ඇසුණා:

"අනේ මට උදව් කරන්න.!"

අර්තෙමොන්ට එයාගෙ තුවාලයි, බඩගින්නයි අමතක වුනා. එයා මල්වීනාවයි, පියෙරෝවයි පෙරළා ගෙන ඉදිරියට පැන්නා.

අර්තෙමොන් දත් විරිත්තලා කාවදෝ හපා කෑවා. කවුදො සතෙක් හීන් හඬින් කෙඳිරි ගෑවා. ඉන් පසුව හැම දෙයක්ම නිහඬ වුණා.

මල්වීනාගේ හදවත විතරක් ඔරලෝසුවක් වගේ ටක් ටක් ගෑවා. පහල ඉඳලා ආලෝක ධාරාවක් ඉහළට විහිදිලා ගියා. කාර්ලො අතේ තිබුණ පුංචි ඉටිපන්දමේ ගිනි සිළුව කහ - රතු පාටට පෙනුණා.

"අන්න බලාපල්ලා! ඉක්මණට බලාපල්ලා!" බුරතීනො හඬ නගා කිව්වා.

මල්වීනා පස්සෙන් පස්සට යමින් පඩිපෙළ දිගේ බැස්සා. පියෙරෝත් පහළබැස්සා. කාර්ලො හෙමින් හෙමින් පහළට බැස්සා. මොකද දන්නවාද එයාගේ කකුල්වලට දාලා තිබුණු ලී සෙරෙප්පු නිතර, නිතර ගැළවෙන හන්දා.

පහළ පඩිපෙළ අවසන් වෙන තැන අර්තෙමොන් කටයි, දිවයි ලෙවකන්නට වුණා. එයාගේ කකුල් ළඟ මරා දමාපු ලොකු ඌරු මීයාගේ මළ කුණක් තිබුණා. ඉස්සෙල්ලා බුරතීනොගෙ පස්සෙන් දිව්වේ මේ මීයා තමා.

බුරතීනො ටිකක් ඈත තිබුණු පරණ මහත ලොම් රෙදි තිරයක් දෑතින්ම එසෙව්වා. ගල් බිත්තියේ සිදුරක් වහලා තිබුණේ රෙදි තිරෙන්. එතැන ඉඳල නිල් පාට ආලෝකයක් පෙනුණා.

ඒ සිදුරෙන් රිංගුවයින් පස්සේ ඉරුගේ ආලෝකය විහිද යන රැස් ධාරා ඒ ගොල්ල දැක්කා. ඒ ආලෝකය ආවේ පියස්ස උඩ තිබුණු වටකුරු කවුළුවෙන්.

කාමරයත් වටකුරුයි, බිත්ති කහපාට කිරි ගරුඬින් හදලා. කාමරය මැද බොහොම ලස්සන රූකඩ නැටුම්හලක්. කිරි ගරුඬ බිත්ති හිරු රැස් නිසා දිලිසෙනවා. නැටුම් මණ්ඩපය වහලා තිබුණ තිරය මැද රත්තරන් පාටින් විදුලි කොටන විට පෙනෙන ඊයක් ඇඳලා තිබුණා.

මණ්ඩපය දෙපැත්තෙන් කණු දෙකක් තියෙනවා. ඒවා හරියට ගඩොලින් හදලා වගෙ රතු පාට ගාලා සහ සුදු ඉරි ඇඳලා. වහල කොළපාටයි.

වම් පැත්තෙ කණුව උඩ ඔර්ලෝසුවකි. ඒ ඔර්ලෝසුවේ කටු දෙක ලෝකඩ වලින් හදලා. මුණතේ හිනා වෙන කොල්ලකුගේ සහ කෙල්ලකගේ මුහුණු දෙකකි.

දකුණු පැත්තෙ කණුවෙ වට රවුම් කවුළුවක්. ඒ කවුළුවේ නොයෙක් පාට ඇති වීදුරු කෑලි.

ඒ කණුව උඩ කොළ පාට වහලේ හිටියා කතා කරන රැහැයියා. ළමයින්ට එයාව මතකද? පළමුවැනි දවසේදීම බුරතීනො එයාව කාර්ලොත්ගේ කුටියනේ පන්නා දැම්මා. මේ ගොල්ලා සියලු දොනා බොහොම පුදුම වෙලා මේ රූකඩ නැටුම් කරලිය දිහා බලාගෙන ඉන්න කොට කතා කරන රැහැයියා සෙමින්, පැහැදිලි ලෙස කතා කළා:

"බුරතීනො, මම ඔයාට වේලාසනින් දැනුම් දුන්නා, ඔයාට බොහොම භයානක දේවලට මූණ පාන්නට සිද්ධ වෙයි කියලා. හොඳින් සියල්ල අවසන් වුණ නිසා හොඳයි. නරකට අවසන් වුණා නම් කොහොමට හිටීවිද.. ඒ නිසා...

රැහැයියා මහලුයි, එයාගෙ කටහඬ බොහොම දුර්වලයි. එයා අමනාපයෙන් තමයි කතා කළේ. එයාගෙ ඔළුවට ඉස්සර කාලෙ මිටි පහරක් වැදිලා තිබුණා. එයාට වයස අවුරුදු සියයි. එයා බොහොම කරුණාවන්තයි. නමුත් එයාට කළ වරද එයාට අමතක වුණේ නැහැ. ඒ නිසා රැහැයියා එයට වඩා කතා කළේ නැහැ. එයා රැවුළ නටවලා එයාගෙ සිදුරට රිංගා ගත්තා.

ඔන්න ඊට පස්සෙ කාර්ලො කතා කළා:

"අනේ , මම නම් කල්පනා කළේ මෙතැන රන් කාසි, නැතිනම් රිදී කාසි ගොඩක් තියෙනවයි කියලා. අපට හොයා ගන්න පුළුවන් වුණේ පරණ රූකඩ නැටුම් හලක් විතරයි නොවැ."

කාර්ලො ඔරලෝසුව ළඟට ගිහිල්ලා ඔරලෝසු මුහුණතට ඇඟිලි තුඩින් ගහලා, ළඟ තැනක තඹ ඇණයක එල්ලා තිබුණු ඔර්ලෝසු යතුර අරගෙන එය 'වයින් කළා.

ඔරලෝසුව ටක් ටක් යන හඬක් නංවමින් දුවන්න පටන් ගත්තා. ලොකු ඔරලෝසු කටුව දොළහට ළං වුණා. ඒ වන විට පුංචි කටුව හය ළඟට ළං වෙලා තිබුණා. ඔරලෝසුව ටාං ටාං කියලා හය පාරක්ම නාද කළා...

අන්න එවිට දකුණු පැත්තේ කණුවේ රවුම් කවුළුවේ දොර ඇරිලා, ලස්සන කුරුල්ලෙක් එළියට ඇවිත් හය වරක්ම මෙහෙම කිව්වා:

"අප ළඟට එන්න-එන්න, එන්න- එන්න, එන්න-එන්න..."

කුරුල්ලා ආපස්සට ගිය හැටියේම වටකුරු වීදුරු පියන වැහුණා. ලස්සන සංගීතයක් ඇසුණා. රූකඩ නැටුම් වේදිකාවේ තිරය එසවුණා.

කාර්ලො වත්, වෙන කිසි කෙනෙක් වත් මේ තරම් ලස්සන සැරසිලි කිසිම දාක දකලා නැහැ.

වේදිකාවේ ගෙවත්තක්. රිදී රත්තරන් කොළ සහිත ගස්. බෙහොම පුංචි ලස්සන වී කුරුල්ලෝ ගස්වල වහලා ඉන්නවා. ගස්වල ඇපල් . ඒවා රතු පාට ලොවි ගෙඩියක් තරමය. ගෙවත්තේ ලස්සන මොණරු බෙල්ල දිගු කරලා ඇපල් ගෙඩිවලට හොටෙන් අනිනවා. දිය කඩිත්තක් ළඟ බැටළු පැටව් දෙදෙනෙක් සෙල්ලම් කරනවා. බොහොම පුංචි සමනලයො පියාඹා යනවා.

වේදිකාව උඩ ඔය ජවනිකාව විනාඩි තුනක් විතර තිබුණා. කුරුල්ලන්ගේ කීචි බීචි ගෑම් නැවතුණා. මොණරු සහ බැටළුවෝ වේදිකාවෙන් ඈත් වුණා. වේදිකාව යටට ගස් කිඳා බැස්සා.

ඈත අහසේ වලාකුළු පාවෙන්න පටන් ගත්තා. වැලි කතරට උඩින් රතුපාට හිරු පායන්නට වුණා. දෙපැත්තෙන් මතුවුණ ලියාන් ගස්වල අතු හරියට සර්-පයින් වගෙයි. එක අත්තක නම් හැබෑ නයෙක් හිටියා. අනිත් ගහෙ වඳුරෝ රංචුවක් වලිගවලින් අත්තක එල්ලිලා වැනි වැනි සෙල්ලම් කළා.

ඒ තමා අප්‍රිකාව

වැලි කාන්තාරේ නොයෙක් සත්තු එහා මෙහා යන්න පටන් ගත්තා.

අඩි තුනක් ඉස්සරහට පැන්නා කේසර සිංහයෙක්. එයා පූසි පැටියෙක් තරම් පුංචියි. නමුත් එයා නාද කරන විට බය හිතෙනවා.

වේදිකාවේ එක කෙළවරක වලසෙක් බකල ගසමින් කුඩයකුත් අරගෙන යනවා.

ඔන්න බඩගා ගෙන ආවා කිඹුල් මොටෙක්. එයාගෙ ඇස් බොරුවට කරුණාවක් මවා පෑවා. අර්තමොන්ට උහුලා ගෙන ඉන්ට බැරුව එයා කිඹුලා දිහා බලා ගොරවන්ට වුණා.

ඊළඟට වේදිකාවට ආවේ රයිනෝසිරස් නැමති සතා. එයාගෙ නහය දළ බොහොම තියුණු හන්දා ඒ දළට රබර් බෝලයක් ඇනලා තිබුණා, ආරක්ෂාවට.

ජිරාෆ් දුව ගෙන ආවා. එයා හරියට ඇගේ තීරු තීරු වැටිලා ඇති ඔටුවකු වගෙයි. ජිරාෆ් ඇවිත් බොහොම ඕනෑකමින් බෙල්ල දිගු කළා.

ඉන් පසුව වේදිකාවට ආවේ අලියා. එයා ළමයින්ට ආදරෙයි, එයාට බොහොම නුවණ තියෙනවා. එයා බොහොම කරුණාවන්තයි. ඇතා වලිගය වනලා හොඬෙන් සෝයා බෝංචිවලින් හදාපු චොකලට් පෙත්ත අල්ලා ගෙන හිටියා.

අන්තිමට වේදිකාව උඩට ආවෙ බොහොමත්ම කිලුටු හිවලෙක්. එයාව දකපු හැටියේම අර්තෙමොන් බුරන්න පටන් ගත්තා. කාර්ලො බොහොම අමාරුවෙන් තමයි, එයාව අල්ලා ගෙන හිටියෙ.

සත්තු ටික වේදිකාවෙන් පිට වෙලා ගියායින් පස්සේ හිරු බැහැලා ගියා. ඒ වේලාවෙ වේදිකා සැරසිලා මාරු වුණා. වීණාවක තතක හඬකට සමාන හඬක් පැතිර ගියා.

අඳුරු එළියක් පත්තු වුණා. වේදිකාවේ නගරයක චතුරශ්‍රයක්. ගෙවල්වල දොරවල් ඇරිලා පුංචි ළමයි එළියට ආවා. නගරයේ චතුරශ්‍රයේ ට්‍රෑම් රිය දුවනවා. ට්‍රෑම් රියේ කොන්දොස්තර නළාව පිම්බා. රියදුරා සුක්කානම කැරකැවුවා. කොල්ලෙක් ට්‍රෑම් රිය දෙකත් පුට්ටු කරන දිගු කඩ ඇණයේ එල්ලුණා. ඒක දැකපු පොලිස් කාරයෙක් නළාව පිම්බා. ට්‍රෑම රිය ටිං ටිං ගාලා දුවන්න පටන් ගත්තා.

බයිසිකලයක් පැද ගෙන කෙනෙක් ගියා. බයිසිකල් රෝද පුංචි පීරිසි තරම් ඇති. පත්තර විකුණන කොල්ලෙක් දුව ගෙන ගියා. පත්තර පුංචි දින දර්ශනයක කොළයක් තරම් ඇති.

අයිස් ක්‍රීම් විකුණන කරත්තය පාර දිගේ ගියා. ගෑනු ළමයි දුව ගෙන ඇවිත් අයිස් ක්‍රීම් කාරයට අත වනනවා. අයිස් ක්‍රීම් කාරයා අත වනලා මෙහෙම කිව්වා :

"ඔය ළමයි, ඔක්කොම අයිස් ක්‍රීම් කෑවා. හෙට එන්න."

ඉතින් ඉන් පසු රූකඩ නැටුම් පෙන්වීම අවසන් වුණා. තිරය වැහුවා.

කාර්ලො, මල්වීනා, පියෙරෝ කොතරම් සතුට වුණාද! ඒ ගොල්ලන් විඳපු ඒ සතුට අමතක වෙන්ටත් ඉස්සෙල්ල බුරතීනො අත් දෙක සාක්කු දෙකේ දමා ගෙන, නහය උඩට හරවා ගෙන ආඩම්බර ලෙස කතා කළා:

"ඔන්න දැක්ක නේද? මම තෝර්තීල ඉබ්බගෙ මඩ වගුරෙ ලැගල හිටියෙ නිකමට නොවෙයි නේද... අපි මේ රූකඩ නැටුම් හලේ අලුත් නැටුමක් වේදිකා ගත කරමු. මොකක්ද දන්නවද? "රත්තරන් යතුර හෙවත් බුර්තීනො සහ ඔහුගේ මිතුරන්ගේ අපූරු හපන්කම්" නැමැති කතාව. කරබස් බරබාස් ඉරිසියාවේ පිපිරිලා යාවි."

පියෙරෝ එයාගෙ නළල අතින් පිස දමා ගත්තා:

"මම විහිළු කතාව ඉතා හොඳ කවිවලින් ලියන්නම්."

"මම අයිස් ක්‍රීම් සහ රූකඩ නැටුම්වලට ටිකට් විකුණන්නම්." මල්වීනා කිව්වා."ඔය ගොල්ල හිතනවා නම් මට රඟ පෑමට උපන්ගෙයි දක්ෂතාවයක් තියනවයි කියල, එහෙනම් මම හොඳ ගැහැණු ළමයින්ගේ චරිත රඟ පාන්නම්.."

"ඒවා හරි. නමුත් ඉගෙන ගන්නේ කවදාද?" කාර්ලො ප්‍රශ්න කළා.

තුන් දෙනාම එකවර පිළිතුරු දුන්නා:

"උදේට ඉගෙන ගන්නවා. හවසට රූකඩ නැටුම්වල රඟ පානවා."

"අන්න හරි ළමයිනේ. මම රූකඩ නැටුම් බලන්න එන අයට සංගීත පෙට්ටිය කරකවලා සංගීතය වාදනය කරන්නම්. අපේ රූකඩ නැටුම් ඉතාලියේ නගරයක් නගරයක් ගානේ පෙන්වන විට, මම අශ්ව කරත්තේ එළවන්නම්. එළුමසුයි සුදු ළූනුයි සමග ව්‍යංජනය හදන්නම්..." කියලා කාර්ලො කිව්වා.

අර්තෙමොන් කන් දෙක හොළවලා, හිස වනලා, දිලිසෙන ඇස්වලින් යාළුවන් දිහා බලලා එයා මොනවා කරන්නද කියල ඇසුවා.

බුරතීනො මෙහෙම පිළිතුරු දුන්නා :

"අර්තෙමොන් අපේ රූකඩ නැටුම් හලේ වේදිකා සැරසිලි, නළුවන්ගේ ඇඳුම් සියල්ල බාරව ඉන්න. අපි එයාට ගබඩා කාමරේ යතුර බාර දෙමු. එයාට තිරේ පිටුපස ඉඳලා සිංහයා වගේ නාද කරන්න පුළුවනි. රයිනෝසිරස් වගේ අඩි පොළොවේ හප්පන්න පුළුවනි. කිඹුලා වගේ දත් මිටි කන ශබ්දය ඇති කරන්න හැකියි. වලිගය වනලා හුළං හඬ ඇති කළ හැකියි. තවත් ඒ වගේ හඬ ඇති කළ හැකියි."

"ඉතින් , බුරතීනො, ඔයා රූකඩ නැටුම් හලේ කරන්න කැමති මොනවද?"

"ඔයාලා හරි පුදුම ඒ ගොල්ලො. මම බුරතීනොගෙ කොටස රඟපානවා. මම මුළු ලෝකෙටම ප්‍රසිද්ධ වෙනවා!" කියල බුරතීනො කිව්වා.

## අලුත් රූකඩ නැටුම් හල නව නැටුමක් පෙන්වයි

කරබස් බරබස් එයාගෙ ගෙදර ලිප ළඟට වෙලා ගිනි තපින්නට වුණා. දර අමු නිසා හරියට උණුසුමක් ලැබුණෙත් නැහැ. වැස්ස වහින්න පටන් අරගෙන. කරබස් බරබස්ගෙ රූකඩ නැටුම් හලේ පියස්ස හිල් වෙලා වතුර නැටුම් හල ඇතුලට කාන්දු වෙනවා. බෝනික්කන්ගේ අත් පා සීතල වෙලා. ඒ ගොල්ල නැටුම් පුරුදු වීමට ආවේ නැහැ. ලනු පොටවල් හතක් ගොතලා තියෙන කරබස්ගෙ කසයට පවා ඒ ගොල්ල බය වුණේ නැහැ. දැනට දවස් තුනක් තිස්සේ රූකඩ සහ බෝනික්කෝ කිසිම දෙයක් කාලා නැහැ. බිත්තිවල එල්ලිලා ඒ ගොල්ලො මොනවාදෝ රහසින් කසුකුසු ගාලා කියන්න පටන් ගත්තා.

කරබස් බරබස්ගෙ රූකඩ නැටුම් බලන්න එක්කෙනෙක් වත් ටිකට් අරගෙන නැහැ. එයාගෙ රූකඩ බඩගින්නේ. ඒ ගොල්ලන්ගෙ ඇඳුම් ඉරිලා : ඉතින් එයාගෙ රූකඩ නැටුම් බලන්නට ටිකට් ගන්න එන්නේ කවුද?

නගරයේ ඔරලෝසු කණුවේ වේලාව හයයි. හය වරක් ටාං ටාං කියලා ශබ්දය පැතිර ගියා. කරබස් බරබස් මූසල මුහුණකුත් ඇතිව නැටුම් හලට ආවා. එතැන පාලුයි. එක් කෙනෙක්වත් නැහැ.

කරබස් බරබස් එළියට ඇවිල්ලා පුදුමයට පත් වී කට ඇරලා ගල් ගැසුණා. එයාගෙ කට ඇතුළට කාක්කෙකුට වුණත් රිංගන්න පුළුවනි. ඒක මිනිස් කටක් නොවෙයි, කිඹුල් කටක්.

කරබස් බරබස්ගෙ නැටුම් හල ඉදිරිපිට අලුත් නැටුම් හලක්. එතැන මිනිස්සු රැස්වෙලා. ඒ ගොල්ල වැස්සයි, වැසි සුළං ආදියයි ගණන් ගත්තේ නැහැ.

නැටුම් හලට උඩ කණුවට නැග ගත්තු දිගට දිගේ උලට උලේ නහයක් ඇති කොල්ලෙක් නළාවක් පිඹිනවා. බැරැඩි හඬින් මොනවදෝ කෑ ගහලා කියනවා.

රැස්වෙලා හිටිය සෙනඟ, අත් පුඩි ගහලා සතුටු වුණා. බොහෝ දෙනෙක් ටිකට් අරගෙන ඇතුළු වුණා නාට්‍ය ශාලාවට.

බරබස් බරබස් ළඟට ආපු දුරෙමාර් මෙහෙම කිව්වා :

"අනේ, අනේ, මට ඔය කූඩැල්ලන් විකුණලා ජීවත් වෙන්න බැහැ. මම මේ අලුත් රූකඩ නැටුම් කණ්ඩායමට එකතු වෙනවා. හවසට පහන් දල්වන්න, බිම අතු ගාන්න, අන්න ඒ වගේ රස්සාවක් ඉල්ලා ගන්නවා." එයාගෙ මුහුණු බොහොම රැළි වැටිලා. බොහොම හැකිළිලා. එයා ළඟ පෙඳ පාසි ගඳ ඉස්සරටත් වැඩියි.

"ඔය කාලකණ්ණි නාට්‍ය ශාලාව කාගෙද? කොහේ ඉඳලද ඕක ඔතනට පාත් වුණේ?" කරබස් බරබස් ගොරවලා ඇහුවා.

"රූකඩ බෝනික්කෝ තමයි ඒක විවෘත කළේ. ඒ ගොල්ල "හෙණ පහර" කියන නම ඒ නැටුම් හලට දමා තියෙනවා. බෝනික්කෝම නාට්‍යය ලියලා, ඒ ගොල්ලම රඟ පානවා."

කරබස් බරබස් දත් කුරු කෑවා, යටි රැවුලේ රැවුළු ගස් ඇද ගත්තා, අලුත් නැටුම් හල ළඟට ගියා.

නැටුම් හලට ඇතුළු වන තැන කුළුණක් උඩ පොඩි වේදිකාවට නැග ගත් බුරතීනො කෑ ගහලා මෙහෙම කියනවා:

"ලී බෝනික්කන්ගේ ජීවිතයේ තොරතුරු ඇතුළත් අපූරු, ඉතා හොඳ, ඉතා ලස්සන රූකඩ නැටුමක්. අපේ දක්ෂතාවය, නිර්භයත්වය, ආත්ම විශ්වාසය නිසා අප ජය ලැබූ ගැන කියන..."

නැටුම් හලේ දොරකඩ වීදුරුවලින් හදාපු පුංචි කුටියක් ඇතුළෙ වාඩි වෙලා හිටිය මල්වීනා බෝනික්කන්ගේ නැටුම බලන්න කැමැති මිනිසුන්ට ටිකට් විකුණනවා. එයාගෙ කොණ්ඩෙ නිල් පාටයි, එයාගේ අතක රතු පාට රෙදි පටියක් බැඳලා.

කාර්ලො වෙල්වට් රෙදි වලින් මහපු කබායක් ඇඳ ගෙන ෂර්මාන් නැමැති සංගීත පෙට්ටිය වාදනය කර, කර නැටුම් බලන්න ආපු අයව සතුටු කළා.

ටිකට් ගන්නේ නැතුව හොරෙන් නැටුම් හලට ඇතුළු වෙන්න ආපු අලීසා කපටි හිවලියගෙ වලිගෙන් අල්ලා ගත් අර්තෙමොන් එයාව එළියට ඇදල දැම්මා.

බැසීලියො බළල් තඩියත් ටිකට් නැතුව ඇතුළු වෙන්න හදල, ඉක්මණට එළියට පැනල ගියා. එයා ගහකට නැගලා වැස්සට තෙමි, තෙමී, හිටියා. එයාගෙ ඇස් දෙක කෝපයෙන් පිරිලා.

බුරතීනො හුස්ම අරගෙන කම්මුල් මහත් කරගෙන නළාව පිම්බා.

"අපේ රූකඩ නැටුම් වැඩ පිළිවෙළ පටන් ගනිමු" කියල එයා කිව්වා.

ඔහෙම කියලා එයා ඉක්මණට වේදිකාවට නැංගා. කාර්ලො තාත්තා එයාව ලී කොටයකින් හදාපු හැටි නාට්‍ය විලාසයෙන් පෙන්වා රඟ පෑමටයි එයා වේදිකාවට නැංගේ. එතකොට කාර්ලො දනගෙන හිටියේ නැහැ. බුරතීනො එයාට වාසනාව ගෙනැවිත් දෙයි කියලා.

රූකඩ නැටුම බලන්න බොහොම පමා වෙලා ආවෙ තොර්තීල ඉබ්බා. එයාට දීපු ටිකට් එක එයා කටින් ගේනවා. ඒ ටිකට් පතේ මුළු හතර රත්තරන් පාටයි.

රූකඩ නැටුම්, ගැයුම් වැයුම්, රඟපෑම් සංදර්ශනය පටන් ගත්තා. කරබස් බරබස් එයාගෙ නැටුම් හලට ආවා. ඒක පාළුයි. එයා කසය අතට අරගෙන ගබඩා කාමරයට ගිහිල්ලා දොර ඇරලා බණින්න පටන් ගත්තා :

" මම තොපට යස පාඩමක් උගන්වන්නම්, නීච රූකඩයිනි!" එයා ගොරවන්න වුණා. "මගේ නැටුම් බලන්න මිනිසුන්ව ගෙන්වා ගන්න හැටි මම තොපට උගන්වන්නම්!"

එයා කසය කරකවලා හඬ නැගුවා. නමුත් කිසිම කෙනෙක් උත්තර දුන්නේ නැහැ. ගබඩා කාමරයේ කිසිම කෙනෙක් නැහැ. බිත්තිවල ඉතිරි වෙලා තිබුණේ බෝනික්කන් එල්ලන ලනු පොටවල් විතරයි.

අර්ලෙකීනොයි, කළු පාට වෙස් මූණු ඇඳගත්තු ගෑනු ළමයිනුයි, තරු සහිත උල් තොප්පි හිස ලා ගෙන සිටි විජ්ජා කාරයොයි, කැකිරි ගෙඩි තරම් ලොකු නහය ඇති විහිළු කාරයොයි, බලු පැටවුනුයි, ඔක්කෝමල්ලා පැනලා ගිහිල්ලා. කරබස් බරබස්ට හොරෙන් පැනලා ගිහිල්ලා.

එයා බොහොම කෝප වෙලා කෑ ගහලා මහ පාරට ගියා. අන්න එවිට එයාට පෙනුණා එයාගෙ බෝනික්කන් කට්ටියෙන් අන්තිම බෝනික්කා වතුර වලට උඩින් පැනලා බුරතීනොලාගේ අලුත් නැටුම් හලට දුව ගෙන යන සැටි. එතැන ලස්සන සංගීත වාදනයක්. මිනිස්සු හිනා වෙවී සතුටු වෙවී ඉන්නවා. අත් පුඩි ගසනවා, හිනා වෙනවා.

කරබස් බරබස් දුවල ගිහිල්ලා කඩදාසි වලින් හදාපු බලු පැටියකුව අල්ලා ගත්තා. එයාගෙ ඇස් දෙකට අල්ලලා තිබුණෙ බොත්තම් දෙකක්. ඔන්න එවිට එක පාරටම අර්තෙමොන් බුරලා කඩා පැන්නා. බලු පැටියාව කරබස් බරබස්ගෙන් උදුර ගත්තා අර්තෙමොන් එයාවත් අරගෙන ඒ ගොල්ලන්ගෙ අලුත් නැටුම් හලට දුවලා ගියා. බඩගින්න ඉවසා ගන්න බැරිව කරබස් බරබස්ගෙ ගබඩා කාමරේ ඉඳල පැනල ආපු නළුවන්ට අලුත් නැටුම් හලේ කුස්සියේ රසට රස එළුමස් ව්‍යංජනය උයනවා. ඒකට හොඳට සුදු ළූනු තුන පහ එහෙම දාලා බොහොම සුවඳයි.

කරබස් බරබස් වැස්සට තෙමි, තෙමී දිය කඩිත්තට වෙලා හිටියා.

බුරතීනො ලී බෝනික්කාගේ කතාව එතැනින් ඉවරයි.





# රත්රන් යතුර
හෙවත්
# බුරතීනොගේ හපන්කම්


ISBN 978-955-1319-64-9



LKR 850/-

9 "789551"319649"



සී/ස ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්.) සමාගම
91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

